සැඟවුණු බොදු මග යළි පුබුදන

# හෙළ බොදු පියුම

ශ්‍රී බු. ව. 2562 ක් වූ වෙසක් මස (ව්‍යවහාරික වර්ෂ 2018 මැයි)

80 වෙනි කලාපය

## සෝතාපන්න වීමට සතර ස්ථාන දැකිය යුතුමද?



සැඟව ගිය බොදු මග යළි රැගෙන සෑම පුන් පොහෝ දිනකම එළිදකින දහම් සංග්‍රහය

රු. 25/-

# සසර දිනමු...

පව් සිතිවිලි දුරැර නිරතුරු සිතට  එන
සිව් බඹ විහරණාදී ගුණ දහම  දැන
ගව් තම සසුනෙදිම භව දුක නිවන  මෙන
සව් සත පමා නොව නොපැකිළ වඩනු  පින

ඇස කන නහය දිව සහ කය පින  වන්ට
වෙහෙසෙන නිරතුරුව මනු ලොව පුහු  දුන්ට
කිසි දින හැකි වෙයිද භව දුක ජය  ගන්ට
විදසුන වඩනු තිලකුණු දැක සැන  සෙන්ට

තණ්හාවයි ගැටීමයි භව දුකට  මුල
සුන් කර දැමිය යුතු නොම විඳ අනිටු  ඵල
ළං වනු යෙහෙකි දහමට මෙය සුදුසු  කල
පින් රැස් කරමු හැර මනසෙහි අවිදු  මල

හුදු කම් සැපත ගැන සිත ගත වසඟ  වෙලා
පුදු මයි බොදු පිරිස වුව අද වියරු  වෙලා
බුදු හිමි දෙසුව ගුණ දහමට එරෙහි  වෙලා
රුදු භව ගමන නිම කෙරුමට නොහැකි  වෙලා

ඝොරතර සසර බිහිසුණු බව දැකිය  යුතු
බහුතර පිරිස නොදනිති එහි නියම  තතු
පරතෙර දකින ලෙස සසරෙහි දිනක  මතු
මොහඳුර බිඳැර දහමට විය යුතුය  නතු

සම් බුදු හිමි දෙසුව මනහර දහම  දැන
නිම් නැති ඝොර සසර දිනුමට යොමනු  මන
කම් ඵල දැන හැඳින බිඳ හැර මරුගෙ  අණ
කෙම් බිම සොයා යමු සැපතක් කොහිද  වෙන

පබැඳුම - කාව්‍ය ශිරෝමණී පානදුරේ එස්. ඒ. එස්. පෙරේරා





# නිවන් දැකීමට ප්‍රධාන මාර්ගය පින්ද, කුසල්ද?

පින් කුසල් ගැන මේ කාලයේ විවිධ මතිමතාන්තර තියෙනවා. කෙනෙක් කියනවා පින්, කුසල් කියන්නෙ දෙකම එකයි කියල. තවත් අය දෙකක් විදිහටත් අර්ථ දක්වනවා. පින් සසර සැපයට හේතු වෙන බවත්, කුසල් නිවනට හේතු වෙන බවත් පවසනවා. ඒ නිසා අද බොහෝ අය මේකට වාද කරන්නත් පටන් අරගෙන තියෙනවා. මේ ගැන මීට පෙරත් මේ සඟරාවෙන් කරුණු පැහැදිලි කරල තියෙනවා. ඊට අමතරව කෙරෙන තවත් කෙටි පැහැදිලි කිරීමක් තමයි මේ.

පළමුවෙන්ම භාෂාවක් සහ ඒ භාෂාවෙ යොදා ගන්න වචන පිළිබඳව කියන්න දෙයක් තියෙනවා. භාෂාවක් සහ වචන කියන්නෙ අපි අදහස් හුවමාරු කරගන්න යොදාගන්න මාධ්‍යයක්. වචනයක් තනියෙන් ගත්තම අපිට ඒකට බොහෝ තේරුම් දෙන්න පුළුවන්. හැබැයි ඒ අදාළ තේරුම, වචනය භාවිතා වෙන තැන අනුව යොදා ගන්න ඕන. එහෙම නැතිව, මේ වචනයට තියෙන්නෙ මේ තේරුම විතරයි කියල අපිට කියන්න බෑ. භාවිතා වෙන තැන අනුව අදහස වටහා ගන්න ඕන. අදහස තේරුම් ගන්න එක තමයි වැදගත්. උදාහරණයක් විදිහට අපි කියනවා කෙනෙකුට දහම් ඇස පහල වුනා කියල. දැන් මෙතන ඇස කිව්වෙ අපි රූප බලන්න යොදා ගන්න ඇස නෙවෙයි. කෙනෙකුට ධර්මාවබෝධය ලැබුනා කියන අදහසයි එතනින් කියවෙන්නෙ. වෙලාවකට අපි කියනවා කෙනෙකුට ඔළුව නෑ කියල. මෙතනදි කිව්වෙ මේ මස් ලේ කයේ ඔළුව නෑ කියන එක නෙවෙයි. ඒ පුද්ගලයට මොළේ බුද්ධිය අඩු බව තමයි ඒ අදහස් කළේ. ඒ විදිහට වචනයක අදහස ඒක යෙදෙන තැනට ගැලපෙන විදිහට තේරුම් ගන්න ඕන. එහෙම නැතුව මේ වචනයේ තේරුම මේකමයි කියල කියන්න බෑ. බොහෝ කොටම පද පරමයෝ තමයි එහෙම වචනවල එල්ලිලා ඉන්නෙ.

අද යම් කෙනෙක් “අනත්ත” වෙනුවට “අනාත්ම” කියල පාවිච්චි කරන කොට, ඒ පුද්ගලයට ධර්මාවබෝධයක් නෑ කියල අපිට පිටින් බලල තීරණයක් ගන්න බෑ. අපි විමසල බලන්න ඕන ඒකෙන් ඔහු අදහස් කරන්නෙ මොකක්ද කියල. මොකද ආත්ම කියන වචනයට සාරයි කියල තේරුමකුත් තියෙනවා. එතකොට අනාත්මයි කියන කොට අසාරයි කියන අර්ථය ගන්නත් පුළුවන්. එහෙම ගත්තම ධර්මාවබෝධයට ඒ අදහස ගැලපෙනවා. හැබැයි කෙනෙක් අනාත්මයි කියන වචනය, ආත්මයක් නෑ කියල, එහෙම නැත්නම් තමනුත් හරි තේරුමක් දන්නෙ නැතිව නිකං සාම්ප්‍රදායිකව කියන්නත් වාලෙ කියන්න පුළුවන්. ඒ නිසා **වචනවල එල්ලෙන්න නැතුව අදහස අවබෝධ කරගන්න එක තමයි වැදගත්.**

මේ පින්, කුසල් කියන වචන දෙක බුදු පියාණන් වහන්සේ මෙලොව පහල වෙන්නත් පෙර ලෝකයේ භාවිතා වුනා. විවිධාකාර මත අනුව ඒවාට අර්ථ දීල තිබුනා. ලෝක සම්මත වචනයකට දෙන අර්ථය එක ක්‍රමයක්. ආර්ය විනයේ බුදු පියාණන් වහන්සේ වචනවලට දෙන සාසනික අර්ථ තව ක්‍රමයක්. අබුද්ධෝත්පාද කාලවල මේ වචන දෙකට ලෝක සම්මත අර්ථ තිබුනා. බුදු පියාණන් වහන්සේ පහල වුනාට පස්සෙ පින්, කුසල් කියන මේ වචන දෙකත්, ඒවායේ වෙනසත් තෝරල දුන්නා. බුදු පියාණන් වහන්සේ පහල වුනාට පස්සෙ තමයි වචනවල ලෝකෝත්තර අර්ථ මතු කරල දෙන්නෙ. ඒ නිසා වචනයක් තෝරද්දි ලෞකික / ලෝකෝත්තර අර්ථ දෙකම යෙදෙන අවස්ථාව අනුව ගලපල ගන්න ඕන. මොකද වචනවලට නිරුක්ති විවිධාකාරයි. විවිධ නිරුක්ති අනුව විවිධ අදහස් මතු කරන්න පුළුවන්. ඒවා පටලවා ගත්තොත් නිවැරදි අර්ථය මතු කර ගන්න බැරිව යනවා.

“යෝ නිරුක්තිං න ජානාති ජානාති පිටකත්තයං

පදේ පදේ විඛංකෙයිය වනේ අන්ධ ගජෝ විය”

මේ ගාථාවෙන් ඒ බව හොඳින් පැහැදිලි වෙනවා. **යමෙක් නිරුක්ති වටහාගන්න බැරුව මුළු ත්‍රිපිටකයම ඉගෙන ගත්තත්, පදෙන් පදේ සැක හැරල විග්‍රහ කරන්න ගිහින් අන්ධ අලියෙක් කැලේ හැසිරෙනව වගේ තත්ත්වයකට පත්වෙනව කියල තමයි දේශනා කරල තියෙන්නෙ.** අන්ධ අලියා කැලේ යනකොට ඇස් පේන්නෙ නැති නිසා හැම තැනම හැප්පෙනවා. දුවන්න පනින්න බෑ. අනෙක මෙතනදි අලියව උපමාවට ගන්න තවත් හේතුවක් තියෙනවා. ඒ තමයි අලියා කියන්නෙ අලි වැඩ කරන ලොකු ඔළුවෙන් තමන් ඔක්කොම දන්නවා කියල හිතාගෙන ඉන්න අයට. අවබෝධයකින් තොරව ත්‍රිපිටකය ඉගෙන ගන්න අය සමහර විට ඒ තත්ත්වයට පත්වෙනවා. ඉතින් නිරුක්ති දන්නෙ නැතිව යමක් විග්‍රහ කරන්න යාම අන්ධ අලියා කැලේ ඇවිදිනව වගේ වැඩක් වෙනවා.

මේ කුසල කියන වචනය නොයෙක් ආකාරයෙන් තෝරනවා. තුච්ඡ වූ නින්දිත වූ පාප ධර්ම සලා හරින නිසා කුසල කියනව කියල අටුවාවල විග්‍රහ වෙනවා. ඒ එක අර්ථයක්. ඒ වගේම ත්‍රිපිටකයේ කුසලය මේ විදිහට විග්‍රහ වෙනවා. “කෝසානි විචෙයිය කේවලානි දිබ්බං මානුසකංච බ්‍රහ්ම කෝසං සබ්බ කෝස මූල බන්ධනා පමුත්තෝ කුසලෝතාදී පවුජ්ජතෝ තතත්තා.”

**ඒ කියන්නෙ දිව්‍ය කෝස, මනුස්ස කෝස, බ්‍රහ්ම කෝස... ආදී සකලවිධ කර්ම කෝසවල ඉපැත්මට හේතු වෙන මූල බන්ධන වන අවිද්‍යා තෘෂ්ණා පහ කිරීමක් ඇත්ද, ඒ කුසලයයි කියල අර්ථ දැක්වෙනවා.** (සූත්‍ර නිපාතය 159 පිටුව)

මෙතනදි කෝස කිව්වෙ කුස, සත්වයන් පිහිටන තැන්. සියලුම කර්ම වේග නිසා සත්ත්වයන් ඉපදීමට හේතු වෙනව නම්, ඒ ඉපදීමට හේතු වෙන අවිද්‍යා තෘෂ්ණා සලා හැරීමට කුසල් කියල කියනවා. එහෙනම් අවිද්‍යා තෘෂ්ණා පහ කිරීම බුද්ධ සාසනයක් පවතින කාලයක හැර වෙනත් කාලයක තියෙනවද? අබුද්ධෝත්පාද කාලයක ඒ වගේ ක්‍රමයක් අහන්නවත් දකින්නවත් තියෙනවද? එහෙම තියෙනව නම් බුදුවරු ලෝකයට පහල වෙන්න ඕන නෑ. අවිද්‍යා තෘෂ්ණා පහ කිරීම කුසල් කියන අදහස බුද්ධ සාසනයකින් පිට තියෙන්න විදිහක් නෑ. හැබැයි අබුද්ධෝත්පාද කාලවලත් පින් කරන්න පුළුවන්. පිනට නම් කුසල් කියන්නෙ, අබුද්ධෝත්පාද කාලවල කුසල් කරන්නත් පුළුවන්.

කුසල කියන වචනයේ අදහස් දෙකක් තියෙනවා. එකක් ලෞකිකයි. අනෙක ලෝකෝත්තරයි. මේ අදහස් දෙක පටලවා ගත්තම අන්ධ අලියට වෙච්ච දේ තමයි සිද්ධ වෙන්නෙ. ඒ නිසා අන්ධ නොවී මේ දෙකේ වෙනස තෝරගන්න ඕන. ආර්ය විනයේ නිවන් මගට කුසල් කියනවා. ඒකට පින් කියන්නෙ නෑ. ඒ කුසලයෙන් කරන්නෙ අවිද්‍යා තෘෂ්ණා මොහොතක් ගානෙ දුරු කරල සසර ගමන කෙළවර කරන එක. මේ කුසලයට ලෝකෝත්තර ආර්ය අෂ්ටාංගික මාර්ගය කියල කියනවා. මේක අබුද්ධෝත්පාද කාලවල නෑ. දැන් පින්වලටත් කුසල් කියන තැන් තියෙනවා. ඒක අබුද්ධෝත්පාද කාලවල තියෙනවා. ආර්ය අෂ්ටාංගික මාර්ගය දෙයාකාරයි. එකක් ලෞකිකයි, කෙලෙස් සහිතයි, සසර ගමනට සුගතියට හේතු වෙනවා. අනෙක ලෝකෝත්තරයි, ආර්යයි, ආස්‍රව රහිතයි, නිවනට හේතු වෙනවා. ඒක තියෙන්නෙ බුද්ධ සාසනයක විතරයි. ලෞකික කුසල මාර්ගයට පින් කියල කියනවා. පිනයි කුසලයයි කියන දෙකේ වෙනස තෝරගන්න ඕන ඔය විදිහට. එහෙම නැතිව මේක ත්‍රිපිටකයේ එන සූත්‍රයක් දෙකක් බලල නිගමනය කරන්න බෑ.

පින් වැඩීමෙන් තිරිසන්, මනුස්ස, දේව, බ්‍රහ්ම... ආදී වශයෙන් සුගති දුගති ලෝකවල ලෞකික සම්පත් ලැබෙනවා. තිරිසන් සතෙකුට වුනත් පෙර වඩපු පින් තියේ නම් මේ අත්බවයේ කන්න බොන්න, රැකවරණය... ආදී පහසුකම් අඩුනියක් නැතිව ලැබෙන්න හේතු වෙනවා. සුගති ලෝකවලදී ලෝකෝත්තර කුසල් වැඩීමෙන් අරි අටඟි මග වැඩිල නිවන් දකිනවා. ලෝකෝත්තර කුසල් මග කියන්නෙ අත්හරින, නොඇලෙන, මිදෙන මගක්. ඒකෙ විපාකය සසර ලෞකික සම්පත් ලැබීම නෙවෙයි.

**පුණ්‍ය විපාකවල තියෙන්නෙ ලෞකික සම්පත්. ඒවා ආයුස, වර්ණය, සැපය, බලය ලබන්න හේතු වෙනවා. ඒ වගේම ප්‍රධානත්වය, නම්බු නාම, ජනප්‍රිය බව, බලවත් බව, ධනවත් බව, කුලවත් බව, විපුල බව, වසඟ බව, රජ බව, ඇමති බව, සිටු බව... ආදී තත්ත්වයන් ලැබෙනවා. සංඝයා අතර වුනත් සංඝ රාජ ආදී තත්ත්වයන්, අග සව්, මහ සව්... ආදී තත්ත්වයන් ලැබෙනවා.**

පෙර සසරෙදි අට පිරිකර දන් දුන්න අය බුදු රජාණන් වහන්සේගෙන් ඒහි භික්ෂුභාවයත් ලබනවා. ඒ පින නොකළ කෙනෙකුට එහෙම ලබන්න හිමිකමක් නෑ. ඒ නිසා මේ ගැන වැරදි විදිහට කල්පනා නොකළ යුතුයි. ලෞකික වශයෙන් සම්පත් ලැබුනයි කියල කුසල් වඩන්න බාධා වෙන්නෙ නෑ. සම්පත් ලැබීම කුසල් වර්ධනයට වගේම පාපයන් පහල කරගන්නත් යොදා ගන්න පුළුවන්. ඒක සිද්ධ වෙන්නෙ ඒ සම්පත් පරිහරණය කරන ආකාරය අනුව.

එදිනෙදා වේල හොයාගෙන ජීවත් වෙන්න සිද්ධ වෙච්ච කෙනෙකුට, බණක් අහන්න සුදුසු ශ්‍රාවකයන් වහන්සේ නමක් හොයාගෙන යන්න දින කිහිපයක් ගත කිරීම අපහසු වෙන්න පුළුවන්, බැරිවෙන්න පුළුවන්. මොකද ඊළඟ දවසට අත්‍යවශ්‍ය කටයුතු සඳහා මුදල් හදල් නැති නිසා. නමුත් සම්පත් තියෙන අයට කැමති නම් දින, සති, මාස ගණන් වුනත් ඒ සඳහා ගත කරන්න මග සලසා ගන්න පුළුවන්. ඒකත් කරන්න පුළුවන් වෙන්නෙ, බුද්ධ සාසනයේ පින්වල වාසනාව පැදිලා සම්පත්වලට හිමිකම් ලැබිච්ච අයට විතරයි. ඒ අයට පෙර සසර පුරුද්ද නිසා ඒ පුණ්‍ය සම්පත්තිය හේතු කරගෙන අලෝභ, අද්වේශ, අමෝහ කටයුතුවලට හිත නැඹුරු වීමෙන්, ලැබුන සම්පත්තියෙන් සෑහීමකට පත්වෙන්න පුළුවන්කම ලැබෙනවා.

**අන්‍ය වූ ලෞකික පිනකින් සම්පත් ලබනකොට සාසනික පින වගේ පිරිසිදු බවක් ලැබෙන්නෙ නෑ. ඒ නිසා අසීමිත සම්පත් උපයන සිත් ඇතිවීම නිසා, තවත් සිය ගණනක් හෝ ආදායම් මාර්ග සකස් කරගන්නා වැඩපිළිවෙලවල් හොයනවා. ඒ සඳහා පරීක්ෂණ කරනවා. විවිධාකාරයේ දේවල් ඉගෙන ගන්නවා. ඒවාට කල්ගත කරමින්, තණ්හාව වර්ධනය කරමින් අසීමිත සම්පත් පස්සෙ යනවා. එබඳු අයට ලැබෙන සම්පත් අධ්‍යාත්මික ගුණ පිරිහෙන්න හේතු වෙන්න පුළුවන්.**

සමහරු මෙහෙම කියනවා. "අපි නම් සංසාර ගමනට හේතු වෙන පින් පස්සෙ යන්නෙ නෑ. පින් කරන්නෙ සම්පත් පස්සෙ යන අය. නිවනම බලාපොරොත්තුවෙන් අපි භාවනා කරනවා. විදර්ශනා කරනවා." ඒ වුනාට ප්‍රඥාව ලබන්න උපනිශ්‍ර සම්පත් විදිහට ආයුස, වර්ණය, සැපය, බලය අවශ්‍ය බව තේරුම් ගන්නෙ නෑ. අත්ථි සුඛ (තමන්ට තියෙන දෙයින් සෑහීමකට පත්වීම නිසා ඇතිවෙන සුවය), භෝග සුඛ (ගිහියන්ට නම් භව භෝග සම්පත්, භික්ෂූන්ට නම් පරිභෝග කරන සිවුපසය... ආදිය නිසා ලැබෙන සුවය), අනන සුඛ (ණය නැති බව නිසා ඇතිවෙන සැනසීම), අනවද්‍ය සුඛ (තමන් අතින් වරදක් සිද්ධ වෙන්නෙ නෑ කියල ඒ තුලින් ලබන සැනසීම) කියල සැප 4 ක් ගිහියෙකුට වගේම පැවිද්දෙකුටත් තිබීම යහපත් බව බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙනවා.

හැබැයි ගිහියන්ගේ ඇති බව වෙනයි, පැවිදි උතුමන්ගේ ඇති බව වෙනයි. ගිහි අය සම්පත් තමන් යටතේ පාලනය කරමින් සුදුසු විදිහට පරිහරණය කරමින් කටයුතු කරනවා. නමුත් ඒ සම්පත් ඇත්තටම ඔවුන්ට සම්පතක් වෙන්නෙ, ඒවායින් ලැබෙන පහසුකම්වලින් කුසල් මගට ආධාර කරගත්තොත් විතරයි. නැත්නම් ඒ පුණ්‍ය සම්පත්තිය නිකං පරිහරණය කරල ගෙවිල යනවා. වැරදියට යොදා ගත්තොත් විනාසයටත් හේතු වෙනවා. දේවදත්තයන්ට ලැබුන සම්පත් ඔහුටම විනාසයට හේතු වුනා. සෘද්ධි බලයත් ඔහුටම විනාසය ගෙන දුන්නා. නමුත් සීවලී මහ රහතන් වහන්සේගෙ සම්පත් ලැබීම ආර්ය උතුමන්ගේම යහපතට හේතු වුනා. ඒ වගේම දාන දෙන පින්වතුන්ටත් අභිවෘද්ධියක්ම වුනා. සුප්ප බුද්ධ රජතුමා රාජ්‍ය බලය පාවිච්චි කරල, පිඩුසිඟා වඩින බුදු රජාණන් වහන්සේට මාර්ගය ඇහිරුවා. ඒකෙන් අවීචි මහා නරකාදියේ ඉපදෙන්න පාපයක් සිද්ධ කරගත්තා. ඒ රජ සම්පත ඔහුට වැනසීමට හේතු වුනා. නමුත් අනේපිඬු සිටුතුමාගෙ සම්පත් සාසන අභිවෘද්ධියටම හේතු වුනා. එතුමාගෙත් අභිවෘද්ධියටම හේතු වුනා.

# නිවන් මගේ පැටළුණු තැන්

04 කොටස

නිවන් දැකීම කියන්නෙ මොකක්ද? දකින දේවල් සහ දකින ආකාර කිහිපයක් තියෙනවා. මිනිස්, තිරිසන්... ආදී සත්ත්වයන් පියවි මස් ලේ ඇහැ මුල් කරගෙන සූර්යාලෝකය, චන්ද්‍රාලෝකය, ප්‍රදීපාලෝකය වගේ ආලෝකයෙන් දැකීම එකක්. ඒ එක ඇස් කොටසක්. සිහින දැකීම, මානසික නිර්මාණ වගේ දේවල් මනසින් දකිනවා. ඒ තවත් ආකාරයක දැකීමක්. සියුම් රූප කලාපවලින් හැදිච්ච යක්ෂ, ප්‍රේත... ආදීන්, දෙව් ලොව, බඹ ලොව, පෙර විසූ කඳ පිළිවෙල, චුතුපපාත වගේ දේවල් දිවැසින් දකිනවා. මේ තවත් ආකාරයක දැකීමක්.

මේ හේතුවෙන් අනුරූපව මේ ඵලය වෙනවා, මේ හේතු නිරෝධ වුනාම මේ ඵලය නිරෝධ වෙනවා... යනාදී වශයෙන් දහම් වටහා ගැනීමත්, චතුරාර්ය සත්‍යය පිළිබඳව අනුබෝධයත් නුවණැසින් දකිනවා. අනිච්ච බව, දුක්ඛ බව, අනත්ත බව කියන යථා ධර්මයත්, චතුරාර්ය සත්‍ය ධර්මයත් නුවණින් දකිනකොට, මෙනෙහි කරනකොට, ඇති තතු ඇති ආකාරයට සිද්ධ වෙන හැටි අත්දකිමින් ප්‍රත්‍යක්ෂයට පත් කරන දැකීම ප්‍රඥා ඇසින් දැකීම වෙනවා.

සියලුම ලෞකික වූ පහල කිරීම් නිසා හට ගන්නා ජාතියක් ඇත්ද, ඒ සියලු ජාති මොහොතින් මොහොත ගෙවී ගෙවී ගිහින් දුර්වල වෙලා විනාසයට පත් වීම සත්‍යාකාරව දකිමින් මෙනෙහි කරනකොට, ඒ ලෝක ස්වභාවයේ වහලෙක් විදිහටම ගොදුරක්

---

මේ විදිහට ඉහත කී ඇති බව, භව භෝග සැපත, ණය නැති බව, වරදක් නැති බව කියන කාරණා අනුව, මනා සිවුපස පරිභෝගය පැවිදි උතුමන්ට සම්පතක් වෙනවා. ලෝකෝත්තර කුසල් මග වැඩීම නිවන් අවබෝධයට හේතු වෙනවා. ගිහි උතුමන්ට ලැබෙන ඒ සම්පත් ධාර්මික කටයුතුවලට යොදාගෙන ලෝකයේ අභිවෘද්ධියත්, තමන්ගෙ අභිවෘද්ධියත් සලස ගන්නවා. එහෙම වුනාම තමයි ඒවා දෙපිරිසටම සම්පත් වෙන්නෙ. නැණවත් උතුමන්ට මේ සම්පත් ලැබීම මේ විදිහට යහපතක්ම ගෙන දෙනවා.

ජීවිතයක හැම කාලයේමත්, පැවිදි වෙලත්, නිවන් ප්‍රත්‍යක්ෂ කරල ජීවිතාන්තය දක්වාත්, පින් යහපත්ම බවත්, පින් කළ යුතුම බවත් බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙනවා. (අං. නි. 3 - සුමනා සූත්‍රය - 51 පිටුව)

**සුමනා :** "වහන්ස අසිරියි. වහන්ස අද්භූතයි. වහන්ස, දෙව් වූවනටත්, මිනිස් වූවනටත්, යම් මේ පින් උපකාර වේද දන් දීම කළ යුතුමය. පින් කිරීම ඉතා යුතුමය."

**බුදුන් වහන්සේ :** "සුමනාවෙනි, තෙල එසේමයි. සුමනාවෙනි, දන් දිය යුතුමය, පින් කළ යුතුමය, දෙවිවූන්ටත්, මිනිස් වූවන්ටත්, පැවිදි වූවන්ටත් පින් උපකාර වේ මැයි."

එහෙනම් පින් සහ කුසල් අතර වෙනස මොකක්ද? පිනෙන් කෙරෙන්නෙ සත්ත්වයා නිවනින් කෙළවර වෙනකල්ම පැවැත්මේ කටයුතුවලට උපකාරී වීම. ලෝකෝත්තර කුසලයෙන් කෙරෙන්නෙ භවය සංසිඳවීම, සසර පැවැත්ම නවත්වන්න කටයුතු කිරීම. ඒ නිසා අරි අටඟි මග කියන්නෙ කුසල්. පංච නීවරණ කියන්නෙ අකුසල්. ඒ වගේම අරි අටඟි මග සුගති මාර්ගයක් වෙනවා. ඒක ලෞකික කුසල මාර්ගය.

"යම් සිතක පංච නීවරණ සංසිඳේද, අකුසල් රැස සිඳේ. එවිට කුසලය හෙවත් අරි අටඟි මග වැඩේ." (අං. නි. 3 - 103 පිටුව - අකුසල රාශී සූත්‍රය)

ලෝකෝත්තර කුසලය වැඩුවම, පූර්ණ වුනාම ලැබෙන්නෙ රහත් ඵලය. නමුත් ඒ ජීවිතය කෙළවර කරල පිරිනිවන් පාන මොහොත වෙනකල්ම පැවැත්මට පින් උපකාරී වෙනවා. පිනෙන් ලැබුන සම්පත් කොච්චර ගොඩ ගැහුවත්, මාර්ගඵල ලාභී සිතකට ඒක බාධාවක් වෙන්නෙ නෑ. මොකද ආෂ්ටිගතව කරන ඇලීම් බැඳීම් නැති නිසා. ලැබීම වෙනම කාරණයක්. ඇලීම බැඳීම වෙනම කාරණයක්.

මහ රජවරු, සිටුවරු කිසිම ඇලීමක් නොකර කෝටි ප්‍රකෝටි ගණන් වස්තු අත්හැරල දාල, කාම සම්පත් ගලාගෙන එන්දි ඒ සියල්ලමත් අත්හැරල දාල පැවිදි බිමටත් බහිනවා. ඉන්පසුවත් කොච්චර සිවුපසය ලැබුනත් ඇලීමක් නැතිව සුදුසු විදිහට පරිහරණය කරනවා. බුද්ධ කාලයෙත් ඒ වගේ අය ඕන තරම් ඉඳල තියෙනවා. අදත් ඉන්නවා.

නමුත් ඉතා සුළු බිම් ප්‍රමාණයක්, සම්පත් ප්‍රමාණයක් තියෙන මිනිස්සු අතර, සමහරෙක් ඇලීම බැඳීම අත්හැරගන්න බැරිව මැරිල ගිහින් ගෙවලයෙක්, පෙරේතයෙක් වෙනවා. ලැබීම කිසිම වෙලාවක යහ මගට බාධාවක් නැති බවත්, හිතේ ඇතිකරගන්නා මුළා සහගත කහට ගතිය නිසා ඇලීම බැඳීම ඇති කරගෙන වැනසෙන බවත් මේකෙන් පැහැදිලි වෙනවා. ඒ නිසා පින් කරන්න අධෛර්යමත් නොවිය යුතුයි.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැඟවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**චතුර හිඳුරංගලගේ**
**නුගේගොඩ**
**0777302407**

විදිහටම පහල වෙලා, වහල් බවටම ගොදුරු බවටම පත්වෙලා වැනසිලා යනකල්ම ලෝක ස්වභාව වශයෙන් සියලු ජාති ගොදුරු වෙන බවත් වැටහීමෙන් දකිනවා. ඒවා එහෙම වෙන්න ඉඩ නොදී රැකගන්න, ඒ ඒ ජාති ඇසුරේ තියෙන ආධාරක හෝ බාහිර බලවේග හෝ කිසිසේත් සමත් නොවෙන බවත් නිතර නුවණින් කරුණු සහිතව විමසනකොට, සියලු ජාතිවල තියෙන අනාත බාවයත්, විනාසය වළක්වන්න බැරි බවත්, මොහොතක්වත් එකාකාරව නොපවතින බවත් දකිනවා. එහෙම එකාකාරව පවතිනව නම්, ලෝකයේ කිසිම ජාතියක විද්‍යමාන වීමක් සිද්ධ නොවන බවත් නුවණින් මෙනෙහි කරනකොට දකිමින් ජාතිවල නිසරු බව වැටහෙනවා, අනාත බව වැටහෙනවා. එතකොට ජාති පිළිබඳ ඇලීම්, බැඳීම් අත්හැරෙනවා. අත්හැරුනම ඇලෙන්නෙ නැති වෙනවා, බැඳෙන්නෙ නැතිවෙනවා. එතකොට නොඇල්මේ, නොබැඳීමේ පිහිටනවා, මිදීම වෙනවා. එතකොට මිදුන බව දැනගන්නවා. මෙන්න මේ ලෝකෝත්තර තත්ත්වය ප්‍රඥාවට වැටහෙනවා.

ආර්ය නොවන අයට මසැස (මස් ලේ ඇස), මනැස, දිවැස පිහිටනවා. ආර්යන්ටත් ඒවා පිහිටනවා. නමුත් නුවණැස සහ පැනැස පිහිටන්නෙ ආර්ය මාර්ගයෙදි සහ ඵලයෙදි. ලෞකිකවත්, බුදු සසුනින් බැහැරවත් නැණස, පැනස ගැන භාවිතා වෙනවා. හැබැයි ඒවා පනවා ගැනීම් විතරයි. සම්මත විතරයි.

මේ කාලයේ පවතින එක්තරා මතයක් තියෙනවා. පහුගිය කාලයේ ප්‍රසිද්ධ කරල තිබ්බ්ච එක්තරා පොතකින් පෙන්වා තියෙන කොටසක් තමයි මේ. "දැන් සිරුරෙන් ඉවත් වූ සිත නිදැල්ලේ හැසිරෙන බැවින් නිවනේ ආලෝකයද වරින්වර මතුව එයි. එහි ආලෝකය හා සුවය වචනයෙන් විස්තර කළ නොහැකි යයි සිතමි." ඒ පොතේම තියෙන තවත් කොටසක් තමයි මේ. "පසිඳුරන් හා භෞතික වස්තූන්ගේ පාලනයෙන් නිදහස් වන සිත වරින්වර ප්‍රකෘති තත්ත්වයටද පත්වන බැවිනි. සිතේ ප්‍රකෘතිය නිවනයි. වචනයෙන් විස්තර කළ නොහැකි ප්‍රභාව නිවනයි."

මේ ප්‍රකාශයන් පෙළ දහම සමග සසඳල බලල තීරණය කිරීම ඉතා යහපත් බව පෙනුන නිසා, ත්‍රිපිටක පෙළ පොත්වලින් පහත සඳහන් කරුණු ඉදිරිපත් කරනවා.

1. යම් අත්හැරීමක්, නොඇල්මක්, මිදීමක්, හට නොගැන්මක් වේද ඒ නිවනයි.

2. පිරිනිවන් පෑ ඉකුත් බුදුවරයන් වහන්සේලාගේ සිත සම්බන්ධ දැනීම් කිසිවක් නැති බව සං. නි. 4 - 119 පිටුවේ මේ විදිහට සඳහන් වෙනවා. "නැසූ තෘෂ්ණා ප්‍රපංච ඇති, නැසූ තෘෂ්ණා මාර්ග ඇති, කෙළවර කළ සසර වට ඇති, සියලු දුක් ඉක්ම වූ පිරිනිවන් පෑ ඉකුත් බුදුවරයන් වහන්සේලා යම් සිතකින් පනවන්නෙක් පනවා නම් එබඳු සිතක් නැත්මැයි"

3. පටිසම්භිදා මග්ග ප්‍රකරණය (2) - 233 පිටුව / විදර්ශනා කතා "පංචස්කන්ධය ශූන්‍ය හෙයින් දක්නේ අනුලෝම ක්ෂාන්තිය ලබයි. පංචස්කන්ධයාගේ නිරෝධ සංඛ්‍යාත නිර්වාණය පරම ශූන්‍ය හෙයින් දක්නේ සම්‍යක්ත්ව නියාමයට බස්නේය"

ශූන්‍ය කියන්නෙ හිස් බව. පරම ශූන්‍ය කියන්නෙ සර්වප්‍රකාරයෙන්ම හිස් බව. මෙතනදි අද අරුත් අරගෙන ඉන්න හිස් පුද්ගලයා කියල හඳුන්වන, ගුණ නුවණින් හිස් පුද්ගලයන්, මෝඩයන් හඳුන්වන තැන පෙන්වන්නෙ මේ උත්තරීතර නිවනේ ස්වභාවයන් නෙවෙයි. ශූන්‍ය හෝ පරම ශූන්‍ය කියල පෙන්වපු හිස් බව උත්තරීතරයි.

"යෝ නිරුක්තිං නජානාති<br>
ජානාති පිටකත්තයං<br>
පදේ පදේ විඛං බෙයිය<br>
වනේ අන්ධ ගජෝ විය"

යමෙක් සුදුසු තැන යෙදෙන නිරුක්ති නොදැන ත්‍රිපිටකයම දැනගෙන ඉගෙනගෙන හිටියත්, පදයෙන් පදය අර්ථ විග්‍රහ කරන්න ගිහින්, අන්ධ අලියෙක් කැලෑවෙ හැසිරීමක් වගේ තත්ත්වයන්ට පත්වෙනවා. මේ ගැන විමසා බලන්න.

ඒ වගේම සිතේ ප්‍රභාස්වර බව ගැන දේශනා කරන බුදු රජාණන් වහන්සේ, ලොව්තුරා බුදු බවට පත්වෙන බෝ මැඩදි චතුර්ථ ධ්‍යානයට පත්වෙලා සිත පවිත්‍ර වුනාම, උපක්ලේශයන්ගෙන් මිදුනම, ප්‍රභාස්වර වුනාම, කටයුත්තට සුදුසු වුනාම, පළමු යාමයේ පූර්වේනිවාසානුස්සති ඥානයට හිත යොමු කළ බවත්, ජාති එකක් දෙකක්... ආදී වශයෙන් අනන්ත ජාති සිහි කළ බවත් සඳහන් වෙනවා. නමුත් පළමු මාර්ග ඵලයත් ඒ යාමයේ ලබා නොසිටි බවත්, ඵල හතරම ලැබුවෙ එදා අළුයම බවත් ඉතා පැහැදිලිව පෙන්වා තියෙනවා.

එහෙනම් චතුර්ථ ධ්‍යානයෙදි ලැබෙන ප්‍රභාස්වර භාවය මොන නිවනක්ද? ඒ කාරණය මේ විදිහට වටහා ගන්න. ප්‍රභාස්වර බවින් වැටහෙන්නෙ රූප සංඥාව. සංඥාව චෛතසිකයක්. සිත සමග යෙදෙනවා. අරමුණක් මුල් කරගෙන හට ගත්ත නිසා ලෞකිකයි. රූප සංඥාව ප්‍රභාස්වරව වැටහුනා නම් ඒකෙ සුඛාස්වාද වේදනාව තියෙනවා. ඒකත් චෛතසිකයක්. ඒ රූප සංඥාව ප්‍රභාස්වර බවින් වැටහුන බව පේනවා.

ඒ ප්‍රභාස්වර බවේ සුවයක ඇලීම සංස්කාරයි (සංඛාරයි). මේක රූපාවචර සංඛාර කොටසට ගැනෙන්නෙ. ආකාර, ලිංග, නිමිති, උද්දේස, ප්‍රඥප්ති පැනවෙනවා. නාම රූප ඇති බව ඒ වචනවලිනුත් ඔප්පු වෙනවා. සංස්කාරත් සිත සමග පහල වෙනවා. චෛතසික සිතින් තොරවත්, සිත චෛතසිකයන්ගෙන් තොරවත් නූපදීම චිත්ත නියාමයක්. එහෙම නෙවෙයි කියල කිව්වොත් ඒක ධර්ම විරෝධී නිගමනයක්. නිවනේ සිතක් හෝ චෛතසික හෝ තියෙන බව දැකීම මායාවකට රැවටීමක් බව මේ කාරණාවලිනුත් තේරුම් ගන්න ඕන.

පටිච්ච සමුප්පාද නියාමයට අනුව හේතුඵල තේරුම් අරගෙන, හේතු නිරෝධයෙන් ඵල නිරෝධය වටහාගෙන, හිත පිළිබඳ වුත්, කය පිළිබඳ වුත් සියල්ල හේතුවකින් පහල වෙන ඵල ධර්ම බවත්, හේතු නිරෝධයෙන් ඵල නිරෝධ වෙන බවත්, හැම හේතුවක්ම තවත් හේතුවක ඵල ධර්මයක් බවත් වටහාගෙන, ඒ සියලු හේතු ඵල ධර්මයන්ගේ මහා ආදීනවය වන අනිච්ච, දුක්ඛ, අනත්ත බව දැනගෙන අත්හැරීමක්, නොඇල්මක්, මිදීමක්, හට නොගැන්මක් සිද්ධ වෙනවද, එතකොට අල්ලන්න ආකාරයක්, ලිංගයක්, නිමිත්තක්, උද්දේසයක්, ප්‍රඥප්තියක් නැති බව වැටහෙනවා. එබඳු නාම රූප ධර්ම ඇති බව වුනා නම් කාම ලෝකයත්, රූප ලෝකයත් ඇසුරට වැටහෙනවා. නාම ධර්ම ඇසුරෙන් අරූප ලෝක ඇසුර වෙනවා. නාම රූප පිළිබඳව කුමන ආකාරයේ හෝ ඇලීම් බැඳීම් නැත්ද, ඒ තමයි නිවන. නිවනෙදි නාම රූප නිරවශේෂයෙන් නිරුද්ධ වෙනවා.

"ආරම්මණ විජානන ලක්ඛණං චිත්තං"

අරමුණු දැනගන්නා ලක්ෂණය සිතයි. මේ සිත පිළිබඳව බුද්ධ දේශනාවක්.

"පභස්වර මිදං භික්ඛවේ චිත්තං"

මහණෙනි, මේ සිත ප්‍රභාස්වරයි.

ප්‍රභාස්වර බව තියෙන්නෙ සිතක. එබන්දක් නිවනයි කියල යමෙක් කියනව නම්, අනිච්ච වූවක්ම, දුක්ඛ වූවක්ම, අනාත වූවක්ම නිච්ච, සුඛ, අත්ත කරල පනවා ගැනීමක් වෙනවා. දහම් බිඳල, දහම් සාරය බිඳල දේශනා කරනව

නම් ඒක මිත්‍යාදෘෂ්ටික වෙනවා. ඒකෙන් නැගෙන්නෙ මුසාවාදයක්. ඒක අපාගත වෙන පාප කර්මයක් නිසාත්, ඒ අපායත් අටමහා නරකය බව ප්‍රකාශ කරන බුද්ධ දේශනා තියෙන නිසාත්, **මෙබඳු තැන් විග්‍රහ කරනකොට අති භයානක පැත්තක් තියෙන බව දැනගෙන සිටීම මහා ශාන්තියක් කරා යන්නත්, විනාසකාරී භයානක මාර උගුලකින් බේරෙන්නත් හේතුවෙන බව කරුණු පෙරදැරිව මතක් කරන්න ඕන.**

"පභස්සරං මිදං භික්ඛවේ චිත්තං - තංච ආගන්තුකේහි උපක්කිලේසේහි උපකිලිට්ඨං" මේකත් බුද්ධ වචනයක්.

සමහරු ප්‍රභාස්වර චිත්තය භවාංග සිත කියල අදහස් කරනවා. ඒක මුළාවක්. තිරිසන් භවයට අංග වෙන්නේ තිරිසන් ගති සිතක්. ප්‍රේත භවයට අංග වෙන්නෙ ප්‍රේත ගති සිතක්. මේ විදිහට සතර අපා ගතියට අංග වෙලා ඒ දුගති භව අංගයක් වෙලා පහල වෙන සිත කොහොම නම් ප්‍රභාස්වර වෙයිද?

ප්‍රභාස්වර සිත ලැබෙන්නෙ සාසනික චතුර්ථ ධ්‍යානයෙදි. ලෞකික අරමුණක් අරගෙනත් චතුර්ථ ධ්‍යාන චිත්තය පහල වෙනවා. ඒකෙ අවිද්‍යා අනුසය සහිත බවත් බුද්ධ දේශනාවේ තියෙනවා. යමෙක් අරි අටඟි මග භාවිතා කිරීමෙන් සිත වඩාගෙන ආර්ය වූ ප්‍රභාස්වර වූ චිත්තය පහල කළා නම්, ඒ සිත දහමට නැඹුරු වෙලා චතුරාර්ය සත්‍යය අවබෝධයට නැමී සිටින නිසා ඒකම වැඩ දායක වෙනවා. ලෞකික චතුර්ථ ධ්‍යානය ඉක්මවල නේවසංඥා නාසංඥායතනයට හිත වඩපු කාලදේවල කියන තාපසතුමා, සිදුහත් කුමාරයා බුදු වන බව දැනගෙන, තමන් ඊට පෙර මියයන නිසා, තමන්ට දහම් ශ්‍රවණයට අවස්ථාව ලැබෙන්නෙ නැති නිසා කඳුළු සැලුව නම්, ලෞකික ධ්‍යානවල මොන පූර්ණ ප්‍රභාස්වර බවක්ද? අවිද්‍යා අනුසය තියෙන නිසා පූර්ණ වෙන්නෙ නෑ. ප්‍රභාස්වර සිතකට කඳුළු සලන සෝක උපදිනවද? සෝකය ඇතිවෙන සිත කිළිටියි. ආර්ය චතුර්ථ ධ්‍යානය ලබන්නෙ, නිස්සාර අරමුණු අනුමානයෙන් දැනගෙන ඒවායේ සිත නොබැඳීමෙන්. තුන් ලෝකයේ හිත පිහිටවන්න සාරවත් අරමුණක් කොහෙන් ලැබෙයිද?

සත්ත්වයා භවයේ කොතැන සැරිසැරුවත් සිත කිළිටිමයි. අවිද්‍යාව තියෙන කල් මේ තුන් භවයේ ඇලීම්, බැඳීම් ඇති කරනවා. හැම හිතකම සර්ව චිත්ත සාධාරණ චෛතසික 7 ක් යෙදෙන බවත් ස්පර්ශ, වේදනා, සංඥා, චේතනා, ඒකාග්‍රතා, ජීවිතේන්ද්‍රිය, මනසිකාර කියන මේ චෛතසික හතෙන් තොර හිතක් හෝ හිතකින් තොරව මේ චෛතසික හත හෝ පහල නොවන බවත් චිත්ත නියාමයක්. අභිධර්මයේ මේ ගැන මනාව පෙන්වා තියෙනවා. මේ උපමාවෙනුත් ඒ කාරණය වටහා ගන්න පුළුවන්. ලතාවක් රටාවක් නැතිව අහන්න හඬක් ඇතිවෙන්නෙ නෑ. හඬක් නැතිව අහන්න ලතාවක් රටාවක් ඇතිවෙන්නෙත් නෑ.

යම් තාක් දැන ගැනීමේ බලාපොරොත්තුව තියෙනවද, ඒ තාක් සිත පවතිනවා. දැනගැනීමේ බලාපොරොත්තුව ඇතිවෙන්නෙ ඒක ප්‍රිය, මධුර විදිහට අරගෙන ආසා කරන නිසා. බලාපොරොත්තුව වැඩිවෙනකොට දැන ගැනීමේ හිත ඇතිවෙනවා. ඒ නිසා ඒ හේතු කොටගෙන මනස හෙවත් මනායතනය වෙනවා. නමුත් බලාපොරොත්තුව ඉටු කරගන්න එක ආයතනයකින් බෑ. ස්පර්ශ වෙන්න අනුකූල දෙයක් අවශ්‍යයි. ඒ බලාපොරොත්තුවට ආසාව ඇතිවුනේ පෙර මනසින් කරපු ස්පර්ශවල ප්‍රිය බවේ, මධුර බවේ ආස්වාද වින්දනයන් ප්‍රිය මධුර විදිහට ගත්ත නිසා. ඒ මතක සටහන් නාම ගෝත්‍ර කියල හඳුන්වනවා. මේවට ධර්ම කියලත් කියනවා. සැරිසරන අර්ථයෙන් මේවා සරන ධර්ම වෙනවා. ත්‍රිලක්ෂණය, චතුරාර්ය සත්‍යය... ආදී ධර්මවලට අරණ ධර්ම කියල බුදු දහමේ සඳහන් වෙනවා. **රණ කියන්නෙ යුධ පිටිය. අරණ කියන්නෙ යුධ නැති තැන. මේ කියන්නෙ හිතේ යුද්ධය නැති තැන.** මනංච පටිච්ච ධම්මේච උප්පජ්ජති මනෝ විඤ්ඤාණං කියන මේ සැරිසරන බවට හේතු වෙන්නෙ ඉහත කී මතක සටහන් හෙවත් සරන ධර්ම.

දැන ගැනීමේ බලාපොරොත්තුව අධික වෙන්නෙ ප්‍රිය ආස්වාද අරමුණු නාම රූප ඇසුරින් ගන්නකොට ලබපු ආස්වාදය නැවත මතක් වෙනකොට සුව දනවන නිසා. ඒ පිළිබඳව තණ්හා උපාදාන තියෙන කොට භව හෙවත් අවශ්‍ය පහල කිරීම් ඒ භව ශක්තියෙන් නිර්මාණය කරනවා, එකතු කරනවා, මනස සකස් කරනවා. දැන ගැනීම් අරමුණ භව ප්‍රත්‍යයෙන් පහල කරනවා. එතකොට අතීත අරමුණු ඒ භව ශක්තියෙන් කැමැත්ත අනුව මොහොතකින් ස්පර්ශ වෙන්න සලස්වනවා. අතීතයට ගිය නාම ගෝත්‍රවල වදින චිත්ත ආලෝක කිරණ මනෝ ධාතුවෙන් ලබන ශක්තියෙන් නිපදවා ගන්නවා.

ඒ චිත්තාලෝකය අතීත අරමුණු කරා යොමු කළාම, ඒ අතීත නාම ගෝත්‍රවල වැදිල ඊට අනුරූප පරාවර්තනය මනසේ වදිනවා. ස්පර්ශ වුනාම මනෝ විඤ්ඤාණ පහල වෙනවා. උපමාවකින් තෝරනව නම්, කරුවල තැනක මුහුණ බලන කණ්ණාඩියක් මනසට උපමා කළොත්, දැනීමට හේතුකාරක ලක්ෂණය, කණ්ණාඩිය අසල ආලෝකය පහල කිරීම වගෙයි. කණ්ණාඩිය තුල දර්ශන ඡායා පහල වෙන්නෙ ආලෝකය නිසා. ඡායා තියෙන පැත්තට කණ්ණාඩිය හරවනකොට ඒ දිහාවෙ තියෙන ද්‍රව්‍යවල රූප සටහන් ඒකෙ වැද්ද ගන්නවා. ඒ ඡායා සටහන් සඳහා යොමු කළේ නැත්ද, එතකොට ආලෝක සටහන් විතරක් කණ්ණාඩිය තුලට වැද්ද ගන්නවා.

දැනීම් ස්වභාවය ප්‍රභාස්වරයි. මනෝ අසුරු නොකළ දැනීම් ස්වභාවය හෙවත් ප්‍රභාස්වර බව තියෙනවද, මේ තමයි ආර්ය චතුර්ථ ධ්‍යාන අවස්ථාවේ ස්වභාවය. ආගන්තුක උපක්ලේශ වැද්ද ගත්ත නම් ඒ අනුව ප්‍රභාස්වර බව අපැහැදිලි වෙනවා.

කණ්ණාඩියට එළිය විතරක් වැටෙනව නම්, ඒක පිරිසිදු එළිය විතරයි. ඒකෙ යමක ඡායා වැද්ද ගත්තද, ඡායාව සුදු පාට නම්, ප්‍රභාස්වර බව තුලින් සුදු වර්ණ ස්වභාවය ඉස්මතු වෙලා පේනවා. මැණිකක පිහිටපු හිතත් මේ වගේ. කලු තිරයක් යොමු වෙලා කැඩපතේ ඡායාව වැද්ද ගත්ත නම් ප්‍රභාස්වර බව අඳුරු වෙනවා. හිතටත් රාග, ද්වේශ, මෝහ අරමුණු වැද්ද ගත්තද, අරමුණේ ස්වභාවය, ප්‍රමාණය අනුව ප්‍රභාස්වර බව අඩු වැඩි වෙනවා. ඡායා සටහනේ ආකෘතිය අනුව සකස් වෙනවා.

මේ විදිහට දැනීමේ බලාපොරොත්තුව මූලික වෙච්ච මන සහ ධර්ම ස්පර්ශ කරවල විඤ්ඤාණ පහල කරවනවා. අතීත මතක සටහන් කෙරෙහි මනසින් ස්පර්ශ ලබනකොට රස බලල ප්‍රිය දැනුන ආහාරය හොයාගෙන යනව වගේ, පෙර ඒවා ලබා ගත්ත රූප ස්පර්ශ කරන ඇහැ ගැනත්, ශබ්ද ස්පර්ශ කරන කන ගැනත් බලාපොරොත්තු ඇතිවෙනවා. ඒ ස්වභාවයේ තණ්හා උපාදාන පහල වෙනවා. එතකොට භව වෙනවා. ඇස, කන පහල කරනවා. රූප ලෝකයේ රූප ධාතු සියුම් කලාප භව ශක්තියෙන් හෙවත් කර්ම ශක්තියෙන් සකස් කරනවා. කර්මජ කාය සූක්ෂමව පහල වෙනවා. ස්පර්ශයට බාහිර ආයතන විදිහට සූක්ෂම වූ බාහිර ආයතන පහල කරනවා. පෙර විඳල පුරුදු ආස්වාද මතකයන් ප්‍රබල වෙන්න ගන්නවා. විඳීමේ තණ්හා උපාදාන මතු වෙනවා. භව පහල වෙනවා. කර්මජව නාසය, දිව, ශරීරය පහල වෙනවා. බාහිර ආයතන විදිහට ඒ භව ශක්තිය ගන්ධ, රස, ස්පර්ශත් පහල කරනවා.

මනෝ තලය මත අරමුණු ඡායා ක්‍රමයෙන් රාගික බවින් වැඩි වෙමින්



# විඤ්ඤාණ සහ පටිච්ච සමුප්පාද ධර්ම පිළිබඳව නැගුන ප්‍රශ්නවලට පිළිතුරු

සියවස් ගණනාවක් තිස්සේ යටපත් වෙලා තිබුන නිවන් දකින දහමේ වටිනා කොටස්, පෙළ දහමට අනුවම ඥාන ගෝචර විදිහට වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් නැවත පෙන්වා දෙනකොට, ඒවාට අපහාස උපහාස කළ සමහර භික්ෂූන් වහන්සේලා සහ ගිහි පින්වතුනුත් හිටියා. තමන්ට ලැබෙන ලාභ කීර්ති ප්‍රසංසා අහිමි වෙයි කියන බියෙන් සහ කරුණු කාරණා හරි හැටි නොදැන අපහාස උපහාස කළ දෙපිරිසම ඒ අතර හිටියා. කොහොම නමුත් ඒ වගේ අපහාස උපහාසයන්ට පෙළ දහම අනුසාරයෙන්ම ධර්මානුකූල පිළිතුරු දෙන්නත් අභයරතනාලංකාර තෙරුන් වහන්සේ අමතක කළේ නෑ. ඒ හුදෙක් පින්වතුන් නොමග යන්න ඉඩ තියෙන නිසා ඒ අය කෙරෙහි දයානුකම්පාවෙන්මයි.

පහුගිය කාලයේ විඤ්ඤාණ සහ පටිච්ච සමුප්පාද ධර්ම පිළිබඳවත් ඒ වගේ ගැටළු පැන නැගුනා. පටිච්ච සමුප්පාද දහමට අනුව ඒ ඒ සත්ත්ව කොටස් පහල වෙන හැටි විස්තර කරන කොට බලු විඤ්ඤාණ ගැනත් කියවුනා. ඒ අවස්ථාවේ, අමුතු විඤ්ඤාණයක් කියමින් ඊට අපහාසයෙන් නිගරු කළ එක්තරා භික්ෂූන් වහන්සේ නමකට අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ පෙළ දහමින් පිළිතුරු දුන්නේ මේ ආකාරයට.

ඒ භික්ෂූන් වහන්සේට පෙළ දහමින් එබඳු විඤ්ඤාණ ගැන දැන ගන්න අවශ්‍ය නම්, මජ්ජිම නිකාය 2 වන පොතේ 85 වැනි පිටුවේ එන කුක්කුරවතිය සූත්‍රයේ ඒ පිළිබඳව විස්තර තියෙනවා. බලු හිතක් සහ ගව හිතක් නැගෙන ආකාරය ඒ දේශනාවේ සඳහන් වෙනවා. ඒවා පටිච්ච සමුප්පන්න වෙන ආකාරය නුවණින් බලනකොට වැටහෙනවා.

ඒ වගේම මනුස්සයා කරන කියන නොයෙක් කටයුතු අනුව හොඳ නරක විවිධ ජාති මෙලොවදීම පහල වෙන ආකාරයත්, පටිච්ච සමුප්පාදය අනුව ඒවා සිද්ධ වෙන ආකාරයත් මජ්ජිම නිකායේ 2 වන පොතේ 700 පිටුවේ එන වාසෙට්ඨ සූත්‍රයෙත් දක්වා තියෙනවා. ඒ සූත්‍රයේ මේ ගාථාවත් සඳහන් වෙනවා.

ඒව මේතං යථා භූතං
කම්මං පස්සන්ති පණ්ඩිතා
පටිච්ච සමුප්පාදදසා
කම්ම විපාක කෝවිදා

ඒ සඳහා දීල තියෙන සිංහල අර්ථය - මෙසේ ප්‍රතීත්‍ය සමුප්පාදය දක්නා කර්ම විපාක ඥානයෙහි කෝවිද වූ පණ්ඩිතයෝ තෙල යථා භූත කර්මාර්ථය දක්නාහ.

ඒ වගේම ඒ ඒ මනුස්සයෝ කරන දේවල් අනුව (කර්ම අනුව) විපාක ජාති මෙලොවදීම ලබන ආකාරයත්, බ්‍රාහ්මණ ජාතිය හෝ බ්‍රාහ්මණ නොවන ජාති මෙලොවම ගොඩ නැගෙන පටිච්ච සමුප්පාද න්‍යායානුකූල ක්‍රමයත් පෙන්වා තියෙනවා.

නජච්චා බ්‍රාහ්මණෝ හෝති
නජච්චා හෝති අබ්‍රාහ්මණෝ
කම්මනා බ්‍රාහ්මණෝ හෝති
කම්මනා හෝති අබ්‍රාහ්මණෝ

ජාතියෙන් බ්‍රාහ්මණ නොවෙයි. ජාතියෙන් අබ්‍රාහ්මණ නොවෙයි.

කර්මයෙන් බ්‍රාහ්මණ වෙයි. කර්මයෙන් අබ්‍රාහ්මණ වෙයි.

චේතනා මුල් කරගෙන කර්ම කරන නිසා ඒ ඒ කර්ම අනුව ජාති නාමය මෙලොවදීම ලැබෙන ආකාරයත්, පටිච්ච සමුප්පන්න වන ආකාරයත් මනාව විග්‍රහ කරල තියෙනවා.

අරමුණු වැද්ද ගැනීමත් වැඩි කෙරෙනවා. මනෝ තලය ක්‍රමයෙන් අඳුරු වෙනවා. ආලෝක බවත් උපක්ලේශ නිසා විපරිනාම වෙමින් ගති ස්වභාවය අනුව පිහිටනවා. ලෞකිකව තිබිච්ච ප්‍රභාස්වර බව ක්‍රමයෙන් අඳුරු වෙනවා. බ්‍රහ්ම තත්ත්වය තුල ඉන්න බැරි විදිහට තණ්හා උපාදාන බලවත් වෙනවා. පංචේන්ද්‍රියන් ආස්වාදයට නැමී සිටිනවා. තණ්හා උපාදාන අනුව භව ක්‍රියාත්මක වෙනවා. අනුරූපයන් අභ්‍යන්තර, බාහිර ආයතන විදිහට පහල කරනවා.

මේ පෙන්නුවේ විශ්ව ධාතුවක් වැනසිලා නැවත පහල කරන ආකාරය සහ සත්ත්වයා භව ස්වභාවයෙන් පරිණාමය ලබන ආකාරය.

*පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් යළි මතු කළ සැගවුනු දහම් කරුණු ඇසුරෙන් සකස් කළේ:*

**නීතිඥ චන්දන සිරිවර්ධන**

චෞර කර්මයෙන් හොරෙක් වෙයි.

යුධ කර්මයෙන් යෝධාජීව වෙයි.

යාග කර්මයෙන් යාජක වෙයි.

රාජ කර්මයෙන් රජෙක් වෙයි...

මේ ආදී වශයෙන් කරන කර්මය අනුව ජාතිය බිහිවෙන බව තවත් උදාහරණ රාශියකින් පෙන්වා තියෙනවා.

ඉහත සඳහන් කළ කුක්කුරවතිය සූත්‍රය අනුව බලු කර්මයෙන් බලු වෙන හැටිත්, ගව කර්මයෙන් ගව වෙන හැටිත් මේ විදිහට පටිච්ච සමුප්පන්නව පෙන්වා තියෙනවා. මොළේ කලඳක් හෝ තියෙනව නම්, මේ විග්‍රහය බුදු දහමට එකඟ බව තේරුම් ගන්න පුළුවන්.

විඤ්ඤාණ පිළිබඳව තොරතුරක්...

චක්ඛු විඤ්ඤාණ, සෝත විඤ්ඤාණ, ඝාන විඤ්ඤාණ, ජිව්හා විඤ්ඤාණ, කාය විඤ්ඤාණ, මනෝ විඤ්ඤාණ කියන හය ආකාර මූලික බෙදීම විතරක් පොත්වලින් බලාගෙන, එයින් එහාට විග්‍රහයක් දන්නෙ නැති අයට මනෝ විඤ්ඤාණයන්ගේ ප්‍රභේද ගැන කියනකොට ඇති වෙන්නෙ මුළා සහගත හාස්‍යයක්. මුළා සහගතව හිනා වෙලා අපවාද කරගෙන පව් පුරව ගන්නෙ නැතිව, මේ සූත්‍ර අනුසාරයෙනුත් ඇත්ත දැකගන්න ඕන.

සං. නි. 2 - <u>පරිවීමංසන සූත්‍රය</u> - 130 පිටුව

"අවිජ්ජාගතෝයං භික්ඛවේ, පුරිස පුග්ගලෝ පුඤ්ඤං චේ සංඛාරං අභිසංඛරෝති, පුඤ්ඤෝපගං හෝති විඤ්ඤාණං. අපුඤ්ඤං චේ සංඛාරං අභිසංඛරෝති, අපුඤ්ඤෝපගං හෝති විඤ්ඤාණං. ආනෙඤ්ජං චේ සංඛාරං අභිසංඛරෝති, ආනෙඤ්ජුපගං හෝති විඤ්ඤාණං"

සිංහල අර්ථය : මහණෙනි, අවිද්‍යාවෙන් යුක්ත මේ පුද්ගල තෙමේ ඉදින් පුණ්‍ය සංඛාර අභිසංඛාර කෙරේ නම්, විඤ්ඤාණය පුණ්‍ය සහගත වේ. අපුණ්‍ය සංඛාර අභිසංඛාර කෙරේ නම්, විඤ්ඤාණය අපුණ්‍ය සහගත වේ. ඉදින් ආනෙඤ්ඤාභි සංඛාර අභිසංඛාර කෙරේ නම් විඤ්ඤාණය ආනෙඤ්ඤාභි සහගත වේ.

මේ අනුව බලනකොට විවිධ පුණ්‍ය ස්වභාවයන් සහ පාප ස්වභාවයන් අනුව විඤ්ඤාණ විවිධාකාර වන බව පේනවා. අවිද්‍යා විවිධත්වයෙන් සංඛාර විවිධත්වයත්, සංඛාර විවිධත්වයෙන් විඤ්ඤාණ විවිධත්වයත්... ආදී වශයෙන් පහල වෙන ආකාරයත් පෙන්වල, පටිච්ච සමුප්පාද ධර්ම එකිනෙකට ගොඩ නැඟීමට නිදාන වෙන, සමුදය වෙන, ජාති වෙන, ප්‍රභව වෙන හැටි පෙන්වා තියෙනවා.

භික්ෂුව පරිවීමංසනය කරනකොට, ලෝකයේ නන් වැදෑරුම් අනේකවිධ දුක් උපදවන ජරා, මරණ උපදින ආකාරය විමර්ශනය කරන හැටි මේ සූත්‍රයේ මනාව පෙන්වා තියෙනවා. "යං බෝ ඉදං අනේකවිධං නානප්පකාරකං දුක්ඛං ලෝකේ උප්පජ්ජති ජරා මරණං" කියන මේ පෙළ දහමේ වැකියෙන් ඒ බව තහවුරු වෙනවා.

කුක්කුරවතිය සූත්‍රයේ පුණ්ණ කියන පුද්ගලයා ගවයෙක් විදිහට හැසිරීමෙන් (ගව සංඛාර අභිසංකරණයෙන්) ගව හිතක් පහල කරන හේතුවෙන් ගව විඤ්ඤාණයක් පහල වෙන හැටිත්, ඒක මුල් කරගෙන ගොඩ නැඟෙන පටිච්ච සමුප්පාද ක්‍රියාවලියෙන් ගව ජාතියේ උපදින හැටිත් මනාව පෙන්වා තියෙනවා.

ඒ වගේම, සේනිය කියන පුද්ගලයා බල්ලෙක් විදිහට හැසිරෙමින් (බලු සංඛාර අභිසංකරණයෙන්) බලු හිතක් ඇතිවෙලා (බලු විඤ්ඤාණයක්) ඒ පටිච්ච සමුප්පන්න ක්‍රියාවලිය නිසා බලු ජාතියට හේතු ලබන ආකාරයත් ඒ සූත්‍රයේ මනාව පෙන්වා තියෙනවා.

මේ කාරණාවලින් මනාව පෙනී යන කරුණක් තමයි, බලු සංඛාර නිසා බලු විඤ්ඤාණ පහල වෙලා ක්‍රියාත්මක වෙන පටිච්ච සමුප්පාදයෙන් බල්ලෙක් මිසක් හරකෙක් හෝ වෙන සතෙක් හට නොගන්නා බවත්, හරක් සංඛාර (හරකෙක් විදිහට කටයුතු කිරීම) නිසා හරක් විඤ්ඤාණයක් පහල වෙලා (හරක් හිතක්) ඊට අනුකූල පටිච්ච සමුප්පාද ක්‍රියාවලියකින් හරක් ජාතිය පහල වෙනව මිසක් බලු ජාතිය හෝ වෙන ජාතියක් පහල නොවන බවත්.

එහෙම වෙනකොට තමයි විවිධාකාර වූ අනේකවිධ වූ දුක් සහිත ජරා මරණ ලෝකයේ පහල වෙන්නෙ. බලු ජරා මරණ බලු ජාති නිසාත්, හරක් ජරා මරණ හරක් ජාති නිසාත්, මේ විදිහට අනේකවිධ ජරා මරණ අනේකවිධ සත්ත්ව ජාති නිසා පහල වෙනවා.

**පරිවීමංසන සූත්‍රය අනුව පටිච්ච සමුප්පාද ප්‍රභේද තේරුම් ගන්නෙ නැතිව විවේචනය කිරීම, පහර ගැසීම මහා පාපයක්, සාපයක්, අපරාධයක්. කුක්කුරවතිය සූත්‍රයේ බල්ලෙක් විදිහට හැසිරෙනකොට බලු හිතක්, ගවයෙක් විදිහට හැසිරෙනකොට ගව හිතක් පහල වෙන බව පෙන්වා තියෙනවා.** හිත කියන වචනයට මනස, විඤ්ඤාණය කියලත් භාවිතා කරන බවට සාක්ෂියක් සං. නි. 2 - <u>අස්සුතවන්තු සූත්‍රයේ</u> 148 පිටුවේ තියෙනවා. "යංච බෝ ඒතං භික්ඛවේ, වුච්චති චිත්තං ඉතිපි මනෝ ඉතිපි විඤ්ඤාණං ඉතිපි" කියන පෙළ දහම් කොටසින් ඒ බව සනාථ වෙනවා.

විඤ්ඤාණ ඇතුළු ස්කන්ධ 5 ගැන, ඒවායේ ස්වභාව ලක්ෂණ ගැන විග්‍රහයක් සං. නි. 3 - ඛජ්ජනීය සූත්‍රයේ 148 පිටුවේ සඳහන් වෙනවා.

1. කිංච භික්ඛවේ, රූපං වදේථ, රුප්පතීති බෝ භික්ඛවේ, තස්මා රූපන්ති වුච්චති. කේන රුප්පති. සීතේන'පි රුප්පති උන්හේන'පි රුප්පති ජිගච්ඡාය'පි රුප්පති පිපාසාය'පි රුප්පති...

මහණෙනි, කවර කරුණින් රූපය කියන්නේය යත් "බිඳේ" නුයි එයින් රූපයයි කියනු ලැබේ. කුමකින් බිඳේය යත් සීතයෙනුදු බිඳෙයි, උෂ්ණයෙනුදු බිඳෙයි, බඩසයිනුදු බිඳෙයි, පවසිනුදු බිඳෙයි, ඩැහැලේ බොන මැසිය - විද ලේ බොන මදුරුය - වාතය - ආතපය - දීර්ඝ ජාතිය යන මොවුන්ගේ සංස්පර්ශ යෙනුදු බිඳේ...

2. කිංච භික්ඛවේ වේදනං වදේථ. වේදියතීති බෝ භික්ඛවේ තස්මා වේදනාති වුච්චති, කිංච වේදියති. සුඛම්පි වේදියති දුක්ඛම්පි වේදියති අදුක්ඛම සුඛම්පි වේදියති...

මහණෙනි, කවර කරුණින් වේදනා කියන්නේය යත්, "වළඳ කෙරේ" නුයි එයින් වේදනායි කියනු ලැබේ. කුමක් වළඳ කෙරේද යත් සුඛයද, දුක්ඛයද, උපේක්ෂාවද වළඳ කෙරෙයි....

3. කිංච භික්ඛවේ සංඤ්ඤං වදේථ. සංජානාතීති බෝ භික්ඛවේ තස්මා සඤ්ඤාති වුච්චති. කිංච සංජානාති නීලම්පි සංජානාති, පීතකම්පි සංජානාති ලෝහිතකම්පි සංජානාති...

මහණෙනි, කවර කරුණින් සංඥා කියන්නේය යත්, "හඳුනා ගනී" නුයි එයින් සංඥායි කියනු ලැබේ. කවර කරුණින් හඳුනයිද යත්, නිලද, කහවනුද, ලෙහෙවනද, සුදද හඳුනයි...

4. කිංච භික්ඛවේ සංඛාරේ වදේථ. සංඛතං අභිසංඛරොන්තීති භික්ඛවේ තස්මා සංඛාරාති වුච්චන්ති. කිංච සංඛතං අභිසංඛරෝන්ති - රූපං රූපත්තාය සංඛතං අභිසංඛරොන්ති වේදනං වේදනත්තාය සංඛතං අභිසංඛරොන්ති. සඤ්ඤං සඤ්ඤත්තාය සංඛතං අභිසංඛරොන්ති සංඛාරේ සංඛාරත්තාය සංඛතං අභිසංඛරොන්ති. විඤ්ඤාණං විඤ්ඤාණත්තාය සංඛතං අභිසංඛරොන්ති...






# වස විස ආහාරවලට එරෙහි විකල්ප 07

ජීවන වියදමත් අහස උසට ගිහින්, පෝෂණ ගුණයත් අඩු වෙලා, වස විස කන්න සිද්ධ වෙලා තියෙන මේ වගේ යුගයක, අපේ පැරැන්නන් ආහාරයට ගත්ත, අඩු වියදම්, පෝෂ්‍යදායී සහ වස විසෙන් තොර තවත් ස්වභාවික ආහාර කිහිපයක් මෙවරත් පින්වත් ඔබ වෙනුවෙන් සටහන් කෙරෙනවා.

**ගොනිකා :** හෙවණ තියෙන තෙතමනය සහිත තැන්වල, ගහක් ගලක් ආධාර කරගෙන හෝ බිම දිගේ වැවෙන තරමක් ඝනකම පත්‍ර සහිත වැල් වර්ගයක්. ජනප්‍රවාදයේ කියවෙන්නෙ ගොනු කෑ වැල් ගොනිකා කියල ව්‍යවහාර කරන්න පටන් ගත්ත බව. ඒ කියන්නෙ කකුල් කැඩිල ඇවිදින්න බැරිව කොර වෙච්ච ගොනෙක් මේ වැල් ආහාරයට ගැනීමෙන් ඇවිදගන්න පුළුවන් තත්ත්වයට පත්වීම නිසා, මේ වැල්වල තිබ්බිච්ච ඖෂධීය ගුණය සළකා බලල ගොනිකා වැල් කියල හෙළ වෙදකමේ ව්‍යවහාර කරන්න පටන් ගත්තා. ජනප්‍රවාදයේ එහෙම කියවුනත් ගමේ ගොඩේ අද කවුරු හරි ගොනිකා හොයනකොට විහිළුවට වගේ අහන්නෙ, ඇයි පොලිසියෙන් ගුටි කෑවද කියල. ඒ ගොනිකාවල තියෙන අර කියන ඖෂධීය ගුණය නිසා. මොකද හෙළ වෙදකමේදි තැලීම්, ඉදිමීම්, උළුක්කු වීම්, මස් පිඬු පෙරළීම්, අස්ථි පිපිරීම් හා අධික වේදනාවන්ට ගන්න ප්‍රධාන අත්‍යවශ්‍ය ඖෂධයක් තමයි ගොනිකා.

සාමාන්‍යයෙන් ඕනෑම ගහක කොළයක් කඩාගෙන බාගයක් කපල ඉවත් කරල, නවීන විද්‍යාවේ එන කිරිලියන් වගේ දියුණු කැමරාවකින් ඒ කපපු කොළයේ ඡායාරූපයක් ගත්තම, අර ඉවත් කරපු බාගයත් එක්ක සම්පූර්ණ කොළයම ඡායාරූපයේ විද්‍යමාන වෙනවා. මොකද අපේ මස් ලේ ඇහැට විද්‍යමාන වෙන භෞතික කොළය කැපිල ගියාට ඒකෙ කිරණමය කොටස කැපිල ඉවත් වෙන්නෙ නෑ.

ගොනිකාවල තියෙන සුවිශේෂීය ගුණය තමයි, ශරීරයේ යම් යම් අවයවයන් කැඩිච්ච, බිඳිච්ච අවස්ථාවල ඒ කිරණවලින් හැදිල තියෙන ශරීරයේ කොටස් යථා තත්ත්වයට පත් කිරීමේ හැකියාව. ඒ කියන්නෙ මස් ලේ කය කැඩිල බිඳිල තැලිල පොඩි වෙලා තිබුනත් කිරණය කයට එහෙම වෙන්නෙ නැති නිසා, ඒ කිරණ කයට අවශ්‍ය විදිහට මස් ලේ කය යථා තත්ත්වයට පත් කිරීමේ හැකියාව. තැලිච්ච පොඩි වෙච්ච මස් හා නහර වහාම පෙර තිබ්බිච්ච තත්ත්වයට පත් කිරීමේ හැකියාව. බටහිර විද්‍යාවේ දෙන වේදනා නාශකවලින් කෙරෙන කාර්ය භාරය හෙළ වෙදකමේදි අතුරු ආබාධයකින් තොරව මේ ගොනිකා සහ වෙනිවැල්ගැටවලින් සිද්ධ කෙරෙනවා. ඒ වගේම තුන් දොස් සමනය කිරීමේ හැකියාවත් ගොනිකාවල තියෙනවා. ශරීරයේ තුන් දොස් කිපීමක් ඇති වුනොත්, මලපහ මගින් බැහැර කරල බහිස්‍රාවී පද්ධතියත් සක්‍රීය කරනවා. ඒ වගේම වයස්ගත වෙනකොට හන්දිවල වියළීමෙන් ඇතිවෙන වේදනාවලටත් යෝග්‍යයි.

ආහාරයක් වශයෙන් ගොනිකා ඉතාම රසවත් ව්‍යංජනයක්. සාමාන්‍ය පලා මැල්ලුමක්, ව්‍යංජනයක් සකස් කරන ආකාරයට හදාගෙන ආහාරයට ගන්න පුළුවන්. සාමාන්‍ය කොළ කැඳක් වශයෙනුත් ආහාරයට ගන්න පුළුවන්. නැත්නම් එළවළු සුප් හදනකොට අතිරේකයක් වශයෙන් එකතු කරගන්න පුළුවන්. ගොනිකා කොළ මඳක් ඇඹුල් රස නිසා සම්බෝලයක් විදිහටත් සකස් කරල ආහාරයට ගන්න පුළුවන්. මේ මොන ආකාරයට

›

---

මහණෙනි, කවර කරුණින් "සංඛාර" කියන්නේය යත්, සංඛත කොට අභිසංකරණ කෙරෙත්නුයි එයින් සංඛාරයි කියනු ලැබේ. කවර කරුණින් සංඛතය අභිසංකරණය කෙරේද යත්, රූපය රූපය පිණිසද, වේදනාව වේදනාව පිණිසද, සංඥාව සංඥාව පිණිසද, සංඛාර සංඛාර පිණිසද, විඥ්ඥාණය විඥ්ඥාණය පිණිසද සංඛත කොට අභිසංකරණය කෙරෙයි...

5. කිංච භික්ඛවේ විඤ්ඤාණං වදේථ. විජානාතීති බෝ භික්ඛවේ තස්මා විඤ්ඤාණන්ති වුච්චති. කිංච විජානාති. අම්බිලම්පි විජානාති, තිත්තකම්පි විජානාති, කටුකම්පි විජානාති, මධුරකම්පි විජානාති, ඛාරිකම්පි විජානාති, අඛාරිකම්පි විජානාති, ලෝණිකම්පි විජානාති, අලෝණිකම්පි විජානාති...

මහණෙනි, කවර කරුණින් විඥ්ඥාණය කියන්නේද යත් "විජානන" කෙරේ නුයි එයින් විඥ්ඥාණ යයි කියනු ලැබේ. කවර කරුණින් විජානන කෙරේය යත් ඇඹුලද, තිත්තද, කටුක රසද, මධුර රසද, කර රසද, නොකර රසද, ලුණු රසද, නොලුණු රසද විජානන කෙරේ...

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

හදල ආහාරයට ගත්තත් ඉහත සියලු රෝගී තත්ත්වයන්ට ගුණදායකයි.

**ලුණුවිල** : ඉර එළිය හොඳින් වැටෙන තෙතමනය තියෙන තැන්වල ස්වභාවයෙන්ම හැදෙන පළා වර්ගයක්. ඉස්සර හැම ගෙවත්තකම ලුණුවිල වගාවක් දකින්න ලැබුනෙ මේ ඖෂධීය ශාකයේ තියෙන වටිනාකම නිසාමයි. නිතර රැඳෙන තෙතමනය නිසා බොහෝකොටම එළිමහනේ තියෙන වළංමැස්ස ආශ්‍රිතව තමයි ලුණුවිල වගා කළේ. අද වළංමැහි දකින්න නැති නිසා ඒ ආශ්‍රිත වගාවන් දකින්නත් නෑ.

ලුණුවිල ශරීරය සිසිල් කරන ගුණයෙන් යුක්තයි. දරුවෙක් බඩට ඇතුල් වෙලා මාස 4 - 5 ක් ගියාම ඒ මව නිතර ලුණුවිල ආහාරයට එකතු කර ගත්තම, ලැබෙන දරුවා නිරෝගී මානසික වර්ධනයකින් යුක්ත දරුවෙක් විදිහට මෙලොව එළිය දකිනවා. ඒ වගේම මානසික රෝගී තත්ත්වයන්ගෙන් පෙළෙන අයට වගේම, මන්ද මානසිකත්වයෙන් යුක්ත කුඩා දරුවන්ට ලුණුවිල බහුලව ආහාරයට එක් කරල දීමෙන් ඒ තත්ත්වය යම් තාක් දුරකට මග හරවා ගන්න පුළුවන්. ලුණුවිලවල තියෙන ඖෂධීය ශක්තියට මොළය වර්ධනය කිරීමේ මනා හැකියාවක් තියෙනවා. ඒ වගේම රෝගී තත්ත්වයන් නැති සාමාන්‍ය අයටත් ලුණුවිල ආහාරයට එකතු කර ගැනීමෙන් මේ ඖෂධීය ශක්තිය ඔවුන්ටත් ලැබෙනවා. විශේෂයෙන් මතක ශක්තිය සහ ස්නායු වර්ධනය කිරීමේ හැකියාව නිසා ඉගෙන ගන්න ළමයින්ට වගේම නිතර මොළේ වෙහෙසවල වැඩ කරන අයටත් ලුණුවිල ආහාරයට එකතු කර ගැනීම ඉතා යෝග්‍යයි.

ඒ වගේම මාංශ පේශීන්ගේ තදවීම්, කෙන්ඩා පෙරලීම්, ආහාර අජීර්ණ දෝස, පෙණහළු රෝග, ලේ දෝස, පණු අමාරු, මලබද්ධය තියෙන අයටත් ලුණුවිල ආහාරයට ගැනීමෙන් ඒ තත්ත්වය මග හරවා ගන්න පුළුවන්. දරුවෙක් උපන් මුල් කාලයේ කිරි දෙන මව්වරුන්ට හිස කෙස් ගැලවී යාම, දත් මුල් දියවීම, සමේ වර්ණය අව පැහැ ගැන්වීම... ආදී තත්ත්වයන් තාවකාලිකව එන්න පුළුවන්. ලුණුවිල ආහාරයට එකතු කර ගැනීමෙන් ඒ තත්ත්වයන් මග හරව ගන්න පුළුවන්.

ලුණුවිල සාමාන්‍ය කැඳක් විදිහට සකස් කරල ආහාරයට ගන්න පුළුවන්. එහෙම නැත්නම් පලා ව්‍යංජනයක් සකස් කරන ආකාරයටත් හදාගන්න පුළුවන්. හීන් වෙන්න ලියල ලූණු, ගම්මිරිස්... ආදිය දාල අමුවෙන් සම්බෝලයක් විදිහටත් පාවිච්චි කරන්න පුළුවන්. පරිප්පු සමග එකතු කරල ව්‍යංජනයක් විදිහටත් සකස් කරගන්න පුළුවන්. ඊට අමතරව තම්බල පානය කරන්නත් පුළුවන්.

**අවර** : වැට මායිම්වල ස්වභාවයෙන්ම හට ගන්නා වැල් වර්ගයක්. ඖෂධීය වටිනාකම ඉතා ඉහලයි. අඩියක් එකහමාරක් තරම් දිගට ළා කොළ පාට, සුදු පාටට හුරු දම් පාටට මල් පිපෙන කරල් 3 - 4 ක පොකුරක් විදිහට හැදෙන ශාකයක්. ඒ ළපටි කරල් දඹල මාළුවක් පිහින ආකාරයට සකස් කරල ආහාරයට ගන්න පුළුවන්. ඇට තම්බල කන්නත් පුළුවන්. හෙළ වෙදකමේදී රෝගය නිශ්චිතව හඳුනගන්න බැරි වුනාම, ඒ රෝගය යම් විදිහකට මතු කර ගැනීමේ ශක්තියක් අවරවල තියෙනවා. අවර වැඩිපුර ආහාරයට ගැනීමෙන් සුළු නිදිමත ස්වභාවයක් ඇතිවෙනවා. ඒක යම් කිසි ආකාරයක මත්වීමක් විදිහටත් හඳුන්වනවා.

ඒ වගේම හෘදය වස්තුව යථා තත්ත්වයට පත් කිරීමේ හැකියාවත්, අධි රුධිර පීඩනය පාලනය කිරීමේ හැකියාවත් තියෙනවා. පණු අමාරුවලටත් ප්‍රත්‍යක්ෂ ඖෂධයක්. අද සමාජයේ ඒ තරම් දකින්න නොතිබුනත්, එදා ඉතා විසාල බඩවල් සහිත, අතපය ඉතා කෙසඟ දරුවන් ඉඳල තියෙනවා. ඒ වගේ දරුවන්ට අවර තම්බල එන වතුර බොන්න දීමෙන් මලපහ සමග ඉතා විසාල පණුවන් පිට වෙන බව දකින්න තිබුනා. ඒ තමයි මාන්දම කියන රෝගී තත්ත්වය. මේ විදිහට දින කිහිපයක් අවර තම්බල වතුර බොන්න දීමෙන් ඒ රෝගී තත්ත්වය පාලනය වෙලා ශරීරයට දෙන ඖෂධ ප්‍රත්‍ය වෙලා රෝගය සුව වෙනවා. සීතල ගුණයෙන් යුක්ත ආහාරයක් නිසා ශරීරයේ දැවිලි, පිත් රෝග, තුවාල වණ ඉක්මනින් සුව කිරීමේ ගුණයෙන් යුක්තයි. ඒ වගේම අවර ආහාරයට ගැනීමෙන් මානසික ඒකාග්‍රතාවය ඇතිවෙනවා.

ළපටි අවර කරල් හීන් වෙන්න ලියාගෙන පතෝල මාළුවක් හදන ආකාරයට සකස් කරල ආහාරයට ගන්න පුළුවන්. එහෙම නැත්නම් පිරිසිදු තෙල් ටිකක් ලිපේ තියල රත්වෙනකොට රම්පෙ, කරපිංච, සුදු ළූණු... ආදිය එකතු කරල රන්වන් පාට වෙනකල් බැදගෙන ඒකට අවර එකතු කර ගැනීමෙන් රසවත් බැදුමක් විදිහටත් පිළියෙල කරගන්න පුළුවන්. ඒ වගේම එළවළු තම්බන ආකාරයට තම්බගෙන ලූණු, ගම්මිරිස් කුඩු ටිකක් එකතු කරල පොල් සමග ආහාරයට ගන්නත් පුළුවන්. ඒ වගේම අවර දළු මැල්ලුමක්, ව්‍යංජනයක් විදිහට ආහාරයට ගන්න පුළුවන්.

**පුහුල්** : සාමාන්‍ය පුහුල්, හැලි පුහුල්... ආදී වශයෙන් වර්ග කිහිපයක් තියෙනවා. හැලි පුහුල් ගෙඩියේ අග මුල එක හා සමානව විසාල ගෙඩි විදිහට බිම හැදෙනවා. සාමාන්‍ය පුහුල් නම් වැලක් ආකාරයට උඩට ගිහින්, නටුව පැත්ත කුඩාවටත් පහටිය පැත්ත විසාලවත් උඩක හැදෙනවා. ඒ වර්ගය තොවිල් පවිල්වලට සහ ගුරුකම්වලටත් යොදා ගන්නවා. නමුත් මේ වර්ග දෙකම ආහාරයට ගන්නවා. පුහුල් සාමාන්‍යයෙන් හේනක හෝ කොටුවක වැට දිගට යන්න හෝ මනුස්සයින් නිතර දකින තැනක හෝ හැදෙන්න සලස්වනවා. ඒකෙන් බලාපොරොත්තු වෙන්නෙ ඇස්වහ, කටවහ, හෝවහ කියන තුන් ආකාරයේ ආරක්ෂාව ලබා ගැනීමත්, කෘමි සතුන් ඇතුළු වෙනත් වන සතුන්ගෙන් හේනට / කොටුවට ආරක්ෂාව සපයා ගැනීමත්.

පුහුල් කොළ පොඩි වුනාම වහනය වෙන ගන්ධය කෘමි සතුන්ට හානිදායකයි. ඒ නිසා ස්වභාවික කෘමි විකර්ශකයක් විදිහටත් පුහුල් වැල ක්‍රියා කරනවා.

පුහුල්වල තියෙන විශේෂම ගුණයක් තමයි පරිසරයේ තියෙන විස කළු කිරණ උරා ගැනීමේ හැකියාව. අලුතෙන් නිවසක් හදනකොට හැමෝටම පේන්න පුහුල් ගෙඩියක් එල්ලල තියන්නෙත් පිට කෙනෙක්ගෙන් එල්ල වෙන රාග, ද්වේශ, මෝහයන්ගෙන් යුත් කළු කිරණ ඒ පුහුලට උරාගෙන විනාස කරන නිසා.

පුහුල් ගෙඩිය පිට පැත්තෙ සුදු පාටට හුරු අළු වගේ කුඩක් තියෙනවා. ඒ කුඩු කොච්චර පිහ දැම්මත් නැවත නැවතත් මතු වෙලා එනවා. අවුරුදු ගණනාවක් ගියත් ඒ ක්‍රියාවලිය ඒ විදිහටම සිද්ධ වෙනවා. එහෙම වෙන්නෙ බාහිර පරිසරයේ තියෙන කළු කිරණ පුහුල විසින් උරාගෙන සුදු කිරණ විතරක් පිට කරන නිසා. ඒ වගේම මේ ලෝකයේ ස්වභාවික ශක්තියක් එක්තැන් කරන්න පුළුවන් ශාක සහ වෙනත් ද්‍රව්‍ය වස්තු තියෙනවා. උදාහරණයක් විදිහට දෙහි, හොඬල, කදුරු, අහු, ජලය, තෙල්... ආදිය හඳුන්වන්න පුළුවන්. ඒ අතරින් පුහුල් විශේෂයි. ශාන්ති කර්ම ආදියට පුහුල් යොදාගන්නෙත් ඒ නිසා.

පුහුල්වල තියෙන තවත් විශේෂම ගුණයක් තමයි තුන් දොස් සමනය කිරීමේ හැකියාව. පුහුල් බොහෝකොටම හැදෙන්නෙ වියළි කලාපයේ. ඒ ප්‍රදේශවල තියෙන වියළි දේශගුණය තුල මනුස්සයින්ට රෝග ඇතිවීමේ ප්‍රවණතාවය ඉහලයි. පිරිසිදු පානීය ජලය නැතිවීම, කාෂ්ට පරිසරය... ආදී තත්ත්වයන් තුල ශරීරයේ, විශේෂයෙන් වකුගඩු සහ මුත්‍රා මාර්ග පද්ධතිය තුල කැල්සියම් වගේ අපද්‍රව්‍ය තැන්පත් වීම තුලින් වකුගඩු රෝග, මුත්‍රා ගල්, මුත්‍රා මාර්ගය ආශ්‍රිත විවිධ සංකූලතා ආදිය හට ගන්න පුළුවන්. ඒ තත්ත්වයන් මග හරවා ගන්න පුළුවන් විශේෂ ගුණයක් පුහුල්වල තියෙනවා.

විශේෂ ගුණයක් තමයි තෙල්, මිරිස්... ආදිය බහුල ආහාර සහ උෂ්ණ ආහාර අනුභවය කිරීම නිසා ඇතිවෙන අජීර්ණ, ආමියා දෝස, දැවිල්ල, ආසාත්මිකතාවය ආදිය හට ගත්තම පුහුල් ආහාරයට ගැනීමෙන් ඒ රෝගී තත්ත්වයන් මග හරවා ගන්න පුළුවන්. අදටත් වියළි කලාපයේ සමහර ප්‍රදේශවල මගුල් තුලාවලදී, දානමය පිංකම් ආදියෙදි පුහුල් මාළුවක් නැත්නම් ආහාර නොගෙන යන සිරිතක් තියෙනවා.

ඒ වගේම පුහුල්වලින් ආමාශයේ, කුඩා බඩවැලේ සිට මහ බඩවැලේ අග කෙළවර දක්වාම ශ්ලේෂ්මල පටලයත් සමග තියෙන සියලු අපද්‍රව්‍ය හා විස වර්ග වහා පිරිසිදු කර ක්ෂණිකවම යථා තත්ත්වයට පත් කිරීමේ හැකියාවක් තියෙනවා. ඒ වගේම අම්ල පිත්ත ප්‍රදාහය උග්‍ර වීමෙන් හට ගන්නා ආමාශයේ තුවාල වහා සුව කිරීම, එන්සයිම ක්‍රියාකාරීත්වය යථා තත්ත්වයට පත් කිරීම... ආදී ගුණයෙන් යුක්තයි. අග්න්‍යාශය, වකුගඩු... ආදියේ යම් අපද්‍රව්‍ය තැන්පත් වීමක් හෝ වෙනත් සංකූලතා තියේනම් ඒවා ක්‍රමානුකූලව ඉවත් කිරීමේ ගුණයක් පුහුල්වල තියෙනවා. මොළය සහ හදවත ආශ්‍රිතව ඇතිවෙන ක්‍රියාවලි සමනය කිරීමේ ගුණයෙන් යුක්තයි. අධි මානසික පීඩනය දුරු කිරීම, කේන්තිය පාලනය කිරීම, චිත්ත ඒකාග්‍රතාවය පවත්වාගෙන යාමට උපකාරී වීම... ආදිය පුහුල් නිතර ආහාරයට ගැනීමෙන් සිද්ධ වෙනවා.

සාමාන්‍ය ලබු මාළුවක් උයන ආකාරයටත්, කැඳක් විදිහටත්, පුහුල් දෝසි විදිහටත් හදල ආහාරයට ගන්න පුළුවන්.

**වෙල් අල කොළ :** අත්හැරල දාපු, පුරං වෙච්ච කුඹුරුවල, දෙපා දිය අගල් අසල ස්වභාවයෙන්ම වැඩෙන හබරල වර්ගයට අයත් ශාකයක්. නිකං බැද්දට හැදෙන නිසා වල් හබරල වර්ගයක් කියල අද ඉන්න හුඟ දෙනෙක් මේ ශාකය ගැන නොසළකා හැරියත්, මේවායේ කොළවල ඖෂධීය වටිනාකම ඉතා ඉහලයි. අර්ශස්, භගන්දරා... ආදී රෝගවලටත්, අම්ල පිත්ත ප්‍රදාහයටත්, ඒ අනුසාරයෙන් ආමාශයේ සහ මහ බඩවැලේ ඇතිවෙන තුවාලවලටත්, මලබද්ධයටත් විශේෂයි. ඒ වගේම රක්තවාතය නිසා හට ගන්නා අත්පා පැලීම්, රක්ත උෂ්ණය පාලනය කිරීමේ ගුණයෙන් යුක්තයි. දොස් කිපුනම සමබර කිරීමේ ගුණයෙන් යුක්තයි. ආහාර ජීර්ණයට අවශ්‍ය එන්සයිම නිසි පරිදි ආමාශය කරා ස්‍රාවය කරල ආහාර ජීර්ණය පහසු කරන්න ඉවහල් වෙනවා.

ඒ වගේම ඉරුවාරදය රෝගයටත් ගුණදායකයි. අර්ශස් රෝගයෙදි මහ බඩවැල තුල හට ගන්නා ගෙඩි තදවීම නිසා මලබද්ධය ඇති වෙනවා. ඒකෙ අතුරු ප්‍රතිඵල විදිහට හිසරදය හට ගන්නවා. එතකොට කේන්ති යාම, හිස බර ගතිය, කෙනෙක් කතා කරනකොට නුරුස්සන ස්වභාවය එන්න පුළුවන්. මෙන්න මේ වගේ අවස්ථාවන් පාලනය කිරීමේ හැකියාවත් වෙල් අල දළුවල තියෙනවා. ළපටි දළු (ගොබ) සාමාන්‍ය මැල්ලුමක් ආකාරයටත්, එළවළු ව්‍යංජනයක් ආකාරයටත් අවශ්‍ය නම් තෙම්පරාදු කරලත් හදාගෙන ආහාරයට එකතු කරගන්න පුළුවන්.

**මදටියා කොළ :** ඕවිටි, බඩවැටි, වෙල් ඉවුරු සහ ඉඩම් මායිම්වල පහසුවෙන් ස්වභාවිකව හැදෙන ශාකයක්. හෙළ වෙදකමේදි මදටිය කොළ, දළු, මුල්, පොතු, ඇට, කරල් මේ සියල්ලම යොදා ගන්නවා. මදටිය දළු ආහාරය සඳහා එක් කර ගැනීමෙන් රුධිරයේ සීනි මට්ටම අඩු වෙනවා. මධුමේහය / දියවැඩියා කියන රෝගී තත්ත්වය පාලනය කරනවා. අධි රුධිර පීඩනය පාලනය කිරීමේ හැකියාවකුත් තියෙනවා. නමුත් දිනපතා ආහාරයට එකතු කර ගැනීමත් සුදුසු නෑ. මොකද රුධිරයේ සීනි මට්ටම අසාමාන්‍ය විදිහට පහල ගිහින් කෝමා ස්වභාවයක් ඇතිවෙන්න ඉඩකඩ තියෙන නිසා. ඒ නිසා සතියකට වරක් දෙවරක් ආහාරයට එකතු කර ගැනීම වරදක් නෑ.

සාමාන්‍ය මැල්ලුමක් විදිහටත්, එළුණු, කරපිංචා... ආදිය සමග බැදුමක් විදිහටත්, කලවම් කොළ කැඳක් හෝ සාමාන්‍ය සම්බෝලයක් ආකාරයටත් ආහාරයට ගන්න පුළුවන්.

**කැහිබිත්තං කොළ :** බඩවැටි, ඕවිටි, වැට මායිම්, ලඳු කැලෑවල ස්වභාවයෙන්ම වැවෙන වැල් වර්ගයක්. හෙළ වෙදකමේදි වැල සහමුලින්ම ඖෂධ සඳහා යොදා ගන්නවා. පපුවේ මහන්සිය, ඇදුම, සුව නොවන වියළි කැස්ස, රාත්‍රියට හුස්ම ගැනීමේ අපහසුව, උගුරේ සෙම් ගෙඩි නිසා ඇතිවෙන අපහසුතා... ආදියට හෙළ වෙදකමේදි අරිෂ්ට හදාගන්නත් කැහිබිත්තං කොළ යොදා ගන්නවා. අනෙක් සුවිශේෂී ගුණය තමයි **අම්ල පිත්ත ප්‍රදාහය නිසා හට ගන්නා බඩේ තුවාල, දැවිල්ල, වමනය යාම නිසා එන උගුර බඩ දැවිල්ල වහා සුව කිරීමේ හැකියාව. ආමාශයේ ආම්ලිකතාවය ඉහල යාම නිසා අංගුලිකාවල ශ්ලේෂ්මල ගැලවිලා යනවා. එතකොට ඒවාට ආමාශයික යුෂ එකතු වීමෙන් මහා දැවිල්ලක් හට ගන්නවා. ඒ තත්ත්වය වහා සමනය කිරීමේ හැකියාවක් කැහිබිත්තං යුෂවලට තියෙනවා. ඒ වගේ තත්ත්වයක් ඇති වුනාම කැහිබිත්තං වැල් මිටක් අරගෙන කොටල එන ඉස්මට ලුණු බිංදු 2 - 3 ක් එකතු කරල, අවශ්‍යනම් තව් මැරෙන්න යන්තම් රත් කරල පානය කිරීමෙන් ක්ෂණිකවම ඒ වේදනාවන් සමනය වෙනවා. කිසිම අතුරු ආබාධයක් නෑ.**

ඒ වගේම යම් කිසි ගින්නකින් හෝ අම්ලයකින් පිළිස්සුම් තුවාල ඇතිවෙලා තියෙන අවස්ථාවලත් දිය පට්ට ඇවිත් පිපිරිලා තුවාල හට ගන්න පුළුවන්. ඒ තුවාලවලට කැහිබිත්තං කොළ ඉස්ම සමග මිදෙල්ල පට්ට ඉස්ම ටිකක් එකතු කරල ගැල්වීමෙන් වේදනාවන් දුරු වෙලා, තුවාල කබොලක් එනවා. මේ ක්‍රමය දිනපතා කිරීමෙන් සම්පූර්ණයෙන් සුව වෙනවා. ඒ වගේම ශරීරයේ පිත කිපුනම සමනය කිරීමේ ගුණයෙන් යුක්තයි.

මිශ්‍ර කොළ මැල්ලුමක් විදිහටත්, සහමුලින්ම කොටාගෙන සාමාන්‍ය කැඳක් ආකාරයටත්, වේළල කුඩු කරල තියාගෙන තේ කහටවලට ආදේශකයක් විදිහටත් (අම්ල පිත්ත ප්‍රදාහය තියෙන අයට විශේෂයි) භාවිතා කරන්න පුළුවන්. නැත්නම් කොළ විතරක් හීන් වෙන්න ලියාගෙන සාමාන්‍ය සම්බෝලයක් හදන ආකාරයටත් භාවිතා කරන්න පුළුවන්. ඒ වගේම කැහිබිත්තං කොළ වැඩිපුර හොයාගන්න පුළුවන් නම් ඒ සියල්ල කොටල මිරිකගෙන එන මිශ්‍රණයට ලුණු ටිකක් සමග අවශ්‍ය ප්‍රමාණයට සීනි ටිකක් එකතු කරල ශීතකරණයක තැබීමෙන් ජෙලි ආකාරයට අතුරුපසක් විදිහටත් ආහාරයට ගන්න පුළුවන්.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

## පින්වතුන්ගේ දැන ගැනීම පිණිසයි.

දැනට වෙළඳපොළේ මුද්‍රණ කඩදාසි ඇතුළු ඒ හා ආශ්‍රිත නිෂ්පාදනවල මිල ගණන් ඉතා ඉහළ ගොස් ඇති බැවින් මෑතක සිට හෙළ බොදු පියුම දහම් සඟරාවේ මුද්‍රණ පිරිවැයද අසාමාන්‍ය ලෙස වැඩි වී ඇත.ඒ හා සමගාමීව පසුගිය කලාපවල නැවත මුද්‍රණ වියදම්ද ඉහළ ගොස් ඇත. මේ දක්වා එළි දක්වන ලද සියළුම සඟරා කලාපද ලබා ගැනීමට හැකිවන අයුරින් නැවත මුද්‍රණය කර ඒ සඳහා වෙනම සඟරා ගබඩාවක්ද පවත්වාගෙන යෑම සිදු කරන බැවින් සමස්ත වියදම වැඩි වී ඇත. එහෙත් මෙම සඟරාව කිසිදු මූල්‍යමය ලාභයක් බලාපොරොත්තුවෙන් කරන්නක් නොවන නිසාත්, පින්වතුන් ලබාදෙන මූල්‍ය පුණ්‍යාධාර නිසාත් තවත් හැකිතාක් කාලයක් රු. 25/= මිලකට ලබා දීමට තීරණය කර ඇත.

# පෙළ දහමේ සැඟවුණු තැන් සොයා...



12 වන කොටස

**සංයුක්ත නිකාය - 2**

**සත්ත ධාතු සූත්‍රය - 234 පිටුව**

තවත් ආකාරයකට විග්‍රහ කෙරෙන ධාතු 7 කි. ආලෝක, සුභ, ආකාසානංචායතන, විඤ්ඤාණංචායතන, ආකිංචඤ්ඤායතන, නේවසංඥානාසංඥායතන, සංඥාවේදයිත නිරෝධ යන 7 යි.

මේවායින් ආලෝක ධාතුව අඳුර නිසා පැන නැගේ. සුභ ධාතුව අසුභ ධාතුව නිසා පැන නැගේ. ආකාසානංචායතනය රූපය නිසා පැන නැගේ. විඤ්ඤාණංචායතනය ආකාසානංචායතනය නිසා පැන නැගේ. ආකිංචඤ්ඤායතනය විඤ්ඤාණංචායතනය නිසා පැන නැගේ. නේවසංඥානාසංඥායතනය ආකිංචඤ්ඤායතනය නිසා පැන නැගේ. සංඥාවේදයිත නිරෝධ ධාතුව නිරෝධය නිසා පැන නැගේ.

මෙයින් ආලෝක, සුභ, ආකාසානංචායතන, විඤ්ඤාණංචායතන, ආකිංචඤ්ඤායතන යන මේ ධාතූහු සංඥා සමාපත්ති නම්ව පැමිණිය යුතුය. නේවසංඥානාසංඥායතන ධාතුව සංඛාරාවශේෂ සමාපත්ති නම්ව පැමිණිය යුතුය. සඤ්ඤාවේදයිත නිරෝධ ධාතුව නිරෝධ සමාපත්ති නම්ව පැමිණිය යුතුය.

**සනිදාන සූත්‍රය - 236 පිටුව**

බුදුපිය දෙසුමකි. කාම, ව්‍යාපාද, විහිංසා විතර්ක ප්‍රත්‍ය සහිතව උපදී. රහිතව නූපදී. කාම ධාතුව නිසා කාම සංඥාවත්, ඒ නිසා කාම සංකල්පයත්, ඒ නිසා කාමච්ඡන්දයත්, ඒ නිසා කාම පරිදාහයත්, ඒ නිසා කාම පරේයෂණයත් උපදී. කාම පරේයෂණය සොයන නූගත් පුහුදුන් තුන් දොරින් වරදවා පිළිපදී.

විහිංසා ධාතුවෙන්ද එබඳු සංඥා, සංකල්ප, ඡන්ද පරිදාහ, පරේයෂණ උපදී. විහිංසා පරේයෂණ කරන නූගත් පුහුදුන් තුන් දොරින් වරදවා පිළිපදී. ව්‍යාපාද ධාතුව නිසාද එසේමය. ඇවිලගත් ගිනි හුලක් වියළි තණ ඇති තැනෙක දැමූ විට එහි ඇති ප්‍රාණීන් වැනසෙන සේ ඉහත කී කාම, ව්‍යාපාද, විහිංසා වහාම නැගෙන තැනම දුරු නොකළොත් මෙලොවද පීඩා විඳ මතු දුගතියද කැමති විය යුතුය.

නෙක්ඛම්ම, අව්‍යාපාද, අවිහිංසා විතර්කද ප්‍රත්‍ය සහිතය. රහිත නොවේ. ඒ ධාතු තුන නිසා අනුකූල වූ සංඥා, සංකල්ප, ඡන්ද, පරිදාහ, පරේයෂණ උපදී. සෘතවත් අරිසච්චා තිදොරින් මැනවින් පිළිපදී.

පෙර සේම ගිනිහුල වහා නිව්වොත් ඒ තැන ප්‍රාණීන් විනාස නොවන්නා සේ, යමෙක් විසම බවට පත් අකුසල සංඥාව වහා දුරු කෙරේද, බැහැර කෙරේද, මුලු සුන් කෙරේද, නැවත නොහට ගන්නා ලෙස පමුණුවාද, එවිට මේ අත්බැව්හි පීඩා ආයාස පරිදාහ රහිතය. පරලොව සුගති කැමති විය යුතුය.

**ගිඤ්ජ කාවසථ සූත්‍රය - 238 පිටුව**

බුදු රජුන් මෙසේ දෙසූ සේක. මහණ, ධාතු නිසා සංඥා, දෘෂ්ටි, විතර්ක උපදී. එක් හිමි නමක් මෙසේ ඇසීය. ස්වාමීනි, සම්මා සම්බුදු නොවූවන්ට එසේ වී යයි දිටුවක් කෙසේ උපදීද? මහණ, අවිද්‍යා ධාතුව මහත්ය. හීන ධාතු නිසා හීන වූ සංඥා, දෘෂ්ටි, විතර්ක, චේතනා, ප්‍රාර්ථනා, ප්‍රනිධි, පුද්ගලයා, වචන උපදී. හීන වූවක්ම කියයි. පනවයි. පිහිටුවයි. විවෘත කරයි. බෙදයි. උඩුහුරු කරයි. ඔහුගේ ඉපැත්ම හීනය. මධ්‍යම ධාතු හා ප්‍රණීත ධාතුද මෙසේ විග්‍රහ කළ යුතුයි.

**සගාථ සූත්‍රය - 244 පිටුව**

සත්ත්වයෝ අදහස් වශයෙන් සැසඳෙන, එකතු වන අයුරු පෙන්වයි. මල මල සමග, මුත්‍ර මුත්‍ර සමග, කෙළ කෙළ සමග, සැරව සැරව සමග, ලෙය ලෙය සමග ගැලපෙන සේ තුන් කල්හිම ළාමකයෝ ළාමකයන් සමග එක් වෙති. කිරි, තෙල්, ගිතෙල්, මී, පැණි ඒ ඒ දේ සමග එකතු වන ලෙස කළණ අදහස් ඇත්තන් කළණ අදහස් ඇත්තන් සමග එක් වේ.

**අස්සද්ධ සූත්‍රය - 246 පිටුව**

අස්සද්ධයින් (ශ්‍රද්ධාව නැත්තන්) අස්සද්ධයින් සමග, අලජ්ජීන්, පවට බිය නැත්තන්, නූගතුන්, කුසීතයින්, මුළා සිහි ඇත්තන්, අනුවණයන් ඒ ඒ පිරිස් සමග එකතුවෙත්, සැසඳෙත්. තුන් කල්හිම මෙසේය.

**පුබ්බ සූත්‍රය - 264 පිටුව**

බුදු රජුන් සම්බෝධියට පෙරම ධාතු හතරේ ආස්වාදය, ආදීනවය නිස්සරණය සිහි කළේය. පඨවි ධාතුව නිසා යම් සුවයක් සොම්නසක් වී නම් ඒ එහි ආස්වාදයයි. ඒ ධාතුවෙහි යම් අනිච්ච, දුක්ඛ, විපරිනාම ධර්මයක් වේද ඒ ආදීනවයයි. ඒ පඨවි ධාතුවෙහි යම් ඡන්ද රාග විනයක්, ඡන්ද රාග ප්‍රහාණයක් වේ නම් ඒ නිස්සරණයයි. ඉතිරි ධාතු ගැනද මෙසේය. මේ ස්වභාවය තතු සේ අවබෝධ කර බුදු වූ බව ලොවට ප්‍රකාශ කළේය.

**අභිනන්දන සූත්‍රය - 272 පිටුව**

යමෙක් පඨවි ධාතුව පතාද හෙතෙම දුක පතයි. යමෙක් දුක පතාද හේ දුකෙන් නොමිදේ. ධාතු 4 ටම මෙසේය. යමෙක් නොපතාද හේ දුක නොපතයි. හේ දුකින් මිදේ.

<u>උප්පාද සූත්‍රය - 272 පිටුව</u>

පඨවි ධාතුවේ යම් උපතක්, පැවැත්මක්, නිපැත්මක්, පහල වීමක් වේද, ඒ දුකෙහි ඉපදීමය, රෝගයන්ගේ පැවැත්මය, ජරා මරණයාගේ පහල වීමය. ධාතු 4 ටම මෙසේය.

<u>සමණ බ්‍රාහ්මණ සූත්‍රය - 272 පිටුව</u>

යම් මහණ බමුණෙක් මේ ධාතු හතරේ ආස්වාදයත්, ආදීනවයත්, නිස්සරණයත් තතුසේ නොදනිත්ද, ඔවුන් ශ්‍රමණ බමුණන් අතර එසේ සම්මත නොවෙත්. යම් මහණ බමුණු කෙනෙක් එය දනීද, හේ ශ්‍රමණ බමුණු වන අතර, ශ්‍රමණාර්ථය මේ අත්බැව්හි තමාම දැන ප්‍රත්‍යක්ෂ කර ඊට පැමිණ වාසය කරයි.

<u>සාවක සූත්‍රය - 282 පිටුව</u>

**ගෙවී ගිය කල්ප කියන්න සූකර නොවන බවත් (ගම්‍ය නොවන බවත්), සියවසක් ජීවත්වන, පෙර ගෙවුනු කල්ප දිනකට සිය දහසක් සිහි කරන සව්වන් 4 දෙනෙක් වසර 400 ක් සිහි කළත්, ගෙවුනු කල්ප කෙළවර නොවීම කලුරිය කරනු ඇත. සසර මේ සා අගාධයකි. මිදිය යුතුමය.**

<u>සන්තුට්ඨි සූත්‍රය - 298 පිටුව</u>

කාශ්‍යප හිමියන් ඉතරීතර සන්තුට්ඨියෙන් (ලද දෙයින් සතුටු වී) සිවුපස පරිභෝග කරන අයුරුත්, එහි ගුණත් බුදු රජුන් දේශනා කර අනුගමනය කිරීමට භික්ෂූන්ට අනුසාසනා කළ විස්තරය ඇත.

<u>අනොත්තාපී සූත්‍රය - 300 පිටුව</u>

සැරියුත් හිමියන් මහා කාශ්‍යප හිමියන්ගෙන් මේ පැනය ඇසීය. ඇවැත්නි, කොපමණකින් කෙලෙස් තවන වැර නැත්තේ පවට බිය නැත්තේ සම්බෝධිය පිණිස නොනිසිද, (අභබ්බෝ - නොපවතීද යන අරුත ගැලපෙන බව පෙනේ.) වැර ඇත්තේ බිය ඇත්තේ කොපමණකින් නිසිද (භබ්බො). මිච්ඡා වායාමයට බිය විය යුතුය. වීර්ය නොකළ යුතුය. සම්මා වායාමයට නොබිය විය යුතුය. වීර්ය කළ යුතුය. (වැඩි විස්තර සූත්‍රයේ ඇත. කැටි කළ අදහසකි.)

<u>චන්දූපම සූත්‍රය - 302 පිටුව</u>

සඳ උපමා කර නොඇලී නොගැටී නිතර අළුත් වන සඳ මෙන්, කුල සංසර්ගයට නොඇලී ඇසුරු කළ යුතු අයුරු දැක්වේ. බුදු රජුන් අහසෙහි අත සොලවා යමක නොගැටෙන සේ උපමා පෙන්වීය. තමන්ට හෝ අනුන්ට ලැබීමෙනුත් නොලැබීමෙනුත් අකම්පය විය හැකි අය කුලයන්ට එළඹෙන්න සුදුසු බව පෙන්වීය. ලාභාපේක්ෂාවෙන් තොරව හුදෙක් **දයානුකම්පාවෙන් ලෝ සතට යහපත පතා දහම් දෙසීම නියම දේශනය බවද පෙන්වා ඇත.**

<u>කුළුපග සූත්‍රය - 306 පිටුව</u>

කුළුපග වන්න සුදුසු නුසුදුසු භික්ෂුව ගැන පෙන්වයි. මටම දෙත්වා, බොහෝ කොට, ප්‍රණීත වූවක්ම, සකසාම, වහාම දෙත්වායි සිතන භික්ෂුව එසේ නොවන හැම කල්හි පෙළෙයි, දුක්වෙයි, ශෝක වෙයි. එබඳු අදහස් නැතිව එළඹෙන භික්ෂුව කුළුපග වීමට සුදුසුය. කාශ්‍යප හිමි මෙන් විය යුතුය. විස්තර ඇත.

<u>ජින්න සූත්‍රය - 308 පිටුව</u>

මහා කාශ්‍යප හිමියන්ගේ මහළු කාලය පැමිණි බැවින් බුදු රජුන් යම් පහසුකමක් දෙසන ලදද, එනම් පාංශුකූල අතහැර ගැහැවි සිවුරු දැරීම, පිණ්ඩපාත හැර ළඟ බත් ආදිය පිළිගැනීම, ආරණ්‍යයෙන් පිටව බුදු රජුන් ඇසුරේ සිටීම... ආදී පහසුකම් ගැන දෙසූ විට, පෙර පටන් ආරණ්‍ය, පිණ්ඩපාත, පාංශුකූලික... ආදියෙහි යෙදෙමින් ඒවායේ ගුණද කියූ බැවින්ද, ඉහාත්ම සුඛ විහරණය සහ පශ්චිම ජනයාට දෘෂ්ටානුගතියට පැමිණීමේ යහපතද සිතා එසේ පෙර සේම දිවි ගෙවන බව කී විට බුදු රජුන් ප්‍රසංසා කර අනුමත කළේය.

<u>ඕවාද සූත්‍රය - 310 පිටුව</u>

බුදු රජුන් විසින් මහා කාශ්‍යප හිමියන්ට, භික්ෂූන්ට අවවාද අනුසාසනා කරන්න යැයි දැනුම් දුන් විට, දැන් භික්ෂූන් හිතුවක්කාර ගති මෙන්ම නොඉවසන නොකීකරු බැවින් අවවාද නුහුරට ගන්නා බව කියා, භණ්ඩු සහ ආභිඤ්ජිත යන මහණුන් උගත්කම්, කථික බව, මිහිරි හඬ, බොහෝ වේලා ධර්ම දේශනා කිරීම් ආදිය පිළිබඳ තම තමන් උසස් වන්න තරඟ කරන බවත් පැවසූ විට, ඒ භික්ෂූන් ගෙන්වා අවවාද කළ අයුරු ඇත. (වර්තමානයේද මෙවැනි තත්ත්වයක් උද්ගත වී නැත්ද?)

<u>දෙවන ඕවාද සූත්‍රය - 314 පිටුව</u>

පෙර සූත්‍රයේ සේම බුදු රජුන් විසින් කස්සප හිමියන්ට භික්ෂූන්ට අවවාද කරන්නැයි පැවසූ විට ඉහත කී කාරණා කියා, යමෙකුට කුසල් දහම්හි සැදැහැ නැත්ද, හිරි, ඔතප්, වෙර, නුවණ නැත්ද, අවපස සඳ සේ පිරිහේ යනුවෙන් පවසා ඇත. මෙසේ විග්‍රහ කළ විට බුදු රජුන්ද එය අනුමත කළේය.

<u>තෙවන ඕවාද සූත්‍රය - 318 පිටුව</u>

දිනක් මහා කස්සප හිමියන්ට භික්ෂූන් කෙරෙහි අවවාද අනුසාසනා කරන ලෙස බුදු රජුන් දැන්වීය. එවිට උන්වහන්සේ පෙර සිටි භික්ෂූන් ආරණ්‍යයික, පිණ්ඩපාතික... ආදී යහපත් ශ්‍රමණ ගුණ ඇති තෙරවරුන්ට ඉතා ගෞරව සහිත බවත් කීය. ඒ මහත් ගුණයක් බව බුදු රජුන් පවසා ඇත. **දැන් භික්ෂූන් බොහෝ විට ඒ ගුණ නැති බැවින් සිවුපසයෙන් ලාභ, කීර්ති, ප්‍රසංසාවලින් අග්‍ර වූවක්ම උසස් කොට සළකයි. ඔවුන්ට එය දිගු කලක් අහිත පිණිස දුක් පිණිස වේ යැයි දෙසා ඇත.**

<u>භික්ඛුනුපස්සය සූත්‍රය - 326 පිටුව</u>

දිනක් ආනන්ද හිමියන් මහා කස්සප හිමියන්ට මෙහෙණ අසපුවක් කරා යමුයි දැන්වීය. ආනන්ද බොහෝ කටයුතු ඇත, තෙපි යවු යැයි කියූ අතර අනඳ හිමි තුන් වතාවක් ඇරයුම් කළ විට මහ කසුප් හිමි ඇරයුම පිළිගෙන එක් මෙහෙණි අසපුවකට වැඩ පැනවූ අස්නෙහි සිටියහ. භික්ෂුණීන්ට අවවාද අනුසාසනා කළ විට ථුල්ල තිස්ස මෙහෙණ නොසතුටුව අපහාසයක් කළාය. එවිට උන්වහන්සේ නව අනුපූර්ව සමාපත්තියෙන් බුද්ධ ප්‍රසාදය ලැබූ අයුරු අනඳ හිමි සාක්ෂි කොට දේශනා කර, සද්ධන්ත ඇතෙක් තල්පතකින් වසන්න හදනවා වැනි යැයි ථුල්ල තිස්ස වෙත කී විට ඇය බඹසරින් චුත විය.

<u>චීවර සූත්‍රය - 330 පිටුව</u>

මහා කස්සප හිමි ආනන්ද හිමි සමග වූ සාකච්ඡාවකින් පසු ආනන්ද හිමි, තරුණ වූ හික්මීම ප්‍රගුණ නොවූ භික්ෂූන් 30 ක් සමග සැරිසරමින් සිටි කලක ඒ භික්ෂූන් සිවුරු හැර ගිහි බවට පත් විය. මෙය මුල් කරගෙන කුමාරවාදයෙන් ආනන්ද හිමිට කතා කළැයි අමනාප හිත් ඇති ථුල්ල නන්ද නම් මෙහෙණ කස්සප හිමිට ගැරහුම් වදනක් කීය. මෙය මුල් කර තම පැවිද්ද ගැන විස්තර කළ කස්සප හිමි, බුදු රජුන්ගෙන් පැවිදි සම්මතය ලැබූ හැටිද (තමාම කඩ කැපූ සිවුරු හැඳවිත්) දින 7 කින් අරිහත්වයට පත්වූ බවද ආනන්ද හිමිට පැවසීය. නව අනපූර්ව සමාපත්තිය ගැන හැකියාවත්, බුදු රජුන් සමග චීවර මාරු කරගත් විස්තරයත් කියා, හත් රියන් හමාරක ඇතෙක් තල්පතකින් වසනවා වැනි කතා කී විට ථුල්ල නන්ද මෙහෙණ බඹසරින් චුත වූවාය.

***පූජ්‍යපාද වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් දින පොතක සටහන් තබන ලද කරුණු ඇසුරිනි.***

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**



# සෝතාපන්න වීමට සතර ස්ථාන දැකිය යුතුමද?

ලෝකයේ වෙනත් කාල වකවානුවලට වඩා මේ කාලයේ විවිධ දෘෂ්ටි මතවාදයන් හතු පිපෙන්න වගේ ධර්මයේ මුහුණුවරින් කරලියට ඇවිත් තියෙනවා. "අයසාව මලං සමුට්ඨිතං තදුට්ඨාය තමේව ඛාදති" යකඩයෙන් උපන් මලකඩ යකඩයම විනාස කරල දානවා. මේ සාසනය සතර මහා ධාතුවෙන් විනාස නොවන බවත්, සාසනය තුලම පහල වෙන මෝඝ පුරුෂයන් විසින් සසුන විනාස කරල දාන බවත් තථාගතයන් වහන්සේ දේශනා කරල තියෙනවා.

තථාගත ශ්‍රී සද්ධර්මය කියන්නෙ අර්ථ සහිත, ව්‍යඤ්ජන සහිත සර්වාකාරයෙන් සම්පූර්ණ පිරිසිදු උත්තම සත්‍ය මාර්ගයක්. (සාත්ථං සබ්‍යඤ්ජනං, කේවල පරිපුණ්ණං පරිසුද්ධං බ්‍රහ්මචරියං) බුද්ධ දේශනාවේ මේ මේ කොටස් වැඩියි කියල ඉවත් කරන්න හෝ මේ මේ කොටස් අඩුපාඩු සහිතයි කියල අළුතෙන් එකතු කරන්න හෝ අවශ්‍යතාවයක් නෑ. එහෙම කරන්න පුළුවන් සමතෙකුත් ලෝකයේ නෑ.

කුඩා, අනු කුඩා සික්ෂා, සංඝයා කැමති නම් වෙනස් කරගන්න අවසර දෙනව කියල තථාගතයන් වහන්සේ දේශනා කරල තියෙනවා. (ආකංඛමානෝ ආනන්ද සංඝෝ මමච්චයේන බුද්ධානු බුද්දකානි සික්ඛා පදානි සමූහන්තු - දී. නි. 2 - මහා පරිනිබ්බාණ සූත්‍රය - 242 පිටුව)

මේ කුඩා සික්ෂා මොනවද, අනු කුඩා සික්ෂා මොනවද කියල ආනන්ද හාමුදුරුවන්ට තථාගතයන් වහන්සේගෙන් අහල දැනගන්න බැරි වෙලා තියෙනවා. පළවෙනි ධර්ම සංගායනාවෙදි මේ කාරණය සම්බන්ධයෙන් ආනන්ද හාමුදුරුවො තථාගතයන් වහන්සේගෙන් අහගත්තෙ නෑ කියල චෝදනාවකටත් ලක් වුනා.

කුඩා, අනුකුඩා සික්ෂා පද සම්බන්ධව බුද්ධානුමැතියක් ලැබිල තිබුනෙ නැති නිසා, ප්‍රථම සංගීතිකාරක සිවුපිළිසිඹියාපත් මහ රහතන් වහන්සේලා ඒ පිළිබඳව නිගමනයකට එන්නෙ නැතිව, නොපැනවූ දෙයක් පනවන්නෙ නෑ, පැනවූ දෙයක් සිඳින්නෙ නෑ, යමක් යම් සේ පනවල තියෙනවද, ඒක එසේම පිළිපදිනව කියන ක්‍රමවේදයේ පිහිටල කටයුතු කරල තියෙනවා.

එදා වැඩ හිටපු සිවුපිළිසිඹියාපත් මහ රහතන් වහන්සේලා ධර්ම විනය සම්බන්ධව කටයුතු කරල තියෙන්නෙ මේ ආකාරයට. විනය සික්ෂාවක් සම්බන්ධව සංශෝධනයක් පවා කරන්න පුළුවන් සර්වඥයන් වහන්සේ නමකට විතරයි. මේ සාසනයේ රහතන් වහන්සේලාවත් බුද්ධ දේශනාවක් සම්බන්ධව සංශෝධන ඉදිරිපත් කරන්න කටයුතු කරල නෑ.

මහණෙනි, දෙදෙනෙක් තථාගතයන් වහන්සේට අසත්‍යයෙන් චෝදනා කරනවා, දොස් කියනවා. තථාගතයන් වහන්සේ දේශනා කළ කරුණු දේශනා කළේ නැහැයි කියන තැනැත්තත්, දේශනා නොකළ කරුණු දේශනා කළා කියන තැනැත්තත් යන දෙදෙනාය. (අ. නි. 1 - 118 පිටුව)

වර්තමානයේ ඉහත බුදු වදන අනුව, ඇතැම් ගිහි පැවිදි දේශකයන් දැන හෝ නොදැන බුදුන් වහන්සේ දේශනා නොකළ දේවල් දේශනා කළා කියමින් සමාජයේ විසාල පිරිසක් අධර්ම මතවාදවලට, වැරදි දෘෂ්ටිවලට යොමු කරන බව පේනවා. ඒ වගේ සද්ධර්ම ප්‍රතිරූපකයන් පෙන්වා දෙමින් ඒ දේශක / ශ්‍රාවක දෙපිරිසම දැනුවත් කිරීමේ බලාපොරොත්තුවෙන් තමයි මේ ලිපිය ලියන්න අදහස් කළේ.

**යම් කෙනෙකුට සෝතාපන්න වෙන්න තථාගතයන් වහන්සේ උපන් තැන, සම්මා සම්බුද්ධත්වයට පත් වූ තැන, ප්‍රථම ධර්ම දේශනාව පැවැත්වූ තැන, පිරිනිවන් පාපු තැන කියන මේ හතර ස්ථානය දැකල වැඳ පුදාගෙන සිත පහදවාගෙන, ඒ ස්ථානවල තියෙන බුද්ධ ශක්තියට අනුගත වෙන්න ඕන කියල සමහරු කියනවා. එහෙම නොවුනොත් සෝවාන් වෙන්න හෝ ඉතිරි මගඵල ලබන්න හෝ බැරි බවත් සඳහන් කරනවා.**

මේ මතය ප්‍රකාශ කරන අය මෙහෙමත් සඳහන් කරනවා. ලෝකයේ පහල වෙන බුදුවරු අතර ශ්‍රද්ධා අධික බුදුවරු, වීර්ය අධික බුදුවරු, ප්‍රඥා අධික බුදුවරු වශයෙන් කොටස් තුනක් ඉන්නවා. වීර්ය අධික, ශ්‍රද්ධා අධික බුදුවරුන්ගේ කාලවල පරමායුස වැඩි නිසා ඒ බුදු රජාණන් වහන්සේලා ජීවමාන කාලයේදීම හේතු වාසනා තියෙන සියලු දෙනාම මගඵල නිවන් අවබෝධ කරගන්නවා. ඒ බුදුවරුන්ගේ පරිනිර්වාණයෙන් පස්සෙ සාසනයේ පැවැත්මක් නැති නිසා, ඒ බුද්ධ සාසනවලදි සෝවාන් වෙන්න මේ සතර ස්ථානය දැක බලාගන්න අවශ්‍ය වෙන්නෙ නෑ. ප්‍රඥා අධික බුදුවරුන්ගේ පරමායුස අඩු නිසා

පරිනිර්වානයෙන් පසු බොහෝ කාලයක් සාසනය පවතිනවා. ඒ කාලයෙදි සෝවාන් වෙන්න නම් මේ චත්තාරෝ ඨානානි කියන හතර ස්ථානය දැකගෙන සිත පහදවගෙන බුද්ධ ශක්තියට අනුගත වෙන්න ඕන.

දැන් මේ කියන විස්තරය තුලම ධර්මයට පටහැනි මතවාද කීපයක්ම සඳහන් වෙනවා. ශ්‍රද්ධා අධික, වීර්ය අධික, ප්‍රඥා අධික කියල බුදුවරු ලෝකයේ නෑ. බුදුවරු අතර මේ ගුණවල වෙනසක් නෑ. තථාගතයන් වහන්සේලා අසම සමයි කියන්නෙ ඒ වෙනස නැති නිසා. හැම මනුස්සයෙකුටම මේ ශ්‍රද්ධා, වීර්ය, ප්‍රඥා කියන ඉන්ද්‍රිය ධර්මවලින් එකක් ප්‍රධාන වෙලා තියෙනවා. මහ බෝසතාණන් වහන්සේලා අතරත් මේ ඉන්ද්‍රිය නානත්වය තියෙනවා. නමුත් පාරමිතා සම්පූර්ණ කරල සර්වඥතා ඥානයට පත් වුනාට පස්සෙ ශ්‍රද්ධා අධික බුදුවරු, වීර්ය අධික බුදුවරු, ප්‍රඥා අධික බුදුවරු කියල ප්‍රභේදයක් නෑ. සියලු තථාගතවරු ඥානයෙන් සමානයි. පාරමිතා පුරාගෙන එන විදිහ තමයි ඉන්ද්‍රිය අනුව වෙනස් වෙන්නෙ.

ඊළඟට ඇතැම් බුද්ධ සාසනවලදි සෝවාන් වෙන්න සතර ස්ථානය දැකගන්න අවශ්‍ය වෙන්නත්, ශ්‍රද්ධා අධික, වීර්ය අධික බුදුවරුන්ගෙ සාසනවලදි අවශ්‍ය නොවෙන්නත් විදිහක් නෑ. **සෝතාපන්න වෙන්න යම් ධර්මයක්ද අවශ්‍ය වෙන්නෙ, ඒක සියලුම බුද්ධ සාසනවලට සාධාරණ වෙන්න ඕන. අතීතයේ පහල වුන, අනාගතයේ පහල වෙන සියලු බුදුවරු දේශනා කරන්නෙ ලෝකයේ යථාර්ථය, චතුරාර්ය සත්‍ය ධර්මය, සත්තිස් බෝධි පාක්ෂික ධර්ම. ඒක එක එක බුද්ධ සාසනවලට වෙනස් වෙන්න කිසිම හේතුවක් නෑ.**

ඊළඟට මේ වගේ මත ප්‍රකාශ කරන අය මෙහෙමත් පැහැදිලි කිරීම් කරනවා. සත්පුරුෂ උතුමෙක්ගෙන් පරතෝඝෝෂ ප්‍රත්‍යය ලබාගෙන "සෝතාවධානං තං පජානනාය පඤ්ඤා සුතමයේ ඤාණං" කියල දේශනා කරල තියෙන විදිහට, ධර්ම ශ්‍රවණය කරල සුතමය ඤාණය ලබාගත්ත ශ්‍රද්ධාවන්ත කුලපුත්‍රයෙක් වෙලා (සද්ධස්ස කුල පුත්තස්ස) මේ හතර ස්ථානයට හෝ එක ස්ථානයකට හෝ ගිහින් ඒ ස්ථානයේ තියෙන බුද්ධ ශක්තියට අනුගත වීමෙන් සෝවාන් වෙන බවත්, ඒ තත්ත්වයට පත් නොවී සකදාගාමී ආදී ඉතිරි මගඵල ලබල නිවන් අවබෝධ කරන්න බැරි බවත් ප්‍රකාශ කරනවා. ශ්‍රද්ධාවන්ත කුල පුත්‍රයෙක් බවට පත් නොවෙච්ච කෙනෙකුට සතර ස්ථානයෙන් එකකට හෝ ගියාට සෝවාන් වෙන්න බැරි බවත් සඳහන් කරනවා.

චතුසු සෝතාපත්ති අංගේසු සද්ධා බලං දට්ඨබ්බං (සෝතාපත්ති අංග හතරෙහි සද්ධා බලය දත යුතුය) සත්පුරුස ඇසුරෙන් සද්ධර්ම ශ්‍රවණය කරල, යමෙකුට සුතමය ඥාණය ලැබිල ශ්‍රද්ධාවේ පිහිටියා නම්, සෝතාපන්න වෙනව කියන්නෙ ඒකට. ඔහුට සෝවාන් වෙන්න කියල නැවත සතර ස්ථානය දැක බලාගන්න අවශ්‍යතාවයක් නෑ. ඒ නිසා මේ කියමන් තුලම එකකට එකක් ගලපන්න බැරි පරස්පර මතවාද තියෙනවා.

ඊළඟට දීඝ නිකායේ එන මහා පරිනිබ්බාණ සූත්‍රයේ තියෙන බව කියමින් ඒ අය මෙහෙමත් ප්‍රකාශ කරනවා.

තථාගතයත් වහන්සේ පිරිනිවන් පාන්න විනාඩි 5 කට ඉස්සර වෙලා ආනන්ද හාමුදුරුවො බුදු රජාණන් වහන්සේගෙන් මේ විදිහට අහනවා. ස්වාමීනි, ඔබ වහන්සේ ජීවත් වෙලා වැඩ හිටපු වසර 45 තුල බුද්ධ ශක්තියට අනුගත වෙන්න බුදු රුව, බුදු මග, බුදු බල උපකාර වෙනවා. ඔබ වහන්සේ පිරිනිවන් පෑවට පස්සෙ මේ බුදු රුව බුදු බල නැතිවෙලා යනවා. ඒ නිසා ශ්‍රාවකයන්ට සද්ධස්ස කුලපුත්තස්ස (ශ්‍රද්ධාවන්ත කුල පුත්‍රයෙක්) වුනත් සෝතාපන්න වෙන්න බෑ නේද කියල අහනවා. එතනදි බුදු රජාණන් වහන්සේ පැහැදිලිව ප්‍රකාශ කරනවා, ආනන්ද මේ සතර ස්ථානය (චත්තාරෝ ඨානානි) තියෙනවා. ශ්‍රද්ධාවන්ත කුල පුත්‍රයෙක් එයින් එක තැනකට හරි ගිහින් ඒ ස්ථාන දැක බලාගෙන බුද්ධ ශක්තියට අනුගත වුනාම "දස්සනීයානි සංවේජනීයානි" යනුවෙන් සඳහන් කරල තියෙන විදිහට සෝතාපන්න වෙන්න පුළුවන් කියල.

මහා පරිනිබ්බාණ සූත්‍රයේ ආනන්ද හාමුදුරුවො මේ විදිහට ඇහුවය, බුදුන් වහන්සේ මෙහෙම පිළිතුරු දුන්නාය කියල සඳහන් කළ ඉහත සම්පූර්ණ විස්තරයම, පරිනිර්වාණ සූත්‍රයේ සඳහන් නොවන සම්පූර්ණ අසත්‍ය, තමන්ගෙ දෘෂ්ටිය සනාථ කරගන්න ගොඩ නගාගත්ත අත්තනෝ මතයක්. තථාගතයන් වහන්සේ දේශනා නොකළ දෙයක් දේශනා කළා කියල කීමම උන්වහන්සේට කරන අභූත චෝදනාවක්. **පෞද්ගලික මතවාද මොනව තිබුනත්, ඒවට බුදු රජාණන් වහන්සේ හෝ ශ්‍රාවකයන් වහන්සේලා හෝ ඈපයට තියන එක නම් තමන් කරගන්න ලොකුම අවැඩක්.**

ඉහත ප්‍රකාශය බුදු රජාණන් වහන්සේ දේශනා කරල තියෙන්නෙ පිරිනිවන් පාන්න විනාඩි 5 කට පෙර කියල කියන්නෙ, එතන ඉඳල හරියට වෙලාව බලාගෙන ඉඳලද කියන ප්‍රශ්නයත් එනවා. මොකද එහෙම කතාවක් ඒ සූත්‍රයේ නෑ. ශ්‍රද්ධාවන්ත කුල පුත්‍රයෙක් විසින් දැක සංවේග උපදවා ගත යුතු ස්ථාන 4 ආනන්ද හාමුදුරුවන්ට දේශනා කළාට පස්සෙ, තවත් බොහෝ දහම් කරුණු දේශනා කරල තියෙන බව පරිනිර්වාණ සූත්‍රය කියවන ඕනෑම කෙනෙකුට තේරෙනවා. ඒ සියල්ලම විනාඩි 5 කට තථාගතයන් වහන්සේ දේශනා කළාද කියල මේ වගේ කියමන් අනුව විමතියක් ඇතිවෙනවා.

**වර්තමානයේ ගිහි පැවිදි පිරිස් ත්‍රිපිටකය කියවන යුගයක, අහවල් සූත්‍රයේ මෙහෙම දේශනා කළා කියල සූත්‍රයේ නැති කරුණු කියන්න ගියාම, තමන්ගෙ බොරුව අතේ පත්තු වෙන බවවත් වටහා නොගෙන මේ වගේ අසත්‍ය කතා කරන්නෙ මාර බලපෑමකින්ද කියල හිතෙනවා.**

දැක පහන් සංවේග උපදවා ගත යුතු ස්ථාන 4 තථාගතයන් වහන්සේ දේශනා කරන්න පෙර, ආනන්ද හාමුදුරුවො බුදුන් වහන්සේගෙන් ඇහුවෙ මොකක්ද කියල මහා පරිනිබ්බාන සූත්‍රයේ සඳහන් වෙන්නෙ මේ විදිහට.

ස්වාමීනි, පෙර ඒ ඒ දිසාවල වාසය කරපු භික්ෂූන් වහන්සේලා බුදු රජාණන් වහන්සේ දකින්න එනවා. ඒ මනෝ භාවනීය භික්ෂූන් දැක ගන්න, ඇසුරු කරන්න අවස්ථාව ලැබෙනවා. ස්වාමීනි, භාග්‍යවතුන් වහන්සේ පරිනිර්වාණයෙන් පසු අපට ඒ මනෝ භාවනීය භික්ෂූන් දකින්න ඇසුරු කරන්න ලැබෙන්නෙ නෑ කියල ආනන්ද හාමුදුරුවො තථාගතයන් වහන්සේට මතක් කළා. (දී. නි. 2 මහා පරිනිබ්බාණ සූත්‍රය - 218 පිටුව)

මේ අවස්ථාවෙදි, ආනන්දය, ශ්‍රද්ධාවන්ත කුල පුත්‍රයෙකු විසින් දැකීමට සුදුසු, සංවේගය උපදවාගත යුතු ස්ථාන 4 ක් තියෙනව කියල බුදුන් වහන්සේ පැහැදිලි කරනවා.

1. මේ තථාගතයන් වහන්සේ උපන් තැනයි කියල සැදැහැවත් කුල පුත්‍රයෙකු විසින් දැකීමට සුදුසු සංවේග උපදවාගත යුතු තැනක් (ඉධ තථාගතෝ ජාතෝති ආනන්ද සද්ධස්ස කුලපුත්තස්ස දස්සනීයං සංවේජනීයං ඨානං)

2. මේ තථාගතයන් වහන්සේ අනුත්තර සම්මා සම්බෝධිය අවබෝධ කළා කියල සැදැහැති කුල පුත්‍රයෙකු විසින් දැකීමට සුදුසු සංවේග උපදවාගත යුතු තැනක් (ඉධ තථාගතෝ අනුත්තරං සම්මා සම්බෝධිං



අභිසම්බුද්ධෝති ආනන්ද සද්ධස්ස කුලපුත්තස්ස දස්සනීයං...)

3. මේ තථාගතයන් වහන්සේ අනුත්තර ධර්ම චක්‍රය පැවැත්වූවා කියල සැදැහැති කුල පුත්‍රයෙකු විසින් දැකීමට සුදුසු සංවේග උපදවාගත යුතු තැනක් (ඉධ තථාගතේන අනුත්තරං ධම්ම චක්කං පවත්තතන්ති ආනන්ද සද්ධස්ස කුලපුත්තස්ස දස්සනීයං සංවේජනීයං ඨානං)

4. මේ තථාගතයන් වහන්සේ අනුපාදිසේස පරිනිර්වානයෙන් පිරිනිවන් පෑවා කියල ශ්‍රද්ධාවන්ත කුල පුත්‍රයෙකු විසින් දැකීමට සුදුසු, සංවේග උපදවාගත යුතු තැනක් (ඉධ තථාගතෝ අනුපාදිසේසාය නිබ්බාණ ධාතුයා පරිනිබ්බුතෝති ආනන්ද සද්ධස්ස කුලපුත්තස්ස දස්සනීයං සංවේජනීයං ඨානං)

(දී. නි. 2 - මහා පරිනිබ්බාණ සූත්‍රය - 218 පිටුව)

මහා පරිනිබ්බාණ සූත්‍රය අනුව ඉහත ස්ථාන 4 සැදැහැවතෙකු විසින් දැකීමට සුදුසු සංවේග උපදවා ගත යුතු තැන් හැටියට දේශනා කරල තියෙනවා. මෙතන "දස්සනීයං සංවේජනීයං" කියන්නෙ ඉහත ස්ථාන 4 දැකගැනීමත්, සංවේගය උපදවා ගැනීමත් කියන අදහස. නමුත් මේ වචන දෙක වරදවාගෙන, සැදැහැවත් කුල පුත්‍රයෙක් ඒ ස්ථාන හතරෙන් එකකට ගිහින් බුද්ධ ශක්තියට අනුගත වුනාම සෝතාපන්න බාවයට පත් වෙනවලු. "දස්සනීයං සංවේජනීයං" කියන්නෙ ඒ අදහසලු. මේ අර්ථය ඒ විදිහට අර්ථ දැක්වීම සම්පූර්ණයෙන් වැරදියි. **ඒ ඒ ස්ථාන දැකගෙන සංවේගය උපදවා ගැනීම කියන අර්ථය මිසක් "දස්සනීයං" කියන එකට සෝවාන් වෙනවා කියන අදහසක් මහා පරිනිබ්බාන සූත්‍රයේ සඳහන් වෙන්නෙ නෑ.** සූත්‍රයේ සඳහන් නොවන දේවල් වැරදි විදිහට අර්ථ කථනය කරගෙන, ඒක බුදු රජාණන් වහන්සේ දේශනා කළා කීම හරි අපරාධයක්. ඒකෙන් වෙන්නෙ ධර්මය අධර්මය කරල, ඒ වගේ වැරදි මතවාද සමාජගත කරල, අසරණ මිනිස්සුත් වැරදි දෘෂ්ටි මතවාදවලට යොමු කරල තමනුත් විපතට වැටෙන එක.

අනෙක ඒ කාරණය එහෙම නම්, මේ හතරෙන් ඈතක ජීවත් වෙන, එහෙම නැත්තම් වෙනත් රටක ඉන්න, නිවන් දකින්න හේතු වාසනා තියෙන, ඒත් දරිද්‍රතාවයෙන් පෙළෙන ලෝක සම්මතයේ දුප්පත් මනුස්සයෙකුට නිවන් දකින්න බෑ. මොකද ඔය ස්ථාන 4 දැක බලා ගන්න යන්න එන්න තරම් වියදමක් දරන්න බැරි ඒ වගේ පිරිස් ඕන තරම් ඉන්නවා. එතකොට ඒ කියන කාරණය එහෙම නම්, ඔය ස්ථාන 4 කොහේ තිබුනත්, නිවන් දකින්න හේතු වාසනා තියෙන ලෝකෙ මොන රටක ඉන්න පින්වතෙක් වුනත් ඔය කියන ස්ථාන 4 ට යන්නම වෙනවා. එතකොට යහමින් මුදල් හදල් තියෙන අයට විතරයි මගඵල ලබන්න පුළුවන් කියන මතයකුත් එනවා. එතකොට එදා හිටපු සුනීත, සෝපාක වගේ නිවන් දකින්න හේතු වාසනා තියෙන අය අද ඉන්න බැරිද? එතකොට ඒ අයට මොකද වෙන්නෙ?

ඉහතින් සඳහන් කළ ස්ථාන 4 සම්බන්ධව මහා පරිනිබ්බාණ සූත්‍රයේ තවදුරටත් මේ විදිහට සඳහන් වෙනවා. ආනන්ද, ශ්‍රද්ධාවන්ත භික්ෂු, භික්ෂුණී, උපාසක, උපාසිකා පිරිස, මේ තථාගතයන් වහන්සේ උපන් තැනයි, මේ බුදු බව ලැබූ තැනයි, මේ දම්සක් දෙසූ තැනයි, මේ පිරිනිවන් පෑ තැනයි කියල ඒ තැන්වලට පැමිණෙනවා. **චෛත්‍ය චාරිකාවේ යෙදෙමින් පහන් සිතින් මියයන කවුරු හෝ වේවා, ඒ සියලු දෙනාම මරණින් පසු සුගතිගාමී වෙනවා.** (දී. නි. 2 මහා පරිනිබ්බාණ සූත්‍රය - 218 පිටුව)

**මහා පරිනිබ්බාණ සූත්‍රය අනුව, මේ හතර ස්ථානය දැක බලාගෙන වැඳ පුදා ගැනීමෙන් චිත්ත ප්‍රසාදය ඇති කරගෙන සුගතියට යන්න උපනිශ්‍රය ලැබෙනවා. අපදාන පාළියේ සඳහන් වෙන විදිහට, කවදා හරි බුද්ධ සාසනයකදී ඒ පිනෙන් සසර බොහෝ ලෞකික සැප සම්පත් ලබල පාරමී ගුණ වැඩිල නිවන් දකින්න උපනිශ්‍රය සම්පත් පූර්ණ වෙනවා. සතර ස්ථානයෙන් ලැබෙන ප්‍රයෝජනය ඒකයි.**

මාර්ගඵල ලබන්න නම් මේ ස්ථාන 4 අනිවාර්යෙන් දැක වැඳ පුදා ගන්න ඕන, එහෙම නැතිවුනොත් මගඵල ලබන්න බෑ කියන අදහසක් ඒ විස්තරයේ පළාතකවත් සඳහන් වෙන්නෙ නෑ. මේ වගේ අධර්ම මතවාද බැහැර කරන්න සැදැහැවත් කුල පුත්‍රයන් බුද්ධිවන්ත වෙන්න ඕන. එහෙම නොවුනොත්, ධර්මය කියල අධර්ම මතවාදවලට රැවටිලා අමාරුවේ වැටෙන්න පුළුවන්.

**සෝතාපන්න වෙන්න මේ ස්ථාන හතර දැක ගැනීම අනිවාර්ය කාරණයක් නම්, තථාගතයන් වහන්සේ පිරිනිවන් පාන්න ආසන්න වෙනකල් මේ කාරණය වදාරන්නෙ නැතිව ඉන්න කිසිම හේතුවක් නෑ. පළමු ධර්ම දේශනාවෙදිම මේක අනිවාර්යෙන් දේශනා කරනවා. බුද්ධ දේශනාවලින් සනාථ කරන්න බැරි මේ වගේ කතාවලට කියන්න තියෙන්නෙ, තමන් විසින් ගොඩ නගාගත්ත හිතලු කියල.**

එදා බරණැස ඉසිපතනාරාමයෙදි මංගල ධර්ම දේශනාව ශ්‍රවණය කරල කොණ්ඩඤ්ඤ තාපසතුමා සෝවාන් මගඵල අවබෝධ කරගත්තා. පසුව ඉතිරි හතර දෙනාත් සෝවාන් වෙලා, අනත්ත ලක්ඛණ දේශනාව අහල පස් දෙනාම අරිහත් වුනා. ඊළඟට යසකුල පුත්‍රයා ඇතුළු යාළුවො 54 දෙනා තථාගතයන් වහන්සේගෙන් ධර්ම ශ්‍රවණය කරල අරිහත්වයට පත් වුනා. ඒ වෙනකොට හතර ස්ථානයෙන් තිබුනෙ ස්ථාන 3 ක් විතරයි. ඒ පළමු රහත් හැට නම සෝවාන් ආදී මගඵල ලැබුවෙ හතර ස්ථානය දැකල වැඳ පුදාගෙන නෙවෙයි.

තථාගතයන් වහන්සේ ජීවමාන කාලයේ වගේම ඊට පසුවත් මගඵල අවබෝධ කරගත්තෙ ස්ථාන 4 දැකල වැඳ පුදාගෙන නෙවෙයි. ඒ වගේ ධර්ම විග්‍රහයක් ත්‍රිපිටකයේ කිසිම තැනක සඳහන් වෙන්නෙ නෑ. මීට අවුරුදු 1,000 - 1,500 කට පමණ පෙර වැඩ වාසය කරපු මලියදේව මහ රහතන්

වහන්සේගෙන් බණ අහල, තවත් දහස් ගණන් අරිහත්වයට පත් වුනා කියල දහම් පොත්පත්වල සඳහන් වෙනවා. ඒ කිසිම අවස්ථාවක ඔය ස්ථාන 4 දැකල වැඳ පුදාගෙන රහත් වුනා කියන කතාවත් කොතැනකවත් සඳහන් වෙන්නෙ නෑ.

හතර පොලක් නොදැක නම් සෝවාන් වෙන්න බෑ තමයි. ඒ හතර පොල තමයි දුක සත්‍යය, දුක්ඛ සමුදය සත්‍යය, දුක්ඛ නිරෝධ සත්‍යය, දුක්ඛ නිරෝධ ගාමිණි පටිපදා මාර්ග සත්‍යය. මේ හතර දකින්නම ඕන. මේ හතරම නොදැක්කොත් නම් සෝවාන් වෙන්න බෑ තමයි. උපතිස්ස පරිබ්‍රාජකයා අස්සජි මහ රහතන් වහන්සේ මුණගැහිල ගාථාවක පේළි දෙකක් අහනකොටම සෝවාන් ඵලයේ පිහිටියා. එතනදි අස්සජි හාමුදුරුවො කිව්වෙ නෑ, දැන් ගිහින් මේ ස්ථාන දැක බලාගෙන වැඳ පුදා ගන්න කියල. ඒ වගේම කෝලිත පරිබ්‍රාජකයා උපතිස්ස පරිබ්‍රාජකයගෙන් ඒ ගාථාවෙම පේළි හතරක් අහනකොට සෝතාපන්න ඵලයට පත් වුනා. ඒත් ඊට පස්සෙ ඒ ස්ථාන වැඳ පුදා ගන්න නම් ගියේ නෑ. එහෙම ස්ථාන දැකගෙන වැඳ පුදාගත යුතුමයි කියල දේශනා කරපු තැනක් පෙළ දහමේ කොහේවත් නෑ.

ඊළඟට සෝතාපන්න වීමට උපකාර වෙන කරුණු මොනවද, සෝවාන් වෙන්නෙ කෙහොමද, ඒ සඳහා හතර ස්ථානය හෝ එක ස්ථානයක් හෝ දැක බලාගන්න අවශ්‍යද කියල පෙළ දහම ඇසුරෙන් කරුණු හොයල බලන්න ඕන. "චත්තාරිමානි භික්ඛවේ සෝතාපත්තියංගානි. කතමානි චත්තාරි, සප්පුරිස සංසේවෝ, සද්ධම්ම සවනං, යෝනිසෝ මනසිකාරෝ, ධම්මානුධම්ම පටිපත්ති" (ස. නි. 5/2 - 240 පිටුව <u>අංග සූත්‍රය</u>)

මහණෙනි, මේ සෝතාපත්ති අංග 4 යි. ඒ හතර මොනවද? සත්පුරිස ඇසුර, සද්ධර්ම ශ්‍රවණය, යෝනිසෝ මනසිකාරය, ධම්මානුධම්ම ප්‍රතිපදාව. **හතර ස්ථානය හෝ ඉන් එක ස්ථානයක් හෝ දැකබලාගන්නෙ නැතිව සෝවාන් වෙන්න බැරි නම්, තථාගතයන් වහන්සේ පස්වෙනි සෝතාපත්ති අංගය හැටියට මේ දේශනාවට ඇතුලත් කරන්නෙ ඔය කියන හතර ස්ථානය දැක බලා ගැනීම.**

බුදු රජාණන් වහන්සේ සෝතාපන්න වෙන්න අවශ්‍ය අංග හතර දේශනා කරල තියෙද්දි, තව කවුරු හරි කියනව නම්, ඔය හතරට අමතරව තවත් එකක් අවශ්‍යයි කියල, ඒ තැනැත්තා බුදු හාමුදුරුවන්ගෙත් ගුරු හාමුදුරුවො වෙන්න ඕන. තථාගතයන් වහන්සේත් ධර්මය තමයි ගුරු තනතුරේ තියා ගත්තෙ. මගෙන් පස්සෙ, මා ඇවෑමෙන්, ධර්ම විනය දෙක සාස්තෘ කෘත්‍යය සිදු කරන බවයි දේශනා කරල තියෙන්නෙ. (ආනන්ද මයා ධම්මෝච විනයෝච දේසිතෝ, පඤ්ඤත්තෝ සෝ වෝ මමච්චයේන සත්ථාති - මහා පරිනිර්වාණ සූත්‍රය - 242 පිටුව)

මේ බුද්ධ වචනයට අනුව, ධර්මය සාස්තෘවරයා විදිහට සළකගෙන දහම් න්‍යායන් තෝර ගන්නව හැර, අත්තනෝමත ධර්මය විදිහට සමාජගත කරන්න යන එක උභය පාර්ශවයටම හානිදායකයි.

චත්තාරෝ මේ භික්ඛවේ ධම්මා භාවිතා බහුලීකතා සෝතාපත්ති ඵල සච්චිකිරියාය සංවත්තන්ති (පටිසංභිදාමග්ග - 2 - 160 පිටුව). ධර්ම 4 ක් නැවත නැවත භාවිතා කිරීමෙන්, බහුලව භාවිතා කිරීමෙන් සෝතාපත්ති ඵලයට පත්වෙන බවත්, සකදාගාමි, අනාගාමි, අරිහත් වෙන්නත් සත්පුරිස සේවනය, සද්ධර්ම ශ්‍රවණය, යෝනිසෝ මනසිකාරය, ධර්මානුධර්ම ප්‍රතිපදාව කියන කරුණු හතර නැවත නැවත ප්‍රගුණ කළ යුතු බවත් සඳහන් වෙනවා.

මේ කාරණා හතරෙන් සත්පුරිස සේවනය, සද්ධර්ම ශ්‍රවණය බාහිරින් උපකාර වෙනවා. යෝනිසෝ මනසිකාරය සහ ධර්මානුධර්ම ප්‍රතිපදාව තමන් තුලින් ගොඩ නගා ගත යුතු වෙනවා. මේ හතර තුල හේතු දෙකක් සහ ප්‍රත්‍ය දෙකක් තියෙනවා. සද්ධර්ම ශ්‍රවණයට සත්පුරිස සේවනය හේතුව වෙනවා. සද්ධර්ම ශ්‍රවණය ප්‍රත්‍ය වෙනවා. ධම්මානුධම්ම ප්‍රතිපදාවට යෝනිසෝ මනසිකාරය හේතුව වෙනවා. ධම්මානුධම්ම ප්‍රතිපදාව ප්‍රත්‍ය වෙනවා.

දවසක් ආනන්ද හාමුදුරුවො තථාගතයන් වහන්සේගෙන් අහනවා, ස්වාමීනි මේ සාසනයේ අඩක්ම පවතින්නෙ කළ්‍යාණ මිත්‍රයා නිසා නේද කියල. "මාහේවං ආනන්ද, මාහේවං ආනන්ද සකල මේව ඉදං බ්‍රහ්ම චරියං යදිදං කළ්‍යාණ මිත්තතා" ආනන්ද, එහෙම කියන්න එපා මුළු බුද්ධ සාසනයම පවතින්නෙ කළ්‍යාණ මිත්‍රයා නිසා කියල තථාගතයන් වහන්සේ වදාරනවා.

ඉර පායන්න පෙර අරුණෝදය ඇතිවෙනවා. එතකොට ඉර පායන්න ආසන්න වෙලා කියල වැටහෙනවා. අරුණෝදය ඉර උදාවට ප්‍රමුඛ වෙනවා වගේ, අරි අටඟි මග වඩන්න කළ්‍යාණ මිත්‍රයා ප්‍රධාන සාධකයක් වෙනවා. නූපන් අරි අටඟි මග උපදවා ගන්න කළ්‍යාණ මිත්‍ර සේවනය අත්‍යවශ්‍ය වෙනවා. උපන් අරි අටඟි මග දියුණුවෙන් පරිපූර්ණ භාවයට පත් කර ගන්නත් කළ්‍යාණ මිත්‍ර සේවනය බොහෝ උපකාර වෙනවා.

රාග, ද්වේශ, මෝහ පහ කිරීම සඳහා ආර්ය මාර්ගයට ඇතුල් වෙන්න නම් සත්පුරිස ඇසුර අනිවාර්යෙන් තියෙන්න ඕන. ඒ නිසයි තථාගතයන් වහන්සේ මුළු නිවන් මගම කළ්‍යාණ මිත්‍රයා නිසා පවතින බව ආනන්ද හාමුදුරුවන්ට දේශනා කරන්න යෙදුනෙ. (ස. නි. 5/1 - 50 පිටුව - <u>කළ්‍යාණ මිත්‍ර සූත්‍ර</u>)

සෝතාපන්න වීමට උපකාර වෙන ප්‍රධානම කාරණය තමයි සද්ධර්ම ශ්‍රවණය "සද්ධම්මෝ පරම දුල්ලභෝ" ලෝකයේ තියෙන දුර්ලභ කාරණා අතර පරම දුර්ලභ කාරණාව තමයි සද්ධර්මය. "යාවතා භික්ඛවේ ධම්මා සංඛතා වා අසංඛතා වා විරාගෝ තේසං ධම්මානං අග්ග මක්ඛායති" යම් තාක් ලෝකයේ සංඛත, අසංඛත ධර්මයන් තියෙනවද, ඒ සියලු ධර්ම අතරින් විරාගී ශ්‍රී සද්ධර්මය සියලු ධර්මවලට වඩා අග්‍රයි, ශ්‍රේෂ්ඨයි, උත්තමයි. "යේ භික්ඛවේ ධම්මේ පසන්නා අග්ගේ තේ පසන්නා" යමෙක් ඒ විරාගී ධර්මය කෙරෙහි සිත පහදවා ගන්නවද, මේ ලෝකයේ අග්‍ර ස්ථානයේම සිත පහදවා ගත්ත වෙනවා. "අග්ගේ ඛෝ පන පසන්නානං අග්ගෝ විපාකෝ හෝති" අග්‍රස්ථානයේම සිත පහදවා ගත්ත අයට අග්‍ර වූ ලෞකික, ලෝකෝත්තර සැප විපාක හිමි කරගන්න පුළුවන් වෙනවා. (අ. නි. 2 - 70 පිටුව <u>අග්ගප්පසාද සූත්‍රය</u>)

සෝතාපන්න පුද්ගලයා පිළිබඳ නොයෙක් න්‍යායන්වලින් ධර්මයේ විස්තර වෙනවා. "යථෝ ඛෝ භික්ඛවේ අරිය සාවකෝ ඉමේසං ඡන්නං ඉන්ද්‍රියානං සමුදයංච, අත්ථගමංච, අස්සාදංච, ආදිනවංච, නිස්සරනංච, යථාභූතං පජානාති. අයං වුච්චති භික්ඛවේ අරිය සාවකෝ සෝතාපන්නෝ අවිනිපාත ධම්මෝ නියතෝ සම්බෝධි පරායණෝති (ස. නි. 5/1 - 366 <u>සෝතාපන්න සූත්‍රය</u>)

මහණෙනි, ආර්ය ශ්‍රාවකයා ඇස, කන, නාසය, දිව, කය, මන කියන ඉන්ද්‍රියන්ගේ උදාවීම, පැවැත්මට ඒම, ආස්වාද, ආදීනව, නිස්සරණ තතු සේ දැනගන්නවද, එපමණකින් සතර අපායෙන් මිදුන නියත වූ අවබෝධය කරාම යන සෝතාපන්න පුද්ගලයෙක් වෙනවා. මේ ඉන්ද්‍රිය හය තතු සේ දැනගෙන උපාදානයෙන් මිදීමෙන් අරිහත්වයට පත්වෙන බව අරහන්ත සූත්‍රයේ විස්තර වෙනවා.



සද්ධා ඉන්ද්‍රිය, වීර්ය ඉන්ද්‍රිය, සති ඉන්ද්‍රිය, සමාධි ඉන්ද්‍රිය, ප්‍රඥා ඉන්ද්‍රිය කියල ඉන්ද්‍රිය ධර්ම පහක් තියෙනවා. ආර්ය ශ්‍රාවකයා පංචේන්ද්‍රියන්වල ආස්වාදයත්, ආදීනවයත්, නිස්සරණයත් තත් වූ පරිදි දැනගන්නව නම්, ඔහු සතර අපායෙන් මිදුන, නියත වූ අරිහත්වය කරාම ගමන් කරන සෝතාපන්න පුද්ගලයෙක් බව ස. නි. ඉන්ද්‍රිය සංයුක්තයේ සෝතාපන්න සූත්‍රයේ සඳහන් වෙනවා. පංචේන්ද්‍රියන් තතු සේ දැනගෙන උපාදානයෙන් මිදීමෙන් අරිහත්වයට පත්වෙන ආකාරය අරහන්ත සූත්‍රයේ විස්තර වෙනවා.

සුඛ ඉන්ද්‍රිය, දුක්ඛ ඉන්ද්‍රිය, සෝමනස්ස ඉන්ද්‍රිය, දෝමනස්ස ඉන්ද්‍රිය, උපෙක්ඛා ඉන්ද්‍රිය කියන මේ ඉන්ද්‍රියන් පහේ උදාවීම, පැවැත්මට ඒම, ආස්වාද, ආදීනව, නිස්සරණ, ඇති සැටියෙන් දැන ගන්නව නම් එපමණකින් සෝතාපන්න වෙනවා. (ස. නි. 5/1 සෝතාපන්න සූත්‍රය - 370 පිටුව)

දුතීය සාරිපුත්ත සූත්‍රය, අංග සූත්‍රය, පටිසංභිදා මග්ග පාළිය ආදී තැන්වල සෝතාපත්ති අංග විදිහට සත්පුරිස සේවනය, සද්ධර්ම ශ්‍රවණය, යෝනිසෝ මනසිකාරය, ධර්මානුධර්ම ප්‍රතිපදාව කියන කාරණා හතර පැහැදිලිව පෙන්වල තියෙනවා. අනිවාර්යෙන්

මේ විදිහට සත්පුරිස සේවනය සම්පූර්ණ කරගත්ත කෙනා සද්ධර්ම ශ්‍රවණය සම්පූර්ණ කරගන්නවා. සද්ධර්ම ශ්‍රවණය කළ කෙනා ශ්‍රද්ධාවේ පිහිටනවා. එතකොට යෝනිසෝ මනසිකාරයත්, සතියත්, ප්‍රඥාවත් පූර්ණ වෙනවා. එහෙම වෙනකොට ඉන්ද්‍රිය සංවරය, ත්‍රිවිධ සුචරිතය, සතර සතිපට්ඨානය, සත්ත බොජ්ඣංග පූර්ණ භාවයට පත් වෙනවා. සත්ත බොජ්ඣංග පූර්ණ වෙනකොට විද්‍යා විමුක්තිය පූර්ණ කරගෙන සියලු, කෙලෙස් නසල සසර දුක් නිමා කරගන්නවා. (අ. නි. 6 - අවිජ්ජා සූත්‍රය - 209 පිටුව)

මෙතෙක් විස්තර කළේ සෝවාන් වෙන්න හේතුවෙන සෝතාපත්ති අංග 4 ගැන.

සෝතාපත්ති අංග පිළිබඳ බුද්ධ දේශනා තුලින් මෙතෙක් පැහැදිලි කළ කරුණුවලින්, සෝතාපන්න වෙන්නෙ කොහොමද කියල මැනවින් පැහැදිලි වෙනවා. මේ කිසිම දේශනාවක සෝතාපන්න වෙන්න හෝ අනිකුත් මාර්ග ඵල ලබන්න හෝ තථාගතයන් වහන්සේ උපන් තැන, බුදු වුන තැන, දම්සක් දෙසූ තැන, පිරිනිවන් වැඩි තැන දැක බලාගෙන වැඳ පුදා ගත යුතුයි කියල කිසිම සඳහනක් නෑ. නමුත් මෑත කාලයේ ඒ වගේ මතවාදයක් සමාජ ගතවෙමින් යන නිසා, මේ වගේ මිත්‍යා මතවලට රැවටෙන්නෙ නැතිව විමර්ශන බුද්ධියෙන් ත්‍රිපිටක පෙළ දහමට අනුව කරුණු වටහාගන්න ශ්‍රාවකයන් බුද්ධිවන්ත වෙන්න ඕන.

අදත් නිර්මල ශ්‍රී සද්ධර්මය කල්‍යාණ මිත්‍රයෙක්ගෙන් අහන්න ලැබුනොත්, යෝනිසෝ මනසිකාරයෙන් ධර්මානුධර්ම ප්‍රතිපදාව අනුගමනය කරල සෝවාන් ආදී මගඵල ලබා ගන්න පුළුවන්.

"ආකාසේව පදං නත්ථි සමනෝ නත්ථි බාහිරේ" පක්ෂීන් ඉගිලීමෙන් ආකාසයේ පා සටහන් පිහිටන්නෙ නෑ වගේ, බුදු සසුනෙන් බැහැර දුරක්ඛාත මාර්ගවලින් ශ්‍රමණයන් බිහි වෙන්නෙ නෑ. "අරියෝ අට්ඨංගිකෝ මග්ගෝ න උපලබ්භති, සමණෝපි තත්ථ න උපලබ්භති" යම් තැනක අරි අටඟි මග විද්‍යමාන වෙන්නෙ නැත්ද, එහි පළවෙනි ශ්‍රමණයාත් (සෝවාන්), දෙවෙනි ශ්‍රමණයාත් (සකදාගාමී), තුන්වෙනි ශ්‍රමණයාත් (අනාගාමී), හතරවෙනි ශ්‍රමණයාත් (අරිහත්) විද්‍යමාන වෙන්නෙ නෑ. අරි අටඟි මග නිවැරදි ලෝකෝත්තර අර්ථ කථනයෙන් යම් සත්පුරිසයෙක් මතු කරල දුන්නොත්, එතැන් පටන් ඉහතින් සඳහන් කළ ශ්‍රමණයන් හතර දෙනාම විද්‍යමාන වෙලා ආර්ය සංඝ රත්නයෙන් බුදු සසුන බබලන්න පටන් ගන්නවා.

බුදු සසුන දියුණු කරන්න, බුදු සසුන රකින්න වෙන පරිබාහිර ක්‍රමවලින් පුළුවන්කමක් නෑ. පරියාප්ති - ප්‍රතිපත්ති - ප්‍රතිවේධ කියන කාරණා තුනයි බුද්ධ සාසනය කියන්නෙ. "ඉමේච සුභද්ද භික්ඛූ සම්මා විහරෙය්‍යුං අසුඤ්ඤෝ ලෝකෝ අරහන්තේහි අස්ස" සුභද්ද, භික්ෂූන් නිවැරදි ප්‍රතිපත්ති මාර්ගයේ හැසිරෙන තාක් ලෝකයේ අරිහතුන් වහන්සේලාගෙන්, මගඵල ලාභීන්ගෙන් සාසනය හිස් වෙන්නෙ නෑ. යම් කාලයක ඒ වගේ උතුමන්ගෙන් තොර වෙනව නම් වෙන්නෙ ධර්මය යටපත් වුන කාලයක. ඒ වගේ කාලවල ධර්මයේ මුහුණුවරින් සද්ධර්ම ප්‍රතිරූපක පහල වෙනවා. **වැරදි මාර්ගයකින් මගඵල නිවන් ලබන්න වෑයම් කිරීම, වැලි මිරිකල තෙල් ගන්න හදනව වගේ නිරර්ථක වැඩක්. මේ මෑතක් වෙනකල් වසර දහස් ගණනක පටන් ගෞතම බුදු සසුනට සිද්ධ වුනෙත් ඒ අවාසනාවන්ත ඉරණම.**

"වායමේතේව පුරිසෝ යාව අත්ථස්ස නිප්පදා" නිවන යම් තාක්ද, ඒ තාක් පුරුෂයා වෑයම් කළ යුතුයි. "නිබ්බාණං පරමං වදන්ති බුද්ධා" නිවන තරම් පරම ශ්‍රේෂ්ඨ වෙනත් දෙයක් නැති බව සියලු බුදුවරයන් වහන්සේලා දේශනා කරල තියෙනවා.

**පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**

**නිග්‍රෝධාරාම සේනාසනය,**

**පොල්පිටිය, මැටිකුඹුර, පොල්ගහවෙල.**

**0716839346**

# නොපළ වූ ගුණ කඳ IX



වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ

## අභයරතනාලංකාරය - 80

පසුගිය කලාප 2 කින් ඉදිරිපත් කළ, සාසනික දේ වැරදියට පරිහරණය කිරීමේ බරපතලකම ගැන පැහැදිලි කිරීම්වලින්, සමහරක් පින්වතුන්ට එන්න පුළුවන් ගැටළු කිහිපයකට ධර්මානුකූල අත්දැකීම් සහිත, එදිනෙදා ජීවිතයටත් ලෝකෝත්තර මගටත් වැදගත් වෙන තවත් පැහැදිලි කිරීමක් තමයි මේ ඉදිරිපත් කරන්නෙ. මේ කරුණු හෙළිදරව් කරන ආරණ්‍යවාසී භික්ෂූන් වහන්සේ, වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ ගිහි වතක ඉඳන්ම ළඟින් ඇසුරු කරල ලබා ගත්ත අත්දැකීම්වලින් ඒ කාරණය පැහැදිලි කළේ මේ විදිහට.

වහරක අරිය චින්තාශ්‍රම බෞද්ධ විහාරස්ථානය ආරම්භ කරපු මුල් කාලයේ පසළොස්වක පෝය සහ මාසෙ පෝය දවස්වල විවිධ සාසනික කටයුතු සිද්ධ කළා. ඉරිද දවස්වල ආශිර්වාද සෙත් පූජාව සිද්ධ කළා. පසුකාලයකදි බොහෝ දෙනාගේ ඉල්ලීම හා පහසුව සඳහා ඉරිද දවස්වල කරපු ආශිර්වාද සෙත් පූජාව සෙනසුරාද දවස්වල තමයි සිද්ධ කළේ. ඔය කාලයේ බොහෝ දුරට සාසනික කටයුතු සිද්ධ කරන දවස්වලට කලින් දවසෙ විවිධ ප්‍රදේශවලින් දායක පින්වතුන් වහරක විහාරස්ථානයට එනවා. මොකද රාත්‍රී කාලයේ වහරක හාමුදුරුවො එක්ක ධර්ම සාකච්ඡා කරන්නත්, සෙසු සාසනික අවශ්‍යතාවයන් ඉෂ්ට කරගන්නත් ඕන නිසා. අපිත් ඉතින් අපේ දායක පින්වතුන් සාසනික කටයුතු සිද්ධ කරන දවස්වලට වගේම ඊට කලින් දවසෙත් ඒ කටයුතු සඳහා යවන අවස්ථා ඕන තරම් තිබුනා. දවසක් වහරක හාමුදුරුවො දන්න හඳුනන පින්වතුන් වගේම අපේ ආරණ්‍ය ප්‍රදේශයෙනුත් යවපු අලුත් පින්වතුන් පිරිසක් ඒ සාසනික කටයුතු සිද්ධ කරන දවසට කලින් දවසෙ වහරක විහාරස්ථානයට ගිහින් රාත්‍රී කාලයේ ධර්ම සාකච්ඡා කර කර ඉන්නකොට විශේෂ සිදුවීමක් වුනා.

ධර්ම සාකච්ඡාව යන අතරම රෑ 10 - 11 ට විතර පන්සලේ දුරකතනය නාද වෙන්න පටන් ගත්තා. වහරක හාමුදුරුවො වටපිට දෙපාරක් බැලුවා. දුරකතන ඇමතුම බාර ගන්න කෙනෙක් හිටියෙ නෑ. අපේ ගිහි පින්වතුනුත් ආගන්තුක නිසා ඒ අයට දුරකතන ඇමතුමට කතා කරන්නත් බෑ. කතා කරන්න වෙන කෙනෙක් ඉදිරිපත් වුනෙත් නෑ. ඒ නිසා වහරක හාමුදුරුවො වටපිට බලල ධර්ම සාකච්ඡාව නතර කරල නැගිටල, නිහඬවම බිම බලාගෙන ගිහින් දුරකතනයට සම්බන්ධ වුනා. ඒ කාලෙ දුරකතනයේ තිබ්ච්ච කාර්මික දෝසයක් නිසා කතා කරන ඔක්කොම දේවල් වටපිටාවෙ හැම තැනටම ඇහෙනවා. ඉතින් ඒ වෙලාවෙ කාන්තාවක් තමයි කතා කළේ. ඒ කාන්තාව අහනවා, වහරක පන්සලේ අභයරතනාලංකාර හාමුදුරුවොද ඔය කතා කරන්නෙ කියල. හාමුදුරුවො කිව්වා, ඔව් මම තමයි වහරක අභයරතනාලංකාර හාමුදුරුවො කියල. එතකොට ඒ කාන්තාව අහනවා, ................ උපාසක මහත්තය ඔය පන්සලට ආවද කියල. හාමුදුරුවො කිව්වා, ඔව් මම දැක්කා හවස් වරුවෙ නම් උපාසක මහත්තය පන්සලේ හිටිය කියල. එතකොට මේ කාන්තාව හාමුදුරුවන්ට එක දිගටම බැනගෙන බැනගෙන ගියා. කෙනෙකුට අහගෙන ඉන්න බැරි තරම් අසභ්‍ය වචන භාවිතා කරල තමයි බැන්නෙ.

මේ කාන්තාව කියනවා, මගේ මිනිහ පන්සලේ තියා ගත්ත නම් උඹ මගේ .................. වැඩ ටික කරල දීපං කියල. ඒ වෙලාවෙ අපේ අලුත් දායක පින්වතුන් වගේම වහරක හාමුදුරුවන්ගෙන් බණ අහල හිටපු පැරණි දායක පින්වතුනුත් එතන හිටියා. දැන් ඒ අයත් බලාගෙන ඉන්නවා, ඒ කියන දේවල්වලට හාමුදුරුවො මොකක්ද කියන්නෙ කියල. හාමුදුරුවොත් පෙරළා බනියිද, නැත්නම් දුරකතනය විසන්ධි කරයිද, මට වැඩ තියෙනවා ඕවට උත්තර දෙන්න වෙලාවක් නෑ කියයිද... මේ ආදී වශයෙන් එතන හිටපු සියලු දෙනාම කුතුහලයෙන් හාමුදුරුවො දිහා බලාගෙන ඉන්නවා උන්වහන්සේ මොනව කරයිද කියල. ඒ කාන්තාව ඒ තරම්ම අසභ්‍ය විදිහට බනින අවස්ථාවෙත්, වහරක හාමුදුරුවො දැහැත් විට හපමින් උගුර පාදමින් ඒ සියල්ලටම ඇහුම්කන් දෙන බව අඟවමින් තමයි අහගෙන හිටියෙ.

අන්තිමට කාන්තාව බනින එක ටික වෙලාවකට නතර කළාම, හාමුදුරුවො කිසිම කලබලයක් නැතිව බොහොම ශාන්තව කියනවා, මම අද හවස ........... උපාසක මහත්තය පන්සලට ඇවිත් ඉන්නව නම් දැක්කා, ඒත් ඉතින් මම එතුමන්ට පන්සලට එන්න කිව්වෙත් නෑ, නමුත් ඉතින් පන්සලට ඇවිත් ඉන්නව දැක්කම මම යන්න කිව්වෙත් නෑ කියල. ඉතින් නැවතත් ඒ කාන්තාව හාමුදුරුවන්ට ඇතිවෙනකල්ම බැනල අවසානයේ ඒ කාන්තාවම කතාව නතර කළාම හාමුදුරුවො කියනවා, ආ හොඳයි මම එහෙනම් දුරකතනය තියන්නම් කියල. කාන්තාවගෙ පැත්තෙන්ම දුරකතනය විසන්ධි කළාම, වහරක හාමුදුරුවො නැවතත් ධර්මාසනයට ඇවිත් කිසිම කලබලයක් කම්පාවක් නැතිව, ධර්ම සාකච්ඡාව නතර කරපු තැන ඉඳල ඒ විදිහටම හරි ලස්සනට දිගටම කරගෙන ගියා. ඒ විදිහට රෑ 3 - 4 වෙනකල්ම ධර්ම සාකච්ඡාව කරගෙන ගිහින් හාමුදුරුවො කියනවා, හොඳයි දැන් ඉතින් රෑ වුනානෙ හෙට දවස පුරාමත් සාසනික වැඩසටහන් කරන්න තියෙන නිසා අපි ටිකක් විවේක ගමු නේද කියල. ඔය මහත්තයලත් පහල ධර්ම ශාලාවටවත් ගිහින් පුළුවන් විදිහට ටිකක් විවේක ගන්න කියල ඒ පිරිසටත් කිව්වා.

ඊට පස්සෙ එතන හිටපු සියලු දෙනාම හාමුදුරුවන්ට වන්දනාමාන කරල පහල ධර්ම ශාලාවට යන්න පිටත් වුනා. එතන හිටිය සියලු දෙනාම ධර්ම ශාලාවට යන ගමනුත්, ගියාට පස්සෙත්

කතා කළේ වහරක හාමුදුරුවන්ට බැනපු කාන්තාව ගැනයි, හාමුදුරුවො ඒ අවස්ථාවට මුහුණ දීපු හැටියි. හාමුදුරුවො නම් මහ පුදුම කෙනෙක්, මම නම් කියන්නෙ රහතන් වහන්සේ නමකට මිසක් වෙන කෙනෙකුට නම් ඔහොම ඉවසන්න බෑ කියල එක් කෙනෙක් කිව්වා. තව කෙනෙක් කියනවා, මගේ ජීවිත කාලයටම මේ වගේ හාමුදුරුවො නමක් නම් දැකල නෑ කියල. තවත් කෙනෙක් කියනවා, මට නම් ඔහොම දෙයක් වුනා නම් අහන්න බලන්නෙ නෑ දුරකතනය අරගෙන පොළොවෙ ගහනව කියල. මොකද වහරක හාමුදුරුවන්ගෙන් බණ දහම් අහල දහම් අවබෝධයක් තියෙන අය වගේම දහම් අවබෝධයක් නැති පළවෙනි වතාවට ඒ විහාරස්ථානයට ගිය අලුත් අයත් ඔය අවස්ථාවෙ හිටියා.

ඉතින් මේ විදිහට වැඩි දෙනෙක්ම කිව්වෙ, ඒ කාන්තාව වහරක හාමුදුරුවන්ට නෙවෙයි, නිකං මනුස්සයෙකුට කතා කළත් ඒ කතා කරපු විදිහ බොහොම වැරදියි කියල. ඒ අතරෙ එක මහත්තයෙක් කියනවා, වහරක හාමුදුරුවන්ට බැන්නෙ කොහේවත් යන කාන්තාවක්, ඒ තරම් බැනලත් හාමුදුරුවො කිසිම දෙයක් විරුද්ධව කිව්වෙත් නෑ, තරහ ගත්තෙත් නෑ, ඒ කාන්තාව වැරදියි කිව්වෙත් නෑ, අපි එක්කත් ඒ සිදුවීම ගැන මුකුත්ම කිව්වෙත් නෑ, ඇයි හාමුදුරුවන්ට බැන්න එකට අපි තරහ ගන්නෙ කියල.

මේ විදිහට එතන හිටපු අය තම තමන්ගෙ අදහස් හුවමාරු කරගෙන ඒ සාකච්ඡාවම ධර්ම සාකච්ඡාවක් බවට පත් කරගෙන එළිවෙනකල්ම කතාබහ කර කර හිටියා. ඒ අයට නිදාගන්න වෙලාවක් තිබුනෙත් නෑ. සියලු දෙනාම මේ විදිහට කතා කර කර ඉඳල උදේ සාසනික කටයුතු සඳහා සුද්ධ පවිත්‍ර කිරීම් ආදී කටයුතු සිද්ධ කළා. පුද පූජාවන් සකස් කරල උදේ වරුවෙ තියෙන මහා ආශිර්වාද සෙත් පූජාවට සූදානම් වුනා. බුද්ධ පූජාව තැන්පත් කරල සෙත් පූජාව තියන්න සූදානම් වෙනවත් එක්කම, එතන හිටිය විසාල පිරිස අතරින් බොහොම කලබලයෙන් කොණ්ඩය අවුල් කරගෙන, පරණ ඇඳුමක් ඇඳගෙන, කිසිම පිළිවෙලකට වැඩක් නොකරන බව පේන, බොහොම සැර පරුස පෙනුමක් තියෙන හැඩි දැඩි කාන්තාවක් අඬාගෙන දුවගෙන ආවා. ඇවිත් වහරක හාමුදුරුවො ආශිර්වාද සෙත් පුද පූජාව තියන්න සූදානම් වෙනකොටම ඉදිරියටම ඇවිත් බිම වැටිල අඬ අඬා කියවන්න පටන් ගත්තා. "මේ ඉන්නෙ වහරක අභයරත්නාලංකාර හාමුදුරුවොද, අනේ ඔබවහන්සේට මම ඊයෙ හරියට බැන්නා, මට සමාවෙන්න, ඔබවහන්සේ නම් මහා බුදු කෙනෙක් වගෙයි, මට වචනයකින්වත් බැන්නෙ නෑ, මේ වගේ උත්තමයෙකුටද මම ඒ බැන්නෙ..." ආදී වශයෙන් පිස්සුවෙන් වගේ බොහෝ දේවල් කිය කියා හාමුදුරුවො ඉදිරියේ වැඳ වැටිල සමාව ගත්තා. වහරක හාමුදුරුවො ඒ වෙලාවෙත් ඒ කාන්තාව දිහා බලල නිහඬවම අහගෙන හිටියා. එහෙම අහගෙන ඉඳල කියනවා, ආ හොඳයි දැන් බුද්ධ පූජාව තියන වෙලාවනේ, අපි බුද්ධ පූජාව තියමු නේද කියල. එතකොට හැමදෙනාම එක් වරම සාධුකාර දීල මහා ආශිර්වාද සෙත් පූජාව ආරම්භ කළා.

මේ සිදුවීම එදා සෙත් පූජාවට සහභාගි වෙච්ච විසාල පිරිසක් දැක්කා. නමුත් කලින් දවසෙ රෑ වහරක හාමුදුරුවන්ට බැනපු ආකාරය නම් දැක්කෙ බොහොම ටික දෙනයි. හාමුදුරුවො ආශිර්වාද සෙත් පූජාව තියන අවස්ථාවල වගේම පින් අනුමෝදන් කරන අවස්ථාවලත්, විවිධ අමනුස්ස දෝස, ප්‍රේත දෝස තියෙන අය කෑ ගහනවා, ආරූඪ වෙනවා... මේ ආදී නොයෙක් සිදුවීම් සාමාන්‍යයෙන් වෙනවා. සාසනික කටයුතු අවසන් වෙනකොට ඒ අසනීප තත්ත්වයන් සම්පූර්ණයෙන්ම හොඳ වෙන අයත් ඉන්නවා. ඒ නිසා මේ සිදුවීමත් වැඩි දෙනෙකුට සාමාන්‍ය දෙයක් වුනා. නමුත් මේ සිදුවීමේ ඇත්ත නැත්ත දන්නෙ කලින් දවසෙ රෑ ධර්ම සාකච්ඡාවට සම්බන්ධ වෙච්ච අය විතරයි.

ඉතින් මේ සිදුවීමෙන් අපිට පැහැදිලියි, වහරක හාමුදුරුවො කියන්නෙ අද කාලෙ වැඩ ඉන්න භික්ෂූන් වහන්සේලා අතර අසාමාන්‍ය ගුණ තිබ්බ්ච උත්තමයෙක් කියල. එදා රෑ ඒ කාන්තාව ඒ තරම් අසභ්‍ය, අසීලාචාර විදිහට බැන වැදුන අවස්ථාවෙත්, කිසිම තරහකින් හෝ මානසික කම්පනයකින් හෝ තොරව බොහොම නිහඬවම ඒ අවස්ථාවට මුහුණ දුන්නා. ඊට පහුවදා ඒ කාන්තාවම ඇවිත් ගුණ කිය කියා ළඟ වැඳ වැටුනා. මේ අවස්ථා දෙකේදිම එකම ආකාරයකට කටයුතු කිරීමම විශේෂ ගුණයක් හැටියට තමයි අපි දකින්නෙ.

ඒ වගේම වහරක හාමුදුරුවො ගිහි වතේ ඉන්න කාලෙ, භික්ෂූන් වහන්සේලා සෑහෙන පිරිසක් නිතර නිතර එතුමන් හමුවෙන්න ඇවිත් විවිධ දහම් ගැටළු සාකච්ඡා කරල ඒවා විසඳගෙන අවශ්‍ය උපදෙස් ආදියත් අරගෙන යනවා. ඔය අතර දවසක් රෑ අපි භික්ෂූන් වහන්සේලා දහ දොළොස් නමක් විතර එතුමන් සාසනික කටයුතු සිද්ධ කළ නිවසේ ධර්ම සාකච්ඡා කර කර හිටියා. ඒ නිවස පිහිටල තිබුනෙ ගම්මානයක මැද තුංමං හංදියක. නිවස වටේ තමයි පාර තිබුනෙත්. ඒ ගමේ හිටියා වහරක අබේරත්න උපාසක මහත්තය කරන සාසනික කටයුතු පිළිබඳව කිසිම අවබෝධයක් නැති, ඒ වගේම නිතරම මත් වතුර පානය කරමින් කටයුතු කරපු දෙතුන් දෙනෙක්. එදා රෑ මත් වතුර බීපු මනුස්සයෙක් ඇති පදමට බීල, අබේරත්න උපාසක මහත්තයට බැන බැන පාර දිගේ යනවා. ධර්ම සාකච්ඡාව පවා කරගෙන යන්නත් බැරි විදිහට කතාව මහ හයියෙන් ඇහෙනවා. අබේරත්න මහත්තය හිනා වෙවී වටපිට බල බල තමයි ධර්ම සාකච්ඡාව කළේ. මේ විදිහට සාකච්ඡාව කරගෙන යනකොට එන්න එන්නම බනින සද්දෙත් වැඩි වුනා. මොකද ඒ නිවස වටේට තමයි පොදු පාර තිබුනෙ. ඒ වෙලාවෙ අබේරත්න මහත්තය ධර්ම සාකච්ඡාව නතර කරල බොහොම සංවේගයෙන් වගේ මෙහෙම කිව්වා. "මොනවා කරන්නද, මිනිස්සුන්ට දහම් අවබෝධයක් නැති හැටි! මුන් මොකද රෑ තිස්සෙ ලයිට් දාගෙන කරන්නෙ කියල, මේ කරන ධර්ම සාකච්ඡා ඔය බනින කවුරුහරි හොරෙන් හරි අහගෙන හිටියොත්, අහන්න බලන්න දෙයක් නෑ ඒ මිනිස්සු ඔක්කෝටම කලින් නිවන් අවබෝධ කරගන්නවා. සසරෙ හැටි ඔහොම තමයි. මිනිස්සු නොදැනුවත්කම නිසා අප්‍රමාණ බාධා කරගන්නවා..." මේ ආදී වශයෙන් මහත්තය ඒ ගැනත් පැහැදිලි කිරීමක් කළා.

ඒ වෙලාවෙම එතනට ආසන්නයේ තිබ්බ්ච තවත් නිවසක ප්‍රධානියෙක් මත් වතුර බීල ඇවිත් ගෙදර මහ හයියෙන් බිරිඳත් එක්ක රණ්ඩු වෙනවා. ඒ කාන්තාවත් බැන බැන අඬ අඬා මහා සෝරනාඩුව. මේ කාන්තාව බැරිම තැන මිදුලට පැනල කළුවරේම ළඟ තිබ්බ්ච මල් පඳුරක් ළඟ හැංගුනා. උඹ දුවල මගෙන් බේරෙන්නද හදන්නෙ, තෝ මරනවා කියල බීල රණ්ඩු වෙන පහර දෙන මනුස්සයා ඒ කාන්තාව හොයනවා. ඔය වෙලාවෙම තමයි අබේරත්න උපාසක මහත්තයටත් බැන බැන යන මනුස්සය පාර දිගේ ගියේ. හරියටම ඒ ගෙදර ළඟින් යනකොට තමයි ඒ කාන්තාව රණ්ඩු වෙලා පැනල ගිහින් කළුවරේම මල් පඳුර ළඟ හැංගුනේ. ඔය වෙලාවෙ ඒ ගෙදර හිටපු බීමත් මනුස්සය හිතුවෙ, තමන්ගෙ බිරිඳ ඔහුට බැන බැන පාර දිගේ යනව කියල. අධික බීමත්කම නිසා මේ කාන්තාවක්ද පිරිමියෙක්ද කියලවත් ඔහුට නිච්චියක් නෑ. ඒ නිසා මේ මනුස්සය එක පාරටම පාරට පැනල පොල් පිත්තක් අරගෙන, තමන්ගෙ බිරිඳ කියල හිතාගෙන අර පාරෙ අබේරත්න මහත්තයට බැන බැන යන

මනුස්සයට ගහන්න පටන් ගත්තා, තෝ මට බැනල පැනල යන්නද හදන්නෙ කියල. දැන් මේ පාරෙ යන ගමන් බනින මනුස්සය හිතනවා, අබේරත්න උපාසක මහත්තය තමයි මේ තමන්ට පහර දෙන්නෙ කියල. ඔහු කෑ ගගහ වැටි වැටී දුවනවා, බුදු මහත්තයෝ මම ආයෙ කවදාවත්ම මහත්තයට බනින්නෙ නෑ කියල. පොල් පිත්තෙන් ගහන අර ගෙදර මනුස්සය මත් වතුර බීල සිහි කල්පනාව නැතිව, තෝ බොල ගෑනියේ මගෙන් බේරිලා යන්නද හදන්නෙ, අද මම තෝ මරනවා... ආදී වශයෙන් කිය කියා මේ පුද්ගලය පස්සෙ වැටි වැටී පොල් පිත්තත් අරගෙන පන්නනවා.

කොහොම හරි මේ විදිහට රණ්ඩුව යන වෙලාවෙ භික්ෂූන් වහන්සේලා කිහිප නමක් එක්ක මාත් ඉක්මනට මිදුලට බැහැල මේ සිදුවීම බලාගෙන හිටියා. ටික වෙලාවකින් සිද්ධිය අවසන් වුනාම නැවතත් අපි අබේරත්න උපාසක මහත්තයත් එක්ක මේ වෙච්ච සිදුවීම සාකච්ඡා කර කර හිටියා. බලන්නකො මහත්තය මහ පුදුම වැඩක්නෙ වුනේ, මහත්තයට බැන බැන ගිය මනුස්සයට ළඟ ගෙදර මනුස්සය තමන්ගෙ බිරිඳට පහර දෙන ආකාරයෙන් තමයි පහර දුන්නෙ, හරියට මේ සිදුවීම් දෙකම එකම වෙලාවෙ සිද්ධ වෙච්ච හැටි... කියල මේ ආදී වශයෙන් අපි ඒ ගැන කතා වුනා. මහත්තයත් ඉතින් හිනා වෙවී, මොනවා කරන්නද ලෝක සත්ත්වයෝ දහම් අවබෝධයක් නැති නිසාත්, නොදන්නකම නිසාත් කරගන්න මහ විනාස, සසරෙ හැටි ඔහොම තමයි... ආදී වශයෙන් කිය කිය ඉන්න ගමන් එක පාරටම අහක බලා ගත්තා. තත්පර 10 ක් විතර නිහඬවම ඉඳල මෙහෙම කියනවා.

"ස්වාමීන් වහන්ස මහ පුදුම වැඩක්නෙ දැන් වුනේ! සාසනයට බැන බැන ගිය එකට තමයි ඒ දඬුවම මෙලොව වශයෙන්ම ඔහුට ලැබුනෙ. මට බැන්නට මම ඒවා බාර ගත්තෙ නැහැනෙ. ඒ වුනත් ඒ බැනීම සාසනයට කරපු අපවාදයක්, අගෞරවයක්, විශේෂ ධර්ම සාකච්ඡාවකට කරපු මහා බාධාවක්. එහෙම කිරීම කොහෙත්ම ගැලපෙන්නෙ නෑ. ඒ නිසා මේ ස්ථානයේ සිද්ධ කරන සාසනික පුද පූජාවලට සම්බන්ධ වෙලා ඒවාට කැමැත්තෙන් ඉන්න අමනුස්සයෙක් ඒ මනුස්සයගෙ ඇඟට ආවේස වෙලා තමයි ඒ විදිහට පොල් පිත්තකින් පන්න පන්න ගැහුවෙ."

අබේරත්න උපාසක මහත්තය සමාධියට යොමු කරල බලල තමයි මේ කතාව කිව්වෙ. මත් වතුර බීගෙන දුෂ්චරිත වැඩ කරමින් නරක නපුරු ජීවිත



ගත කරමින් කටයුතු කරනකොට, ඒවාට අදාළ අමනුස්ස අය පවා හරියට සම්බන්ධ වෙනවා. ඒවායෙන් ඒ දෙගොල්ලොම සසර ගමනට අප්‍රමාණ බාධා සිද්ධ කරගන්නවා කියල මහත්තයා ඒ ගැනත් පැහැදිලි කිරීමක් කළා.

**දහම් මාර්ගය පූර්ණ කරගන්න අය වශයෙන්, අපිට බැන්නට ගැහුවට අපි ඒ අයට ගහන්න, බනින්න, සාප කරන්න හොඳ නෑ. අපි අහිතක් හිතුවොත් එහෙම අමනුස්ස ලෝකවලින් පවා ඒ අයට බොහොම කරදර බාධක එනවා. අපි ඉතින් හැම වෙලාවෙම කෙනෙකුට විපතක් කරදරයක් විනාසයක් නොවේවා කියන අදහසින් කටයුතු කළත්, දහම් මාර්ගය අනුගමනය කරන අයට යමෙක් විරුද්ධව කටයුතු කරනකොට, ඒ අය නොකිව්වත් නොපැතුවත්, ඒ අයව ආරක්ෂා කරගන්න අමනුස්ස ලෝකවල අය වගේම දෙවි දේවතා පිරිස් පවා ඉන්නවා. එබඳු කරදර බාධා වළක්වන්න යමක් කරන්න පුළුවන් නම් ඒ අය පවා උදව් උපකාර කරන අවස්ථා තියෙනවා.** එබඳු අවස්ථාවක් තමයි අද සිද්ධ වුනෙත් කියල අබේරත්න උපාසක මහත්තය ඒ ගැන තවත් පැහැදිලි කළා.

හැබැයි ඔය ගමේ ගොඩේ ඉන්න මත් වතුර නිෂ්පාදනය කරන, මත් වතුර බොන, හොර මැරකම් කරන මිනිස්සු මොන තරම් වැරදි වැඩ කළත්, ගමේ පන්සලේ හාමුදුරුවන්ට බනින්න දෙන්නෙ නෑ. හොඳ වැඩවලට බාධා කරන්නෙ නෑ. අපිට සිල් රකින්න භාවනා කරන්න බෑ, අපිට දැන්ම නිවන් දකින්න ඕන නෑ, ඒ වුනාට ඒවා කරන අයට අපි විරුද්ධ නෑ, බාධා කරන්නෙ නෑ, ඒ නිසා උඹල ඕන දෙයක් කරපන්, හාමුදුරුවන්ට විතරක් ගහන්න බනින්න යන්න එපා, ඒකට නම් අපි විරුද්ධයි කියල ඒ අය කියන්නෙ. ඒ වගේ තමයි සාසනය මතු වෙනකොට මේ ලෝක ධාතුව තුලත් විශ්ව පරිසරය අවශ්‍ය විදිහට සැකසෙන ක්‍රමවේදයක් ස්වභාවයෙන්ම හැදෙනවා. ඒක ධර්මතාවයක්.

බුද්ධ සාසනයක තියෙන විශේෂ උපමා දේශනාවක් තමයි කොස් ගෙඩිය. (මේක පැය ගණනක විශේෂ ධර්ම දේශනාවක්) අපිට අවශ්‍ය වෙන්නෙ කොස් ගෙඩියේ කොස් ඇට සහ කොස් මදුලු විතරයි. නමුත් කොස් කටුව, කොස් ඉරි, කොස් වහල්ල... ආදිය නැත්නම් කොස් ඇට සහ කොස් මදුලු ආරක්ෂා වෙන්නෙත් නෑ. ඒ වගේ තමයි බුද්ධ සාසනයක් මතුවෙන කාලෙදි හොඳ අය වගේම නරක අයත් සාසන පැවැත්මට හේතු වෙනවා. ඒ කියන්නෙ නරක වැඩ කරන එක හොඳයි කියන එක නෙවෙයි. නරක දේ කවුරු කළත් නරකයි. හොඳ දේ කවුරු කළත් හොඳයි. නමුත් අපි ඒවා නුවණින් කල්පනා කරල බලල තේරුම් ගන්න ඕන. මොකද කෙනෙකුට හොඳ දෙයක් තවත් කෙනෙකුට නරක වෙන්න පුළුවන්. ඒ වගේම කෙනෙකුට නරක දෙයක් තවත් කෙනෙකුට හොඳ වෙන්නත් පුළුවන්. ඒ නිසා හොඳ නරක කියන දෙකම අවස්ථානුකූලව හා ධර්මානුකූලව තෝරා බේරාගන්න ඕන.

මේ ආදී වශයෙන් එදා රෑ එළිවෙනකල්ම හිතන්න කියන්න බැරි තරම් විශේෂ ධර්ම සාකච්ඡාවක් තමයි අබේරත්න උපාසක මහත්තය කළේ. ඒ දේශනාව එහෙම ලියන්න කියන්න පුළුවන්කමක් නෑ. ඒ තරම් දිගයි. ඒ නිසාම මේ ලිපිය කියවන පින්වතුන්ට විවිධ ප්‍රශ්න මතු වෙන්න පුළුවන්. නමුත් මේ කරුණු මේ විදිහට ඉදිරිපත් කළේ විශේෂ යමක් කියන්න. දැන් මේ වගේ සිදුවීම් තුලින් කෙනෙකුට හිතෙන්න පුළුවන්, ඇයි මේ විදිහට වහරක හාමුදුරුවන්ට විරුද්ධව කටයුතු කරන අයට

සහ උන්වහන්සේ සමග සාසනික කටයුතුවලට සම්බන්ධ වෙලා සාසනික දේ දැනුවත්ව හෝ නොදැනුවත්ව හෝ වැරදියට පරිහරණය කරන අයට විතරක් මේ තරම් විපාක දෙන්නෙ, ඇයි අනික් අයට විපාක නොදෙන්නෙ කියල.

බුද්ධ පූජාවට තියපු දේවල්වලින් බුලත් විටක් කෑවම, තැඹිලි ගෙඩියක් බිව්වම, එහෙම නැත්නම් කිරි පැණි ටිකක් කෑවම... මේ වගේ සුළු දේකිනුත් මේ තරම් විපාක දෙනව නම්, අද කාලෙ වෙහෙර විහාරස්ථානවලට සම්බන්ධ බොහොමයක් දෙනා කටයුතු කරන ආකාරය දැකල ඒ අයට එහෙම වෙන්නෙ නැත්තෙ ඇයි කියල විවිධ ප්‍රශ්න මතුවෙන්න පුළුවන්. සැදැහැවතුන් දහස් ගණන්, ලක්‍ෂ ගණන් වඳින පුදන පූජනීය ස්ථානවල තියෙන දේවල් පවා, බොහෝ විට සාසන හැඟීමෙන් තොරව ඇතැම් අය පරිහරණය කරලත් ඇයි ඒ අයට ඒවා විපාක දෙන්නෙ නැත්තෙ.. ආදී වශයෙන් නොයෙක් දේවල් කියන අය මේ කාලෙ ඕන තරම් ඉන්නවා. ඒ නිසා තමයි මීට පෙරත් සඳහන් කළේ, සාසනයක් මතු වුනාම දහම් අහල නිවන් අවබෝධ කරගන්නවා වගේම සතර අපායට යන පිරිසත් වැඩියි කියල.

මේ සම්බන්ධයෙන් තවත් හොඳ දහම් කතාවක් දහම් පොත්පත්වල සඳහන් වෙනවා. දවසක් බුදු හාමුදුරුවො වැඩ ඉන්න තැනට බමුණෙක් ඇවිත් උන්වහන්සේට බැන්න කියනවා. ඒ වෙලාවෙ බුදු හාමුදුරුවො නිහඬවම ඒ සියල්ල අහගෙන ඉඳල, අවසානයේ මේ බැනපු මනුස්සයගෙන් ප්‍රශ්න කිහිපයක් අහනවා. බමුණ, ඔබට නෑදෑයො ඉන්නවද? ඔබ ඒ නෑදෑයන්ගෙ ගෙවල්වල යනවද? ඔබ යනකොට කොහොමද යන්නෙ එන්නෙ? තෑගි හෝග එහෙමත් අරගෙනද යන්නෙ?... මේ ආදී වශයෙන් ප්‍රශ්න අහල සාකච්ඡාවක් කරනවා. එතකොට මේ බමුණ කියනවා, මට නෑදෑයොත් ඉන්නවා, මම නෑදෑයන්ගෙ ගෙවල්වලත් යනව එනවා, තෑගි හෝග ආදියත් අරගෙන තමයි යන්නෙ... කියල. ඊළඟට බුදු හාමුදුරුවො අහනවා, ඒ ගෙනියන තෑගි හෝග ආදිය ඒ අය බාර ගත්තෙ නැත්නම් ඔබ ඒවාට මොකද කරන්නෙ කියල. එතකොට ඔහු කියනවා, ගෙනියන තෑගි හෝග ඔවුන් බාර ගත්තෙ නැත්නම් ඉතින් මම ඒවා නැවත ගෙදර අරගෙන එනව කියල. ඊළඟට බුදු හාමුදුරුවො දේශනා කරනවා, බමුණ ඔබ මෙච්චර වෙලාවක් මට බැනපු ඒවත් මම බාර ගත්තෙ නෑ, ඒ නිසා ඒවත් ඔබම යනකොට අරගෙන යන්න කියල. එතකොට තමයි බමුණට කාරණය වැටහුනේ.

ඒ වගේ තමයි අපිට බනින ඒවා, විරුද්ධකම් කරන ඒවා, අපි බාර ගත්තොත් තමයි ප්‍රශ්න එන්නෙ. මේ කියන අවස්ථාවලදීත් වහරක හාමුදුරුවන්ට බැන්නට උන්වහන්සේ ඒවා මනසින් බාර ගත්තෙ නෑ. ඒ කියන්නෙ ඒවාට තරහ ගත්තෙ නෑ. පෙරලා බනින්න ගියෙත් නෑ. ඒ අයට සාප කළෙත් නෑ. ඒවාට විරුද්ධව වැඩ කරන්න ගියෙත් නෑ. ඒ නිසා ඒවා නැවතත් ඒ කරපු කියපු අය කරාම යනවා. ඒකත් ධර්මතාවයක්. **අපිට කෙනෙක් බැන්නම අපි තරහ ගන්නවා කියන්නෙ, ඒවාට පෙරලා බනිනවා කියන්නෙ, ඊට ප්‍රතිවිරුද්ධව වැඩ කරනවා කියන්නෙ, අපි ඒවා බාර ගත්තා කියන එක. එතකොට ඒවා ආපහු යන්නෙ නෑ, අපි වටා පිහිටනවා.** දහම් මාර්ගයේ යන අයට යමෙක් බැන්නම ගැහුවම, ඒ අයගෙ දෙයක් හොරකම් කළාම... මේ ආදී දේවල් කළාම බෞද්ධයො හැටියට, බුද්ධ ශ්‍රාවකයන් හැටියට එකට එක කරන ක්‍රමයකුත් තියෙනවා. **බෞද්ධයන්ගෙ ක්‍රමය තමයි, බනින කෙනාට නොබැන දඬුවම් දිය යුතුයි, පහර දෙන කෙනාට පහර නොදී දඬුවම් දිය යුතුයි, හොරකම් කරන කෙනාට හොරකම් නොකර දඬුවම් දිය යුතුයි... කියන ක්‍රමවේදය.**

මේ විදිහට තමයි දහම් මාර්ගයේ යන අය සෙසු අයට දඬුවම් දෙන්නෙ. ඒක දහම් මාර්ගයේ යන අය කරන විශේෂ දඬුවම් ක්‍රමයක්. බෞද්ධ අපිට විරුද්ධව කටයුතු කරන අයට දඬුවම් දෙන්න ඕන ඔය ක්‍රමයට තමයි. ඒ දඬුවම් ක්‍රමය තමයි වහරක හාමුදුරුවොත් ක්‍රියාත්මක කළේ. ඒ වගේම වහරක පන්සලට සම්බන්ධ සෙසු අය අතරත් වහරක හාමුදුරුවන්ට සමානව නැතත්, යම් යම් අවස්ථාවල ඒ දඬුවම් ක්‍රමය ක්‍රියාත්මක කරන්න උත්සාහ ගත්ත අයත්, උත්සාහ ගන්න අයත් ඉන්නවා. ඒ නිසා තමයි උන්වහන්සේට සහ ඒ ධර්ම මාර්ගය පූර්ණ කරගෙන යන අයට විරුද්ධව කටයුතු කරන අයට, අනික් අයට වඩා ඉක්මනට විපාක දෙන්නෙ. නමුත් එහෙම විරුද්ධව කටයුතු කරපු අයට විපාක දුන්නත් ඒ කාරණය නිසා තමන්ට විපාක දුන්න කියල ඒ අය නොදැන ඉන්න පුළුවන්. ඒක වෙනත් කාරණයක් නිසා සිද්ධ වුනා කියල නිගමනය කරන්න පුළුවන්. මොකද එහෙම කර්ම විපාක ගැන බලන්න ක්‍රමයක්, ඒ ගැන තේරුම් ගන්න නැණ නුවණක් ඒ අයට නැති නිසා. ඒ වගේම ගුණ වඩපු, ගුණ වඩන උතුමන් වහන්සේලාට, සිල්වතුන්ට, ගුණවතුන්ට, මව්පියන්ට... ආදී උතුමන්ට නිගරු කිරීම, අපවාද අගෞරව කිරීම, ඒ අය පරිහරණය කරන දේපළවලට අලාභ හානි කිරීම... ආදියටත් එන විපාක වැඩියි. මොකද ගුණ මහත්වය නිසා. ඒ වගේම තමයි නොදැන හෝ වේවා සිල්වතුන්ට, ගුණවතුන්ට ගරු උපහාර පූජාවන් පැවැත්වීමත් මහානිසංස පිංකමක්.

සාසනික දේවල් නොදැනුවත්කමින් හෝ වැරදියට පරිහරණය කිරීමත් ඒ වගේ දෙයක්. **ඒ වත් පිළිවෙත් හරියට සිද්ධ කරන, විශ්වයට මහා සුද්ධ ශක්තියක් නිකුත් කරන පූජනීය ස්ථානවල, ඒ වගේ වැරදි පරිහරණය කිරීම් සිද්ධ වුනොත් එන විපාකයත් වැඩියි. ඒ ස්ථානවල ඉන්න පින්වතුන් පවා ඒ වගේ කරදර විපාක ආවම, ඒවට හේතු වෙච්ච කාරණා ධර්මානුකූලව හොයල බලල දැනුවත් වෙන නිසාත්, ඒ ගැන අවධානයෙන් ඉන්න නිසාත් ඒ විපාක ගැන ආරංචි පැතිර යනවත් වැඩියි.**

හැබැයි වර්තමානයේ බොහොමයක් වෙහෙර විහාරස්ථාන සතු දේපළ, ඉඩකඩම්, පුද පරිස්කාර (පූජා පිරිකර)... ආදී සාසනය සතු දේවල් බලෙන් හොරෙන් අයුතු අසාධාරණ විදිහට පරිහරණය කරනකොට, අපිට බැලු බැල්මට පේන්න දකින්න තියෙන්නෙ, ඒ අය ලෞකික වශයෙන් ඉතා ඉක්මනින් දියුණු වෙන හා සුඛෝපභෝගී ජීවිත ගත කරන ආකාරයක්. නමුත් අපි ඒ පිළිබඳව විමසිල්ලෙන් හා ධර්මානුකූලව නුවණින් විමසල බලන්න ඕන.

ධම්ම පදය (119 - 120) 9 පාප වර්ගය (4 - 5)

4. පාපෝපි පස්සති භද්‍රං
යාව පාපං න පච්චති
යදා ච පච්චති පාපං
අථ පාපෝ පාපානි පස්සති

**යම් තාක් පව් විපාක නොදේද, ඒ තාක් පව් කළ තැනැත්තා යහපත දකියි. යම් කලෙක පව විපාක දේද, එකල පව් කළ තැනැත්තා පවෙහි විපාක, අයහපත දකියි.**

5. භද්‍රෝපි පස්සති පාපං
යාව භද්‍රං න පච්චති
යදා ච පච්චති භද්‍රං
අථ භද්‍රෝ භද්‍රානි පස්සති

**යම් තාක් පින් විපාක නොදේද, ඒ තාක් පින් කළ තැනැත්තාද අයහපත දකියි. යම් කලෙක පින විපාක දේද, එකල පින් කළ තැනැත්තා යහපත දකියි.**

මේ ගාථා දෙකෙන් කියවෙන අදහස තමයි, අපි එදිනෙදා ජීවිතය ගත කරන කොට හේතුඵල නොදැන කියන්නෙත්. අර වගේ අය මොන තරම් අසාධාරණ වැඩ කළත් දවසින් දවස දියුණු වෙනවා, අපි මොන තරම් සාධාරණව හිටියත්

අපිටම තමයි කරදර බාධා එන්නෙ කියල මේ කාරණා දෙක තමයි ඉහත ගාථාවලින් කියවෙන්නෙ.

සාසනික දේවල් අනිසි විදිහට පරිහරණය කරන, ගුණ වඩපු උත්තමයන්ට දැන හෝ නොදැන දොස් කියන සියලු දෙනාටම කියන්න තියෙන්නෙත් ඉහත ගාථා දෙක පිළිබඳව නැවත නැවත හිතන්න, නැවත සිහි කරන්න කියන එක තමයි.

දැලි කුණු තැවරුන, මේස පිහදාන, අත පිහදාන පරණ රෙදි කෑල්ලක කුණු තැවරුනාට පේන්නෙ නෑ. හැබැයි හොඳ රෙදි කෑල්ලක මොනව හරි දෙයක් ගෑවුනොත් ඒක ඉතා පැහැදිලිව පේනවා. ඒ වගේ තමයි, මනා සිහි නුවණින් කටයුතු නොකරන නිසාත්, කිසිම දහම් අවබෝධයක් නැති නිසාත්, සමහර අය මොන තරම් අසාධාරණ අකටයුතුකම් කළත් ඒවාට විපාක දුන්නට ඒවා තේරෙන්නෙ නෑ. ඒ කරන ලද ඒවාට විපාක දෙන බව දන්නෙත් නෑ. එහෙම වෙන්න හේතු දකින්නෙත් නෑ. දැනගන්න අවශ්‍යතාවයක් සහ දැනගන්න තරම් නුවණකුත් නෑ.

ඒ වගේම, අපි මොන තරම් දහම් මාර්ගය අනුගමනය කරමින් සාධාරණව සිල්වන්තව ගුණවන්තව කටයුතු කළත්, අපිට තමයි නිතරම හිරිහැර කරදර බාධක කම්කටොළු එන්නෙ කියල කියන අයත් ඔය අතර ඕන තරම් ඉන්නවා. ඉතින් ඒවත් බොරු කියල කියන්න බෑ. ඒ අය බොරුවට එහෙම කියනවත් නෙවෙයි. නමුත් ඉතින් එහෙම වෙන්න හේතු දකින්නත් ඕන.

කොහොම නමුත් එක පාරටම සියලු දෙනාටම දහම් මාර්ගය කියල තේරුම් කරල දෙන්නත් බෑ. ක්‍රමානුකූලව බණ දහම් අහල, නිවැරදි දහම් මාර්ගය පූර්ණ කරමින් සාධාරණව කටයුතු කරන අය, මනා සිහි නුවණින් විමසිල්ලෙන් හා අවබෝධයෙන් කටයුතු කරන නිසාත්, සසරේ ස්වභාවය පැහැදිලිව ඇත්ත ඇති සැටියෙන් දකින නිසාත් ඒ අයට කරදර බාධක වැඩියි වගේ තමයි පේන්නෙ. සාධාරණය සහ අසාධාරණය කියන වචන දෙකත් අවස්ථානුකූලව සහ ධර්මානුකූලව තේරුම් ගන්න ඕන. මොකද කෙනෙකුට සාධාරණ දෙයක් තවත් කෙනෙකුට අසාධාරණයක් වෙන්න පුළුවන්. ඒ වගේම කෙනෙකුට අසාධාරණ දෙයක් තවත් කෙනෙකුට සාධාරණ වෙන්න පුළුවන්.

දෙවෙනි කාරණය තමයි, එහෙම කටයුතු කරන අයට ඇත්තටම කරදර බාධක වැඩි වෙන හේතුවකුත් තියෙනවා. දහම් මාර්ගය පූර්ණ කරනවා, නිවන් මාර්ගය පූර්ණ කරනවා කියන්නෙ, පෙර අනන්ත සංසාරෙ කරන ලද කර්ම සියල්ලම විපාක දීල ඉවරයි කියන එක නෙවෙයි. අපරාපරියවේදනීය කර්ම වශයෙන් නිවන් දක්නා ජාති දක්වාම පසුපස ඇවිත් විපාක දෙන කර්ම විපාකත් තියෙනවා. ලොව්තුරා බුදුන් වහන්සේ ගත්තත්, රහතන් වහන්සේලා ඇතුළු සෙසු ආර්ය උත්තමයන් වහන්සේලා ගත්තත් එහෙමයි. අනික මේ කාලෙ සසරෙන් එතෙර වෙන්න කටයුතු කරනවා කියන්නෙ, අපි හිතන පතන තරම් ලේසි පහසු කටයුත්තක් නෙවෙයි. මනා අවබෝධයකින් යුතුව කටයුතු කරන්න ඕන. මොකද බුදුන් වහන්සේ ජීවමානව වැඩ ඉන්න කාලයේ වගේ, එක බණ පදයක් අහල නිවන් පූර්ණ කරගන්න පුළුවන් පිරිසක් නෙවෙයි අද ඉන්නෙ. ඒ සඳහා සෑහෙන උත්සාහයක් වීර්යක් දරන්න ඕන.

අපි හිතමු ගමක ගම්මු 250 ක් ජීවත් වෙනව කියල. එක මනුස්සයෙක් ඒ සියලු දෙනාගෙන්ම ණයට මුදල් අරගෙන නොදී ඉන්නවා. දැන් ඒ ණය දීපු අය නිතර නිතර තමන්ගෙ ණය නැවත ඉල්ලල කරදර කරනවා. නමුත් ඒ සියල්ලම නිහඬව අහගෙන ඉඳල ඔහු කියනවා, මට දෙන්න මුදල් නෑ කියල. ණය හිමියො බැන්නත් හිත යටින් කියන්නෙ, මේ මිනිහ ළඟ මුදල් නෑ මොනවා කරන්නද කියල. නමුත් මුදල් ඉල්ලල බනිනවා. ඔය විදිහට ටික කාලයක් යනවා. දැන් මිනිස්සු බැනල බැනල එපා වෙලා ඉන්නෙ. ඔහු දකිනකොටත් රවමින් ගොරවමින් අප්‍රසාදය අකමැත්ත පළ කරනවා. කාලයක් යනකොට ඒවත් අඩු වෙලා නැති වෙලා යනවා. අපි හිතමු ඔහොම ඉඳල මේ මනුස්සය රට යන්න සූදානම් වෙනව කියල. ඒ ආරංචිය සුළු මොහොතකින් ගම පුරාම පැතිරිලා යනවා. නමුත් එතකොට නිහඬව හිටපු ණය හිමියො සියලු දෙනාම නැවතත් කලබල වෙනවා. ඔය මනුස්සයට රට නම් යන්න දෙන්නෙ නෑ කියල, දැන් සියලු දෙනාම එකතු වෙලා කරන්න පුළුවන් සියලු බාධක දානවා. ඇයි එහෙම කරන්නෙ? ණය හිමියන්ගෙ බලාපොරොත්තුවක් තියෙනවා, උඹ ණය නොදුන්නත් කමක් නෑ, අපිට පේන්න හරි ඉන්න ඕන කියල.

අන්න ඒ වගේ තමයි, අපි නිවන් දකිනවා, අපිට නිවන් දකින්න ඕන කියල කෑ ගැහුවට දැඟලුවාට බෑ. සසර ණයකාරයන්ගෙන් අපිට පැනල හැංගිලා යන්න බෑ. අපි ණය ගත්ත අයට කොයි විදිහකින් හරි ඒ ණය ගෙවන්න ඕන. රට යන මනුස්සය නම් සමහර විට අවුරුදු 30 - 40 කින් හරි නැවත එයි කියන අදහසක් ගන්න පුළුවන්. නමුත් කෙනෙක් නිවන් පූර්ණ කරගන්නවා කියන්නෙ, මේ කියන ලෝක 31 තලය තුලම නැවත කිසිම ආකාරයකින්වත් දකින්න ලැබෙන්නෙ නෑ කියන එක. ඉතින් අපි කොහොමද මේ සසරෙ ණය ගනුදෙනු කරපු අනන්ත ලෝකවාසී සත්ත්වයන්ගෙන් මග හැරල යන්නෙ? කර්ම බලවේග අපිට මග හැරල යන්න ඉඩ දෙයිද? ඒ නිසා අනන්ත සසරේ ගනුදෙනු පියවමින් තමයි අපි අපේ වැඩේ කරගන්න ඕන. එහෙම නැතිව අපේ ගමන අපිට යන්නත් බෑ, යන්න දෙන්නෙත් නෑ.

මම බණ ඇහුවා, මම ත්‍රිලක්ෂණය දන්නවා, මම පටිච්ච සමුප්පාදය දන්නවා, මම ලෝකෝත්තර සම්මා දිට්ඨිය දන්නවා කියල, කවුරුහරි කියපු වචන ටිකක් අහල කොළවල ලියාගෙන ඒක මතක තියාගෙන කට පාඩම් කරගෙන ඔය ටික කිය කියා රට පුරා ඇවිද්දට නිවන් අවබෝධ කරගන්න පුළුවන්ද? වචන ටික දැන ගත්ත කියල සියලු වැඩ පැත්තකට දාල කොහේ හරි ගිහින් වාඩි වෙලා ඇස් පියාගෙන හිටියට හරි යයිද? ඒ නිසා තම තමන් නුවණින් කල්පනා කරල බලල ඒ සඳහා නිසි වැඩ කටයුතු කරන්න ඕන.

අනන්ත සසර පටන් මේ දක්වාම අප්‍රමාණ පිරිසක් සමග ගනුදෙනු කරමින් තමයි අපි මේ කටයුතු කරන්නෙ. අපිත් එක්ක කටයුතු කරපු අය විවිධාකාරයි. අපි හිතමු අපි කෙනෙක්ගෙන් රුපියල් 1,000/= ක් ණයට ගත්ත කියල. අහවල් දවසෙ දෙන්න පොරොන්දු වෙලා තමයි ඒ ණය මුදල ගත්තෙ. නමුත් කියපු දවසට දෙන්න විදිහක් නැති වුනාම කියනවා, මම ගත්ත රුපියල් 1,000/= ට 2,000/= ක් වටින ඔරලෝසුවක් හෝ වෙනත් යමක් දෙන්නම් කියල. එතකොට කෙනෙක් කියන්න පුළුවන්, මට වැඩියෙනුත් එපා, අඩුවෙනුත් එපා, මම දීපු මුදලම මට ඕන කියල. තව කෙනෙක් ඉන්නවා, රුපියල් 1,000/= ක් ණයට අරගෙන දෙන්නම් කියපු දවසට දෙන්න විදිහක් නැතිව කියනවා, මට රුපියල් 1,000/= දෙන්න විදිහක් නෑ, රුපියල් 5,000/= ක් වටින රත්රන් මාලයක් තියෙනවා, ඒක දෙන්නද කියල. එතකොට ණය හිමියා කියන්න පුළුවන්, කමක් නෑ ණය ආපහු දෙනව කියලනෙ ගත්තෙ, මට මොනවායින් හරි ඒකට හරියන්න දෙයක් දෙන්න කියල. ඒ වගේ අයට තමයි ණය මුදලට සමාන හෝ වැඩි වටිනාකමක් තියෙන දෙයක් දීල බේරෙන්න පුළුවන් වෙන්නෙ. ඔහු ඊටත් වැඩිය වටින දෙයක් තමන්ට දුන්න කියල සතුටු වෙන්නත් පුළුවන්. ඒ

වගේ තමයි, අනන්ත සසරෙ පටන් මේ දක්වාම කටයුතු කරපු, ගනුදෙනු කරපු ආදී පරපුරත්.

තවත් උදාහරණයක් ගනිමු. භික්ෂූන් වහන්සේ නමක් නගරයේ තියෙන ආපන ශාලාවකින් දවල්ට ආහාර වේලක් ලබාගෙන කිව්වොත්, මුදලාලි මහත්තයෝ භික්ෂූන් වහන්සේලාට දානයක් දුන්නම ආයු, වර්ණ, සැප, බල, පටිභාන නුවණ ලැබෙනවා, දෙව් මිනිස් නිවන් කියන තුන් සම්පත්තිය ලැබෙනවා, ඔබට පින් ඕනද නැත්නම් මුදල් ඕනද කියල, මුදලාලි මොනවා කියයිද? මට ඒව වැඩක් නෑ, මගේ රුපියල් 100/=, නැත්නම් 150/= දෙන්න කියල ඉල්ලයි. නමුත් කඩවල් ගණනාවකට ගිහින් ඇහුවොත්, එක කඩ හිමියෙක් හරි කියන්නෙ නැත්ද, සල්ලි ඕන නෑ හාමුදුරුවනේ වඩින්න කියල. අන්න ඒ වගේ තමයි අපේ ආදී පරපුරත්. තමන් දීපු දේවල්වලින්ම තමන්ගෙ ණය ඕන කියල බලාපොරොත්තු වෙන පිරිසක් ඉන්නවා. තව පිරිසක් ඉන්නවා, මම දීපු ණය මොනවායින් හරි පියවන්න ඕන කියල. අපි මේ දෙගොල්ලන්ටම දෙයාකාරයෙන්ම සසර ණය ගෙවන්න ඕන. යමක් දීල ඒකම බලාපොරොත්තු වෙන අයට නිවන් සැප ලැබේවා, සංසාර දුකින් මිදේවා කිව්වට හරියන්නෙ නෑ. අපි ඒ අය වෙනුවෙන් දාන මාන ඇප උපකාර උපස්ථාන සිද්ධ කරල පින් අනුමෝදන් කරන්න ඕන. ශ්‍රමණ බ්‍රාහ්මණයන්, දුගී මගී යාචකයන් උදෙසා පූජා බුද්ධියෙන් හා අනුග්‍රහ බුද්ධියෙන් කටයුතු කරල දයානුකම්පාවෙන් යුතුව පින් අනුමෝදන් කරල ආශිර්වාද කරන්න ඕන.

මම කරපු උදව් උපකාරවලට මට මොනවායින් හරි ප්‍රති උදව් උපකාර කළ යුතුයි කියන බලාපොරොත්තුවෙන් ඉන්න අයට ආර්ය මෛත්‍රී භාවනාව කරල පින් අනුමෝදන් කරන්න ඕන. ඒක හරියට රුපියල් 1,00/= ක් ගත්ත කෙනාට රුපියල් 50,000/= ක විතර මුදල් වටිනාකමක් තියෙන රත්තරන් මාලයක් දීල ණය ගෙවනව වගේ වැඩක්. එතකොට වැඩිපුරත් උදව් උපකාර කළා කියල ඒ අය වඩාත් සතුටට පත් වෙනවා.

ඉතින් මේ විදිහට ලෞකික දේවල් බලාපොරොත්තු වෙන අයට ලෞකික දේවල්ම දීල සසර ණයෙන් නිදහස් වෙන්න ඕන. සෙසු අයට ආර්ය මෛත්‍රී භාවනාව වඩල පින් අනුමෝදන් කරල ඒ අයගෙ සසර ණයෙන් නිදහස් වෙන්න ඕන.

මේ විදිහට අවබෝධයෙන් යුතුව කටයුතු කරල, ලෝක සත්ත්වයන්ට තියෙන ණය ගෙවමින් තමයි අපි නිවන් මග පූර්ණ කරගන්න ඕන. එහෙම නැතිව සියල්ල අත්හැරල දාල, මම මගේ වැඩේ කරනවා, මට ඔය කියන ඒවා එකක්වත් අවශ්‍ය නෑ, නිවන් මග පූර්ණ කරගත්තම ඇති කිව්වට අපි කොහොමද එහෙම කරන්නෙ?

ඒ වගේම ළඟ ඉන්න අය, මව්පිය, ගුරුවරු, ඥාති හිතමිත්‍රාදීන්ගේ මාර්ගයෙනුත් ඥාති බලවේග, අමනුස්ස දෝස, මාර පාක්ෂික බලවේග... මේ ආදී වශයෙන් විවිධාකාරයෙන් එන බාධා සියල්ලක්ම බොහෝ දුරට සසර ගනුදෙනු. ඒ නිසා අපි අවබෝධයෙන් යුතුව ඒ අයට දිය යුතු ණය පියවන ගමන්, නැවත ඉදිරියට ණය වෙන්නෙ නැතිව නිවන් මග පූර්ණ කරගන්න උත්සාහ කරන්න ඕන.

**සටහන**
**නීතිඥ චන්දන සිරිවර්ධන**

# අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ලබා දුන් ගණිත චක්‍රයක්

අපි එදිනෙදා කියන කරන කටයුතුවලදි භාවිතා කරන 1, 3, 7, 14, 21, 108... ආදී වශයෙන් විශේෂ සංඛ්‍යාත්මක අගයන් තියෙනවා. විශේෂයෙන් බේතක් හෝ යන්ත්‍රයක් ජීවම් කරනකොටත් මේ ආදී වශයෙන් විශේෂ සංඛ්‍යාත්මක අගයන් යොදා ගැනෙනවා. ඒ වගේ අවස්ථාවලදි ඒ ඒ අගයන්ගෙන් නැගෙන බලයත්, ගුණයත් එකිනෙකට වෙනස්. ඒ නිසා ඒ සංඛ්‍යාත්මක අගයන්ගෙන් නැගෙන බලයේ ස්වභාවය ගැන යම් කිසි අවබෝධයක් ලබා ගත්තොත් ඒක හැමෝටම වැදගත් වෙන්න පුළුවන්. ඒ නිසා හැමෝගෙම ප්‍රයෝජනය පිණිස වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් සමාධියෙන් මතු කර දුන් ඒ වගේ ගණිත චක්‍රයක් පහතින් සටහන් කරනවා.

එකකින් (1), යමක් රඳවන ආධාර මාත්‍රයක් හෙවත් කලා 1 ක් ලබා දේ.

තුනකින් (3), කොටසක් රැඳවීමේ ආධාරයක් ලබා දේ.

හතකින් (7), ප්‍රධාන කරුණක ශක්ති කොටසක් ලබා දේ.

දාහතරකින් (14), ප්‍රධාන යමක් ක්‍රියාත්මකව පවත්වන්න බලයක් ලබා දේ.

විසි එකකින් (21), ප්‍රධාන යමක් අඩාල ලෙස රඳවා තබන්න බලයක් ලබා දේ.

විසි අටකින් (28), ප්‍රධාන යමක් ස්ථාවරව පවත්වා තබන්න බලයක් ලබා දේ.

එකසිය අටකින් (108), චක්‍රාකාර දෙයක් හෙවත් වෘත්තාකාර දෙයක් නොසෙල්වෙන්න තබන බලයක් ලබා දේ.

එක් දහස් අටකින් (1,008), වෘත්තාකාර දෙයක් ගමන් කරවන බලයක් ලබා දේ.

ලක්ෂයකින් (100,000), කම්පා නොවන සේ ස්ථාවරව පිහිටවන බලයක් ලබා දේ.

දස ලක්ෂයකින් (1,000,000), එබඳු දස බලයක් ලබා දී අග්‍ර ස්ථානය නොසෙල්වෙන බලයක් ලබා දේ.

කෝටිය (10,000,000) හැමතින්ම අකම්ප්‍යයි. ඉන් එහා කළ යුත්තක් නෑ.

හොඳ හෝ නරක යමක් වැඩෙන කොට වගේම ඊට විරුද්ධ පැත්තත් මේ අනුසාරයෙන්ම ගෙවෙනවා.



# සසර ගමන එතරම්ම බියකරුය... 02 කොටස

සං. නි. (2) දණ්ඩ සූත්‍රයේ, 285 පිටුවේ මෙහෙම සඳහන් වෙනවා. මහණෙනි, අහසට විසිකරපු දණ්ඩක් වරක් මුලින් වැටෙනවා. වරෙක මැදින් වැටෙනවා. තවත් වරෙක අගිනුත් වැටෙනවා. ඒ වගේ අවිද්‍යාවෙන් අන්ධ වෙලා තෘෂ්ණාවෙන් ගැට ගැහිල සසර ගමන් කරන සත්ත්වයෝ, වරෙක මෙලොවින් පරලොවට යනවා, පරලොවින් මෙලොවට එනවා.

මේ පරලොව කියල කිව්වෙ මරණින් පසු ඇතිවන ගන්ධබ්බ හෙවත් සංජාතික අවස්ථාව. අන්තරා භවය විදිහට හඳුන්වන්නෙත් ඒකමයි. මරණින් පසු නැවත උප්පත්තියකට ගියා නම්, ඒ සත්ත්වයා පරලොව නෙවෙයි ඉන්නෙ මෙලොව. මෙලොව පරලොව දන්නා ශ්‍රමණ බමුණන් ඉන්න බව දස වස්තුක සම්මා දිට්ඨියේ සඳහන් වෙනවා.

සසර ගමනේ බියකරු බව වටහා ගන්න තවත් ඉතා වැදගත් දේශනාවක් තමයි ම. නි. (3) - 360 පිටුවේ එන බාල පණ්ඩිත සූත්‍ර දේශනාව. මහණෙනි, බාලයාගේ ලක්ෂණ 3 ක් තියෙනවා. බාලයා නපුරු විදිහට හිතනවා, නපුරු විදිහට කතා කරනවා, නපුරු විදිහට ක්‍රියා කරනවා. මේ ලක්ෂණ තුනෙන් ඔහු බාල පුද්ගලයෙක් කියල නුවණැති අය දැනගන්නවා.

බාලයා මේ අත්බැවේදිම තුන් ආකාර දුකකට පත්වෙනවා. මිනිස්සු අතර සතුන් මරන කෙනෙක්, සොරකම් කරන කෙනෙක්, වැරදි කාම සේවනවල යෙදෙන කෙනෙක්, බොරු කියන්නෙක්, මත් මතුර බොන කෙනෙක් කියල නින්දාවට අපවාදයට ලක්වෙනවා. මේ තමයි ඔහු ලබන පළමුවන දුක.

රජුන් විසින් සොරුන් අල්ලගෙන ඔවුන්ට කරන හිස ගසා දැමීම්, උල තැබීම්, කසවලින් තැලීම්... ආදී දෙතිස් වද දෙනකොට, ඒවා දකින බාල පුද්ගලයා, මමත් හොරෙක්, අපරාධකාරයෙක්, මමත් මේ දෙතිස් වදවලින් යම් වදයකට සුදුසු කෙනෙක්, ඒකාන්තයෙන් මටත් මේ දුක් විඳින්න සිද්ධ වෙනවා කියල දෙවෙනි දුකට පත්වෙනවා.

මේ බාලයා යන, එන, හිඳින, නිදන හැම මොහොතකම තමන් විසින් කරන ලද පාපී අකුසල ධර්ම මතක් වෙන්න පටන් ගන්නවා. මා විසින් බොහෝ අකුසල් කරල තියෙනවා, කුසල් දහමක් කරගෙන නෑ, ඒ නිසා මට මරණින් පස්සෙ ඒකාන්තයෙන් නිරයට යන්නයි වෙන්නෙ කියල නිරන්තරයෙන් දුකට, සෝකයට, වැළපීමට පත්වෙමින් තුන්වෙනි දුකත් මේ ජීවිතයෙදිම ලබනවා.

තුන් දොරින් දුශ්චරිත කරපු ඔහුට මරණින් පස්සෙ අපාගත වෙලා බරපතල දුක් විඳින්න සිද්ධ වෙනවා. නිරයේ දුක මේ ආකාරයි කියල උපමාවකින්වත් දක්වන්න පුළුවන්කමක් නෑ කියල තථාගතයන් වහන්සේ භික්ෂූන් වහන්සේලාට පැහැදිලි කළාම, එක්තරා භික්ෂුවක් අපායේ ස්වභාවය තේරුම් ගන්න උපමාවක් කියන්න කියල ඉල්ලා සිටියා.

මහණ, අපරාධකාරී සොරෙක් අල්ලගෙන රාජ පුරුෂයන්ට කියනවා, මේ හොරාට උදේ කාලයේ යකඩ උල් 100 කින්, දවල්ට යකඩ උල් 100 කින්, හවසට යකඩ උල් 100 කින් හිසට අනින්න කියල. මේ විදිහට යකඩ උල් තුන් සීයකින් හිසට අනිනකොට කොතරම් දුක් වේදනාවක් ඇතිවෙනවද?

තථාගතයන් වහන්සේ කුඩා ගල් කැටයක් අරගෙන, වඩාත් විසාල මේ ගල් කැටයද, හිමාල පර්වතයද කියල භික්ෂූන් වහන්සේලාගෙන් අහනවා. ස්වාමීනි, මේ ගල් කැටය කොච්චර කුඩාද, හිමාල පර්වතය අති විසාලයි, සොළොස්වෙනි කලාවෙන් කලා භාගයක්වත් සම කරන්න බෑ කියල භික්ෂූන් උත්තර දෙනවා.

මහණෙනි, අන්න ඒ වගේ යකඩ උලකින් දවසකට තුන්සිය වාරයක් අනිනකොට යම් දුක් වේදනාවක් එනව නම්, ඒක හරියට මේ කුඩා ගල් කැටය වගෙයි. නිරයේ විඳින දුක් කන්දරාව හිමාල පර්වතය වගෙයි. මහණෙනි, නිරයේ යමපල්ලන් අත් දෙකට, කකුල් දෙකට, පපුවට කියන මේ පස් පොළට රත් වෙච්ච යකඩ උල්වලින් ඇනල පස් ආකාර වද බන්ධන කරනවා. නිරි සත්තු අපමණ දුකකට පත් වුනත්, පාප කර්මවල විපාක ඉවර වෙනකල් කළුරිය කරන්නෙ නෑ.

යම පල්ලන් නිරි සතාව බිම දමල පාද උඩුකුරු කරල කෙටේරිවලින්, වෑවලින් රනිනවා. රථයක බැඳල ගිනිදැල් නැගෙන පොළොවේ එහාට මෙහාට ඇවිද්දවනවා. නැවතත් ගිනි අඟුරු පර්වතයකට නංවනවා, බස්සවනවා, පාද උඩුකුරු කරල ලෝ කුඹු නිරයට ඇදල දානවා. එතකොට උතුරන බත් හැලියක බත් ඇට උඩ යට යනව වගෙයි, අවුරුදු තිස් දහසක් දැවෙමින් යටට යනවා. නැවත උඩට එන්න අවුරුදු තිස් දහසක් යනවා. මේ මොන දඬුවම් ලැබුනත්, පාප කර්මවල බලවත්කම නිසාම මරණයට පත්වෙන්නෙ නෑ.

නිරයේ කොන් හතරක දොරටු 4 ක් තියෙනවා. ඒවා කොටස්වලට බෙදල තියෙන්නෙ. යකඩ පවුරකින් වට වෙලා, යකඩ පියනකින් වැහිල, බිමත් යකඩයෙන් සකස් වෙලා තියෙන්නෙ. නිතර දැල්වෙන ගින්නෙන් යුක්තව යොදුන් 100 ක් ගින්න පැතිරිලා තියෙන්නෙ.

මහණෙනි, මේ නිරයේ නැගෙනහිර බිත්තියෙන් නගින ගිනිදැල් බස්නාහිර බිත්තියෙත්, බස්නාහිර බිත්තියෙන් නැගෙන ගිනිදැල් නැගෙනහිර බිත්තියෙත් හැපෙනවා. උතුරු බිත්තියෙන් නැගෙන ගිනිදැල් දකුණු බිත්තියෙත්, දකුණු බිත්තියෙන් නැගෙන ගිනිදැල් උතුරු බිත්තියෙත් හැපෙනවා. නිරි සත්තු මේ තුල කටුක දුක් වේදනා විඳිනවා.

බොහෝ කාලයකට පස්සෙ නිරයේ නැගෙනහිර දොරටුව විවෘත වෙනවද, එතකොට නිරි සත්තු ඒ දිහාවට දුවනවා. එතකොට උන්ගෙ හම, මස්, නහර, ඇට පිච්චෙනවා. මේ විදිහට අවුරුදු දාහක් තිස්සේ ඒ දිහාවට දිව්වට පස්සෙ දොරටුව වැහෙනවා. අපිට හිතන්න බැරි තරම් දුකක් ඒ නිරි සත්තු විඳිනවා. ඒ වගේම ඒකෙ බස්නාහිර දොරටුව, උතුරු දොරටුව, දකුණු දොරටුව ඉහතින් විස්තර කළ ආකාරයෙන්ම එකින් එක විවෘත වෙනවා. ඒ ඒ දිහාවට දුවන සත්තුන්ගෙ හම, මස්, නහර, ඇට පිච්චෙනවා. මේ විදිහට අවුරුදු දහස බැගින් ඒ ඒ දිහාවට දුවනවා. ඊට පස්සෙ ඒ දොරටු වැහිල යනවා.

මහණෙනි, නැවතත් බොහෝ දීර්ඝ කාලයකට පස්සෙ නිරයේ නැගෙනහිර දොරටුව විවෘත වුනාම නිරි සත්තු ඒ දිහාවට දුවනවා. ඔවුන්ගෙ මුළු ශරීරයම පිච්චෙනවා, දැවෙනවා. ඊට පස්සෙ ඒ දොරටුවෙන් ගිහින් ඒ සමගම පිහිටි "ගූථ" කියන නිරයට වැටෙනවා. ඒ ගූථ නිරයේ ඉන්න ඉඳිකටු තුඩු හා සමාන පණුවො අර නිරි සතුන්ට විදිනවා. හම, මස්, නහර, ඇට දක්වා විදිනකොට අපමණ දුකකට පත්වෙනවා.

ඊට පස්සෙ එතනින් "උණු අළු" කියන නිරයට වැටිල කටුක දුක් වේදනා විඳිනවා. ඊළඟට යොදුන් ගණන් දිග උල් කටු තියෙන "ඉඹුල් වනය" කියන නිරයට වැටිල ඒකෙ ඉහලට පහලට ගමන් කරමින් තියුනු කටු ඇනිල අධික දුක් වේදනා විඳිනවා.

ඊළඟට අත ගෑවෙනකොට කැපි කැපී යන, අහසින් වැටෙන අසිපත් ඇති "අසිපත් වනය" කියන නිරයට වැටෙනවා. ඒකෙ නිරන්තරයෙන් ශරීර අවයව කැපි කැපී දුක් වේදනා විඳිනවා. එතනින් පස්සෙ "වේතරණී" කියන උණු ජලය තියෙන නිරයට වැටිල උඩට යටට පීනමින් කටුක දුක් වේදනා විඳිනවා.

මහණෙනි, නිරය පාලකයො "වේතරණී" නිරයේ උඩට පහලට යන නිරි සතා බිලී කටුවකින් උඩට අරගෙන පොළොවෙ දමල, එම්බා පුරිසය තට මොනවද ඕන කියල අහනවා. කුසගිනියි කිව්වම, ගිනිගෙන දිලිසෙන රත් වෙච්ච ලෝහ ගුලි කටේ දමනවා. එතකොට කට, දිව, උගුර, බඩවැල්, ආමාශය දවාගෙන අධෝ මාර්ගයෙන් පිටවෙනවා.

නිරය පාලකයො ඔහුගෙන් නැවතත් අහනවා, නුඹට මොනවද ඕන කියල. දිය පිපාසයි කිව්වම, කටට ගිනිගෙන දැවෙන ලෝදිය වත් කරනවා. ඒකත් උගුර, බඩවැල්, ආමාශය දවාගෙන අධෝ මුඛයෙන් පිටවෙනවා. මේ කොයිතරම් කටුක වේදනා ඇති වුනත්, පාප කර්මයේ බලවත්කමට නොමැරී ජීවත් වෙනවා. මේ විදිහට නොයෙක් වද දීල නැවතත් නිරයටම ඇදල දානවා.

අටමහ නිරයේ දරුණුම අපාය වන අවීචි මහා නරකයේ වැටුන සත්ත්වයින් දුක් විඳින ආකාරය තමයි ම. නි. (3) දේවදූත සූත්‍රය සහ බාල පණ්ඩිත සූත්‍රය ඇසුරෙන් මෙතෙක් කරුණු ඉදිරිපත් කළේ. **අවීචියේ සත්ත්වයන්ට තත්ත්පරයක්වත් දුක් පීඩාවලින් තොර වෙලා ඉන්න ලැබෙන්නෙ නෑ. හිස් වීචියක් නැති නිසා "අවීචි" කියල හඳුන්වනවා. ඒ වගේම එන දුක් කන්දරාවට විරුද්ධව නැඟී සිටින්න අඩුම වශයෙන් කෙඳිරි ගාන්නවත් හිතක් නගන්න බැරි නිසාත් "අවීචි" කියල හඳුන්වනවා.**

අටමහ නිරයට අයිති තවත් නිරයවල් 7 ක් තියෙනවා සංජීව, කාල සූත්‍ර, සංඝාත, රෞරව, මහා රෞරව, තාපය, ප්‍රතාපය කියල. යමපල්ලන් විසින් සංජීව නිරයේ උපන් සත්ත්වයන් ගිනියම් පොළොවේ පෙරලල කැලි කැලිවලට කපද්දීත්, ඒ සත්ත්වයින්ගෙ පාප කර්මයේ බලයෙන් නැවත ජීවත් වෙන නිසා ඒ නිරය "සංජීව" කියල හඳුන්වනවා. අධික ක්‍රෝධයෙන් සහ මානයෙන් අනුන් සමග කළකෝලාහල කරපු අය, දුබලයන් තලල පෙලල දාපු රජවරු, නිලධාරීන්, මැති ඇමතිවරුන්, මැරවරයො, සත්ත්ව ඝාතන කරපු අය මේ නිරයේ ඉපදිලා බොහෝ දුක් විඳිනවා.

කාල සූත්‍ර කියන ඊළඟ නරකයේ උපන් සත්ත්වයන්, ගිනියම් වෙච්ච යම පොළොවෙ පෙරලල දැලි නූල් ගහල රනින නිසා මේ නම ලැබිල තියෙනවා. මව්පියන්ට, ගුණවත් ශ්‍රමණ බ්‍රාහ්මණවරුන්ට, ගුණවත් මිතුරන්ට අපරාධ කරපු අය මේ නිරයේ ඉපදිලා අනේක විද දුක් ගැහැට විඳිනවා. මව්පියන්ට නින්දා අපහාස කරපු අය, පරුෂ වචනයෙන් වැඩිමහල්ලන්ට බැන වැදුන අය, සතර අගතියෙන් (ඡන්ද, දෝස, භය, මෝහ) රටවැසියන් වෙහෙස කරවපු රජ, මැති, ඇමති... ආදී තවත් කොටසක් තාප මහා නිරයේ ඉපදිලා අප්‍රමාණ දුක් වේදනා විඳිනවා.

නව යොදුන් සනකම පොළොවේ එරිල "සංඝාත" නිරයේ සත්ත්වයන් නිශ්චලව ඉන්නවා. ඒකෙ අහස ගුගුරන්න වගේ මහ හඬ නගමින් පොළොවෙ එරිල ඉන්න නිරි සත්තු අඹරවගෙන ඒ මේ අත පර්වත පෙරලෙනවා. ඒවට යටවෙන නිරි සත්තු සුනු විසුනු වෙලා කුඩු පට්ටම් වෙනවා. ඇත්, අස්, ගව... ආදී සතුන්ට වද දෙමින් වැඩ ගත්ත අය, සත්ත්වයින්ට විවිධ වද හිංසා දෙමින් ප්‍රාණඝාත කරපු අය මේ නිරයේ උපත ලබනවා.

රෞරව නරකයේ ඉන්න සත්ත්වයින්ගෙ ශරීර තුලට ඇතුල් වෙලා දවන මහා දුමක් තියෙනවා. ශරීරය ඇතුලත පිටත දෙකම දැවෙමින් හඬා වැළපෙන නිරි සතුන්ගෙ හඬ නිරන්තරයෙන් ඇහෙන නිසා ඒ නිරයට රෞරව කියන නම ලැබිල තියෙනවා.

අතිශයින් රෞද්‍ර වූ ගින්නෙන් සහ දුමෙන් තවනු ලබන සත්ත්වයින්ගෙ නිතර නැගෙන මහා හඬ තියෙන නිසාත්, නිරි සතුන්ගෙ ශරීරවලින් ගලන ලෙයින් පිරිල තියෙන නිසාත් ඒ නිරයට මහා රෞරව කියල කියනවා. තුනුරුවන්ට අයිති සාසනික දේවල් පැහැර ගත්ත අය, මව්පියන්ට අයිති වස්තුව පැහැර ගත්ත අය, ඒ වගේම ඒ වස්තු විනාස කළ අය රෞරව, මහා රෞරව අපායවල උපදිනවා.



"තාප" කියන නිරයේ යමපල්ලන් විසින් ගිනියම් පොළොවෙ ගිනියම් යකඩ උල්වල අමුනපු සත්ත්වයින් ගින්නෙන් දැවෙමින් අප්‍රමාණ දුක් විඳිනවා. මිනිස් ලෝකෙ ඉන්නකොට, සත්තු පණපිටින් පුච්චල මරණයට පත් කරපු අය, අනුන්ගෙ ගෙවල්, දේපළ ගිනි තියපු අය මේ තාප කියන නරකයේ උපදිනවා. තාප නරකයේ නිරි සත්තු පැහෙන ආකාරයෙන් දීර්ඝ කාලයක් සත්ත්වයෝ පැහි පැහී ඉන්න නිසා ඊළඟ නිරය "ප්‍රතාප" නිරය විදිහට හඳුන්වනවා. මරණින් මතු ඉපදීමක් නෑ, කර්ම විපාක නෑ... ආදී වශයෙන් දස වස්තුක මිත්‍යා දෘෂ්ටියෙන් කටයුතු කරපු අය මේ නිරයේ උපදිනවා.

මව මැරීම, පියා මැරීම, රහතුන් මැරීම, දූෂ්‍ය සිතින් බුද්ධ ශරීරයේ ලේ සෙලවීම, සංඝ භේදය කියන ආනන්තරීය පාප කර්ම කරපු අය, මහ බෝසතාණන් වහන්සේලාගේ ජීවිත විනාශ කරපු අය, තුනුරුවන්ට අයත් සාසනික දේවල් පැහැර ගත්ත අය, මිත්‍ර ද්‍රෝහීන්, භාර්යාවන්ට අපරාධ කරපු අය, බොරු කියල අනුන් රවටපු අය වගේම, සුරා ධූර්තයන් (රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ කියන පංච සුරාවට ඇබ්බැහි වෙච්ච අය), මිසදිටු ගති තියෙන අය අවීචියේ උපදිනවා. ඒකෙ අනන්ත දුක් ස්වභාවය මීට පෙර විස්තර කළා.

එක් වරක් හෝ අපායෙ වැටුන කෙනෙක් අපායෙන් ගොඩ එන්නෙ අති දීර්ඝ කාලයකට පස්සෙ. මේ අටමහ නිරයේ ආයුසත් බොහෝයි. මිනිස් ලෝකයේ අවුරුදු නව ලක්ෂයක් සංජීව නිරයේ එක දවසක්. ඒ වගේ දින 30 ක් මාසයක්. ඒ වගේ මාස 12 ක් අවුරුද්දක්. ඒ අනුව මිනිස් ලෝකයේ අවුරුදු ලක්ෂයේ ඒවා 3,240 ක් සංජීව නිරයේ එක අවුරුද්දක් වෙනවා. ඒ වගේ අවුරුදු 500 ක් ඒකෙ ආයු කාලය වෙනවා. ඒක මිනිස් ලෝකයේ අවුරුදුවලින් කියනව නම් ලක්ෂයේ ඒවා 1,620,000 ක්. (900,000 × 30 × 12 × 500)

සංජීව නරකයට යටින් තියෙන නරකවල ආයු කාලය ඊටත් වඩා එන්න එන්නම වැඩි වෙනවා. අවීචියේ ආයුස අන්තඃකල්පයක් වෙනවා. ඒකෙ ආයුස මිනිස් ආයුසවලින් දක්වන්න පුළුවන්කමක් නෑ. යොදුනක් දිග, පළල, උස තියෙන පර්වතයක් අවුරුදු සියයකට එක්වරක් බැගින් පිසදමමින් ගියාම, යම් දවසක ගෙවිල ගියත් අවීචියේ ආයු කාලය ගෙවෙන්නෙ නෑ. කල්පයේ ස්වභාවය මීට පෙර විස්තරවල සඳහන් කරල තියෙන නිසා, ඒ අනුසාරයෙන් අවීචියේ ආයුස ගැන මඳ අවබෝධයක් හෝ ලබාගන්න පුළුවන්.

අටමහා නරකයේ එක් එක් නරකයට පිරිවර නරක වශයෙන් එක පැත්තක හතර බැගින් එක නිරයකට දහසයක් ඔසුපත් නරක තියෙනවා. එක මහා නිරයකට දහසය බැගින් අටමහ නිරයට ඔසුපත් නරක 128 ක් තියෙනවා. මහා නරක 8 ත් එක්ක සියල්ල 136 ක් වෙනවා. "වැටුනොත් එකසිය සතිසක් නිරයේ" කියල ලෝවැඩ සඟරාවෙත් සඳහන් කරල තියෙන්න මේ නිර 136 පිළිබඳව. **දහමේ සඳහන් වෙන මේ නිරි අපායවල් කියන්නෙ නිකං විහිළුවක්, සාහිත්‍ය කතාවක් එහෙම නෙවෙයි. සාමාන්‍ය ලෝකයාට බලාගන්න බැරි වුනාට, දිව්‍යලාභී උතුමන්ට මේවා දකින්න පුළුවන්.** මේ 136 බොහෝ දෙනෙක් නම් වශයෙන් දන්නෙ නැති නිසා හැමෝගෙම දැන ගැනීම පිණිස ඒවායේ නම් පහත සඳහන් කරනවා.

1 සංජීවය
2 කාලසූත්‍රය
3 සංඝාතය
4 රෞරවය
5 මහා රෞරවය
6 තාපය
7 ප්‍රතාපය
8 අවීචිය
9 අබ්බුද
10 නිරබ්බුද
11 අබබ
12 අටට
13 අහහ
14 කුමුද
15 සෞගන්ධික
16 උප්පල
17 පුණ්ඩරික
18 පදුම
19 ගූථ
20 කුක්කුල
21 කටු ඉඹුල්වන
22 අසිපත්‍ර වන
23 වේතරණී
24 ලෝකුඹු
25 බාරෝදිකා
26 සෝණ බාදක
27 ගිජ්ඣ බාදක
28 සත්ති සූල
29 බග්ග සිරු
30 පහාස
31 සීත
32 අඟුරු මාල
33 දළ කොහොල්මාල
34 පොකුරුපත්
35 අළු කුමු
36 කිහිරඟුරු
37 රොරුව
38 ගෝපාන
39 පසුඝාත
40 සීත තරච්ඡ
41 සාකුණික
42 ඕරම්භික
43 අසිලෝම
44 සත්තිලෝම
45 උසුලෝම
46 රථාචාරික
47 සූචක
48 ගාමකූට
49 ගූථ කූප
50 මීල්හ ගබ්භ
51 නිච්ඡවි
52 මංකුලිත්ථිකා
53 ඔකිලිනී
54 අසිසත
55 පලෝභ
56 නච්ඡවාදක
57 පාණහිංස
58 කාකොල
59 වෙලුනද
60 සංචිච්ච
61 මහාජාල
62 ඒක කල්ප
63 විකල්ප
64 තයෝ කල්ප
65 චතු කල්ප
66 පංච කල්ප
67 ඡ කල්ප
68 සත්ත කල්ප
69 අට්ඨ කල්ප
70 නව කල්ප
71 දස කල්ප
72 ඒකාදස කල්ප
73 බාරස කල්ප
74 තේරස කල්ප
75 චුද්දස කල්ප
76 පංචදස කල්ප
77 සෝලස කල්ප
78 අච්චන්ත වන්තර
79 උච්චාර දළ්හ
80 ආරාම දූයක
81 භිදග්ගි
82 ගෝමුත්තග්ගි
83 මුත්තකරීසග්ගි
84 දූසමාලග්ගි
85 අනුපට්ඨිතග්ගි
86 භූතග්ගි
87 විපරීතග්ගි
88 කුම්භග්ගි
89 තසිතග්ගි
90 සයනග්ගි
91 තේලග්ගි
92 නුට්ඨිභග්ගි
93 පරභණ්ඩාහර
94 විරහිතග්ගි
95 කෝධග්ගි
96 එරුසග්ගි
97 විලසග්ගි
98 උභතග්ග
99 මහගුලෝම
100 දිට්ඨානුතග්ගි
101 හස්සා දිසාය
102 පතිතාහ දේහග්ගි
103 උදාහි ඡාරිකා
104 සුප්ප මුසාලග්ගි
105 තේලහත
106 සටිතග්ගි
107 සක්ඛග්ගි
108 මුසග්ගි
109 නිවාරිතග්ගි
110 උරවක්‍රමාල
111 සුමතාප
112 නපුජග්ගි
113 තිප්පා කටුකග්ගි
114 කුකුටග්ගි
115 පත්තග්ගි
116 එල මුලග්ගි
117 ජඩ්ඩිතග්ගි
118 ඔසක්ක තාප
119 පච්චවෙක්ඛ-තග්ගි
120 කුලදූසකග්ගි

| | |
|---|---|
| 121 ලාභුපක්කම | 129 සජෝති |
| 122 කිලෙසග්ගි | 130 සංසවත |
| 123 ඉන්ද්‍රිය අගුත්තර ද්වාර | 131 වෙළෙ |
| | 132 අයෝගුල |
| 124 කුසග්ගි | 133 සීත නදි |
| 125 මංසපෙසි | 134 අංගාර පබ්බත |
| 126 සුනඛ | |
| 127 කාල හත්ථි | 135 මුසනදි |
| 128 මහා යත්ත | 136 කුටකාරි |

අර්බුදය, නිරබ්බුදය, අහහ, අබබය, අටටය, කුමුදය, සෞගන්ධිකය, උත්පලය, පුණ්ඩරීකය, පදුමය කියන මේ ඔසුපත් නිර 10 අගපසග වගේ අවීතියටම සම්බන්ධ ඒවා.

මීට පෙරත් සඳහන් කළා වගේ පංචානන්තරීය ආදී බලවත් අකුසල් කරපු අය අවීතියේ ඉපදිලා පැහෙනවා. ගබ්සා කරල දරුවන් විනාස කරපු අය, අවුරුදු ලක්‍ෂ ගණන් උඩුකුරුව ඉඳල වේතරණී නිරයේ (ක්‍ෂුර ධාරා නිරයේ) පැහි පැහී අනන්ත දුක් ගැහැට විඳිනවා. බල කාමයෙන් මත් වෙලා අනුන් තැලූ පෙලූ අයත් වේතරණී නිරයේ ඉපදිලා පැහෙනවා.

ගුණවතුන්ට සිල්වතුන්ට තලල පෙලල ගරහල නින්දා අපහාස කරල හිරිහැර කරපු අය වගේම, බොරු සම්මාදන් කරල එයින් අඹු දරුවන් පෝෂණය කරමින් තමනුත් භුක්ති විඳපු අය ලෝකුඹු නිරයේ ඉපදිලා දුක්ඛ වේදනාවන් විඳිනවා. ඒ වගේම අයුතු විදිහට රූප, ශබ්ද, ගන්ධ, රස, පොට්ඨබ්බ කියන පංච සුරාපානය කරපු අය, පක්ෂීන් මෘගයන් මරාගෙන කාපු අය, අනුන්ගෙ යම් යම් දේවල් අරගෙන ඒවා නොදී වංචා කරපු අය බොහෝ කාලයක් මේ ලෝකුඹු නිරයේ ඉපදිලා අප්‍රමාණ දුක් විඳිනවා. පරදාර සේවනය කරපු පුරුෂයොත්, පර පුරුෂ සේවනය කරපු ස්ත්‍රීනුත් දුර්ගන්ධ වේතරණී නිරයේ, කටු ඉඹුල් නිරයේ, ලෝකුඹු නිරයේ උපදිනවා.

දවසක් කොසොල් මහ රජතුමා නිදි යහනේ ඉඳෙද්දි මහා භයානක ශබ්ද 4 ක් ඇහිල තින්දෙන් අවදි වුනා. "දු, ස, න, සෝ" කියන ශබ්ද 4 තමයි ඇහුනෙ. මේකට බය වෙච්ච රජතුමා රෑ පහන් වෙන කල් නිදි වර්ජිතව හිටියා. පහුවදා මල්ලිකා දේවියත් සමග මේ සද්ද හතරෙන් තමන්ට හෝ රටවැසියන්ට හෝ මොනව හරි අනතුරක් සිද්ධ වෙනවද කියල දැනගන්න බුදුන් වහන්සේ හමුවෙන්න ගියා. ශබ්ද 4 ගැන බුදු රජුන්ට දැනුම් දුන්නම, මෙයින් ඔබටවත් අග්‍ර මහේසිකාවටවත් රට වැසියන්ටවත් කිසි අනතුරක් සිද්ධ නොවන බවත්, කාම මිත්‍යාචාර පාප කර්මයෙන් ලෝකුඹු කියන නිරයේ ඉපදුන 4 දෙනෙක් තමන්ගෙ අදහස් ප්‍රකාශ කරන්න යනකොට ඇති වෙච්ච ශබ්ද හතරක් බවත් රජතුමාට පැහැදිලි කරල, ඒකෙ නිධාන කතාව මේ විදිහට කියල දුන්නා.

ධනවත් සිටු කුමාරවරු හතර දෙනෙක් තමන්ගෙ ධනය වියදම් කරමින් කාම මිත්‍යාචාරයේ යෙදීම නිසා, ඒ පාප කර්මයෙන් ලෝකුඹු නිරයේ ඉපදුනා. බත් හැලියක පැහෙන හාල් ඇට උඩ යට යනව වගේ, අවුරුදු තිස් දහසක් තිස්සේ යටට ගිහින් නැවත අවුරුදු තිස් දහසක් විතර කාලයක් ගිහින් අපායෙන් උඩට ඇවිත්, අවුරුදු හැට දහසකට පස්සෙ තමන් කරපු පාප කර්මය ගැන කියන්න හදනකොට, හතර දෙනාටම කියන්න පුළුවන් වුනේ එක අකුර බැගින් විතරයි. නැවතත් ලෝකුඹු නිරයේ යටට පැහි පැහී යන්න සිද්ධ වුනා.

එහෙම කියන්න හදපු අදහස්වල අකුරු හතර තමයි දු, ස, න, සෝ කියල නිරි සතුන් හතර දෙනාගෙන් පිට වුනේ. ඒ අදහස් සහිත ගාථා හතර තථාගතයන් වහන්සේ කොසොල් මහ රජතුමාට මේ විදිහට පැහැදිලි කරල දුන්නා.

> දුජ්ජීවිතං අජීවිම්හ
> යේ සන්තේ න දදම්හසේ
> විජ්ජමානේසු භෝගේසු
> දීපං නාකම්ම අත්තනෝ

අපිට දානාදී පිංකම් කරන්න හැකියාව තිබුන වෙලේ ඒවා කරගත්තෙ නෑ. කාම මිත්‍යාචාරයේ හැසිරෙමින් පව්වු විදිහට ජීවත් වුනා. සැප සම්පත් තියෙද්දි තමන්ට පිහිටක් කරගත්තෙ නෑ.

> සට්ඨිං වස්ස සහස්සානි
> පරිපුණ්ණානි සබ්බසෝ
> නිරයේ පච්චමානානං
> කදා අන්තෝ භවිස්සති

මේ ලෝකුඹු නිරයේ ඉපදිලා අවුරුදු හැට දාහක් සම්පූර්ණ වුනා. නිරයේ පැහෙන අපිට මේකෙ කෙළවරක් කවර කාලෙක වෙයිද?

> නත්ථි අන්තෝ කුතෝ අන්තෝ
> න අන්තෝ පතිදිස්සති
> තදාහි පකතං පාපං
> මම තුය්හංච මාරිස

යම් කාලයක අපි බොහෝ පව්කම් කළා. ඒ හේතුවෙන් දුකේ කෙළවරක් නෑ. මේ දුක්වල කෙළවර කවද්ද සිද්ධ වෙන්නෙ? කෙළවරක් නම් අපිට පේන්නෙ නෑ.

> සෝහි නූන ඉතෝ ගන්ත්වා
> යෝනිං ලද්ධාන මානුසං
> වදඤ්ඤූ සීල සම්පන්නෝ
> කාහාමි කුසලං බහුං

මේ නිරයෙන් මිදිල ගිහින් මිනිස් ලෝකෙ ඉපදිලා සුචරිතව ඉඳීමේ වටිනාකම ලෝකයාටත් කියල දීල සිල්වත්ව වාසය කරමින් බොහෝ පිං දහම් කරනවා. (ධම්ම පදට්ඨ කතාව)

දු, ස, න, සෝ කියන ශබ්ද හතරේ තේරුම තථාගතයන් වහන්සේ මේ විදිහට පැහැදිලි කරමින් ධර්ම දේශනා කළාම, රජතුමා අතිශයින් සතුටට පත්වෙලා බුදු හිමියන්ට වැඳල මාළිගාවට ගිහින් තියෙනවා.

අටමහා නිරයටත් වඩා තවත් දරුණුම නිරයක් තමයි ලෝකාන්තරික නරකය කියන්නෙ. බොහෝ කොටම මේ ලෝකෙ උපදින්නෙ නියත මිත්‍යා දෘෂ්ටික අය. "මිච්ඡා දිට්ඨිං භික්ඛවේ පරමානි වජ්ජානි" මේ ලෝකයේ යම් පාපයන් තියෙනව නම්, ආනන්තරීය පාප කර්ම ඒ අතරින් බලවත්. **ආනන්තරීය පාපයන්ටත් වඩා බලවත් යම් පාපයක් තියෙනව නම් ඒ තමයි නියත මිත්‍යා දෘෂ්ටිය.**

"මිච්ඡා දිට්ඨී සමාදානා සත්තා ගච්ඡන්ති දුග්ගතිං" මිසදිටු ගත්ත අය ඒ දෘෂ්ටිය අත් නොහැර මරණයට පත් වුනොත් ඒකාන්ත වශයෙන්ම දුගතිගාමී වෙන බවයි බුද්ධ වචනය. බොහෝ කොටම නියත මිත්‍යා දෘෂ්ටිකයන් ලෝකාන්තරික නරකයේ උපදිනවා.

සක්වල තුනක් අතර, ඉර හඳ ආලෝකයවත් වැටෙන්නෙ නැති අපායක් තමයි ලෝකාන්තරික නරකය කියන්නෙ. ලෝක විනාසය සිද්ධ වෙනකොටවත් මේ නිරය වැනසෙන්නෙ නෑ. ලෝකය වැනසෙනකොට සියලු සත්ත්වයන් අනුපිළිවෙලින් තලයෙන් තලය ඉහලට ගිහින් ආභස්සර බඹ ලොව ඉපදෙනවා. නමුත් අටමහ නිරයේ ඉන්න මිත්‍යා දෘෂ්ටික අයට ලෝක විනාසයේදි ධර්මතාවයෙන් ආභස්සර බඹ ලොව ඉපදෙන්න තියෙන අවස්ථාව පවා නැතිවෙලා ඒ අය ලෝකාන්තරික නරකයේ උපදිනවා.

**දන් දීල වැඩක් නෑ, පිං පව්වල විපාක නෑ, මව්පියන් කියල විශේෂ අය නෑ, නැවත භවයක උපතක් නෑ, දෙවියන් බ්‍රහ්මයන් අමනුස්සයන් වගේ ඕපපාතික සත්ත්වයන් නෑ... ආදී වශයෙන් භෞතිකවාදී අදහස් දරාගෙන පංචේන්ද්‍රියන්ට ගෝචර වෙන සීමාව විතරක් පිළිඅරගෙන ඉන්න**

**අයට බොහෝ කොටම අටමහ නිරය, ලෝකාන්තරික නරකය වගේ තැන්වල ඉපදෙන්න හේතු වෙනවා.**

මිච්ඡා දිට්ඨිය කියන්නෙ මහ අඳුරක්. කෙනෙක් දෘෂ්ටිගතික වුනාම ඇත්තක් පේන්නෙ නෑ. අඳුරු මානසිකත්වයෙන් ඉන්න අය අඳුරු තැන්වලම උපදිනවා. ලෝකාන්තරික නිරයට ඉර හඳේ ආලෝකයවත් වැටෙන්නෙ නෑ. ඉර හඳෙන් ආලෝක වෙන්නෙ සක්වල ඇතුල. සක්වල තුනක් අතර පිහිටන ප්‍රදේශය කියන්නෙ සක්වලෙන් පිට. ඒ නිසයි ආලෝකයක් ඒ අපායෙ නැත්තෙ.

සත්ත්වයාගේ කර්ම ශක්තියේ හැටියට තමයි ඒ ඒ උප්පත්ති ලෝක හට ගන්නෙ. මිත්‍යා දෘෂ්ටිය කියන්නෙ ඇත්ත දකින්න බැරි අඳුරක්. දෘෂ්ටි අන්ධකාරයට වැටුනට පස්සෙ ලෞකික ඇත්ත පවා වැටහෙන්නෙ නැතිව යනවා. දෘෂ්ටි අන්ධකාරයේ ඉන්න අයට හේතුඵල අනුව අඳුරු ලෝක සකස් වෙලා ඒවායේ ඉපදෙන්න හේතු හැදෙනවා.

ලෝකාන්තරික නරකයේ අඳුර කොච්චරද කියනව නම්, ඒ ලෝකෙ තවත් නිරි සත්තු ඉන්නවද කියල එකිනෙකා දන්නෙ නෑ. ඒ තරම් ඝන අන්ධකාරයක් තමයි ඒකෙ තියෙන්නෙ. ලොව්තුරා බුදුවරු පහල වෙනකොට ඒ මහා ශාන්තියෙන් ලෝකාන්තරික නරකය පවා ආලෝක වෙන බව සඳහන් වෙනවා. අනිකුත් අපායවල මොහොතකට හෝ ගිනි නිවිල යනවා. එහෙම ආලෝක වෙනකොට තමයි ඒකෙ ඉන්න නිරි සත්තු, තවත් අය මේ නිරයේ ඉන්නව කියල දැනගන්නෙ.

සසර ගමන ගැන, අපායවල් ගැන මේ තරම් බර කරල දේශනා කරල තියෙන්නෙ, මිනිස්සු යහපතට ගන්න, සසරට බිය ඇති වෙන්න කියල කෙනෙකුට හිතෙන්න පුළුවන්. ඒකෙ ඇත්තක් නැතුවා නෙවෙයි. නමුත් **තථාගතයන් වහන්සේ නමක් කියන්නෙ, කෙනෙක් යහපතට ගන්නවත් බොරුවකින් රවට්ටන උත්තමයෙක් නෙවෙයි. දැන දැන බොරුවක් කීම රහතන් වහන්සේ නමක් අතින්වත් සිද්ධ වෙන දෙයක් නෙවෙයි.** මේ සංසාර ස්වභාවය, අපායවල්වල විඳින අප්‍රමාණ දුක් කන්දරාව තථාගතයන් වහන්සේගේ අනාවරණ ඥානයෙන් දැකලමයි සසරින් මිදෙන්න මේවා දේශනා කරල තියෙන්නෙ.

ස. නි. අනමතග්ග දේශනාව කරල තථාගතයන් වහන්සේ මෙහෙමත් වදාරනවා. පටිච්ච සමුප්පාදය දන්න සුතවත් ආර්ය ශ්‍රාවකයෙක් ඇරෙන්න, මේ ලෝකෙ වෙන කිසි කෙනෙක් මේ වගේ දුක් සහිත සසරක් තියෙනවා, අපායවල් තියෙනවා, ඒවායේ මේ මේ විදිහෙ හිතන්න බැරි තරම් දුක් වේදනා තියෙනව කියල විස්වාස කරන්නෙ නෑ.

මේ ඔක්කොම දුක්වල මුල පටන් ගැන්ම බැලුවොත්, පංච කාමයට ලොල් වීම තමයි හේතු වෙලා තියෙන්නෙ. මේ පංච කාමයට ලොල් වීමෙන් විසි පස් ආකාරයක බිය හට ගන්නා බව ධර්මයේ සඳහන් වෙනවා.

**මස් කැටියක් ගත් උකුසකු අහසේ**
**මස් නොදැමුව උකුසන්ගෙන් වැනසේ**
**පස් කම් රස ලොභ කළහොත් එමසේ**
**පස් විසි මහ භයකින් දුක් සැලසේ**

ලෝවැඩ සඟරාවෙ එන මේ කවියේ පංච කාමය උපමා කරල තියෙන්නෙ මස් කැල්ලකට. උකුස්සෙක් මස් කැල්ලක් අරගෙන යනකොට අනික් උකුස්සන් දැක්කොත් ඒක ලබාගන්න අර උකුස්සා පසුපස එළවනවා. යම් විදිහකින් ඒ මස් කැල්ල ගෙනියන උකුස්සා ඒක අත්හැරියෙ නැත්නම්, අනික් උකුස්සන් ඌට කොටල මරණය හෝ මරණය සමාන දුකකට වැටෙනවා.

පංච කාම සම්පත් කියන්නෙත් හරියට මස් කැල්ලක් වගෙයි. මේ පංච කාම සම්පත්තිය තමයි ලොකුම විපත්තිය. සසර යම් තරමක් දුක් කරදර බය තැති ගැනුම් ඇතිවෙනව නම්, ඒ සියල්ලම සිද්ධ වෙන්නෙ පංච කාමයට වහ වැටීම නිසා. කාමයන්ගේ ආදීනව දැකල අත්හැර ගන්න බැරි වුනොත්, විසිපස් ආකාර භයකට සසර සැරිසරන සත්ත්වයාට මුහුණ දෙන්න සිද්ධ වෙනවා. ඉහත ලෝවැඩ සඟරාවේ කවියෙන් කියවෙන්නෙත් ඒ අදහසමයි. ඒ පස්විසි මහ භය සමාජයේ වැඩි දෙනෙක් නොදන්න නිසා පහතින් සඳහන් කරනවා.

1. ජාති භය (ඉපදීම නිසා ඇතිවන බිය)
2. ජරා භය (දිරාපත් වීම නිසා වන බිය)
3. ව්‍යාධි භය (ලෙඩ වීම ගැන ඇතිවන බිය)
4. මරණ භය (මරණය ගැන ඇතිවන බිය)
5. රාජ භය (රජුන්ගෙන් ඇතිවන බිය)
6. චෝර භය (සොර සතුරු බිය)
7. අග්නි භය (ගින්නෙන් ඇතිවන බිය)
8. උදක භය (ජලයෙන් වන බිය. උදා : ජලයේ ගිලීම් ආදියෙන්)
9. අත්තානුවාදී භය (තමා කළ වැරදි නිසා ඇතිවන බිය)
10. පරානුවාදී භය (අන් අය නිසා ඇතිවන බිය)
11. දණ්ඩ භය (දඬුවමට ඇති බිය)
12. දුග්ගති භය (අපා බිය)
13. ඌමි භය (වතුරට බහින අය යට කරන දිය රැලි නිසා ඇතිවන බිය. උදා : සැඩ පහරට ගසා යෑම් ආදිය)
14. කුම්භීල භය (වතුරට බහින අයට කිඹුලන්ගෙන් ඇතිවන බිය)
15. ආවට්ට භය (දිය සුලිවලින් ඇතිවන බිය)
16. සුසුකා භය (සැඩ පරුෂ මසුන්ගෙන් ඇතිවන බිය)
17. ආජීවික භය (ජීවිත පිළිබඳ බිය)
18. අසලෝක භය (අනුන්ගේ නින්දා අපහාස ගැරහීම් නිසා ඇතිවන බිය)
19. පටිසාරජ්ජ භය (ලෝකයට සාරත්වයෙන් බැඳීම නිසා වන බිය)
20. මදන භය (ජීවිත මදය, ජාති මදය, යෞවන මදය... ආදී 27 ආකාර මදයන් නිසා ඇතිවන බිය)
21. භයානක භය (බියකරු දේවල්වලින් ඇතිවන බිය)
22. පරම්භිතත්ත භය (සිත් තැවුල් නිසා ඇතිවන බිය)
23. ලෝමහංස භය (ශරීරයේ ලෝම කෙලින් වෙන දේවල්වලින් ඇතිවන බිය. සමහර බියවීම් ලොමු ඩැහැගන්වන සුළුයි.)
24. උබ්බේග භය (සිතේ ඇතිවන තැති ගැනීම. උදා : අමනුස්ස බය)
25. උත්තාස භය (සිතේ ඇතිවන ත්‍රාසජනක දේ නිසා වන බිය)

**පූජ්‍ය කිවුල්දෙණියේ විජිතනන්ද හිමි**
**නිග්‍රෝධාරාම සේනාසනය,**
**පොල්පිටිය, මැටිකුඹුර, පොල්ගහවෙල.**
**0716839346ඔබස ඉක්එමරලු,මැ ඩැබසි**

# සියවස් ගණනාවකට පෙර සැඟව ගිය නිමල බොදු මග යළි පුබුදුවමින්,

**හෙළ බොදු පියුම දහම් කරුණු ඔබ වෙත රැගෙන එන්නේ, බුදු පියාණන් වහන්සේ අනුදැන වදාළ, අග්ගඤ්ඤ සූත්‍රය, නිරුක්තිපථ සූත්‍රය සහ අරණවිභංග සූත්‍රය යන සූත්‍රාන්තයන්ට අනුව, දහම් පදවල සැඟවුණු දහම් අරුත් මතු කරන පද නිරුක්ති සහ අතීතය, වර්තමානය, අනාගතය හඟවන තුන්කල් නිරුක්ති සහිත ව්‍යවහාර ශබ්ද නිරුක්ති ක්‍රමවේදය අනුව මිස, උන්වහන්සේ අනුමත නොකළ ලිඛිත භාෂා රීති සහිත බමුණන්ගේ ත්‍රිවේද නිරුක්ති මත නොවන බව සලකන්න.**

# අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ලබා දුන් තවත් වටිනා පොදු කමටහන් කිහිපයක්...

### අහං අවේරෝ හෝමි

අහං අවේරෝ හෝමි
අභ්‍යා පජ්ජෝ හෝමි
අනීඝෝ හෝමි
සුඛී අත්තානං පරිහරාමි
සබ්බේ සත්තා අවේරා හොන්තු
අභ්‍යා පජ්ජා හොන්තු
අනීඝා හොන්තු
සුඛී අත්තානං පරිහරන්තු
(සියලු සත්ත්වයෝ නීච සිත් නැත්තෝ වෙත්වා, සුඛිත සිත් ඇත්තෝ වෙත්වා) (7 වරක් කියන්න. මෙත් කමටහනකි)

### පෙණ පිඬුව අසාරයි

පෙණ පිඬුව අසාරයි
රූපයෝ අසාරයි
දිය බුබුල අසාරයි
වේදනා අසාරයි
මිරිඟුව අසාරයි
සංඥා අසාරයි
කෙසෙල් කඳ අසාරයි
සංඛාර අසාරයි
මායාව අසාරයි
විඥ්ඥාණ අසාරයි
ලෝභයෝ අසාරයි
ද්වේශයෝ අසාරයි
මෝහයෝ අසාරයි

නිබ්බාන සාරයි
නිබ්බාන වෙත්වා
නිබ්බාන සාරයි
නිබ්බාන වෙත්වා
නිබ්බාන සාරයි
නිබ්බාන වෙත්වා
සියලු සත්ත්වයෝ
නිබ්බාන පරම සුඛයෙන්
සුඛිත තර වෙත්වා
සාධු සාධු සාධු

### රූප නිස්සාරයි

රූප නිස්සාරයි
රූප අතහරිමි
වේදනා නිස්සාරයි
වේදනා අතහරිමි
සඤ්ඤා නිස්සාරයි
සඤ්ඤා අතහරිමි
සංඛාර නිස්සාරයි
සංඛාර අතහරිමි
විඤ්ඤාණ නිස්සාරයි
විඤ්ඤාණ අතහරිමි

විඤ්ඤාණ නිස්සාරයි
විඤ්ඤාණ අතහරිමි
සංඛාර නිස්සාරයි
සංඛාර අතහරිමි
සඤ්ඤා නිස්සාරයි
සඤ්ඤා අතහරිමි
වේදනා නිස්සාරයි
වේදනා අතහරිමි
රූප නිස්සාරයි
රූප අතහරිමි

රූප නිස්සාරයි
රූපයෙහි නොඇලෙමි
වේදනා නිස්සාරයි
වේදනාවෙහි නොඇලෙමි
සඤ්ඤා නිස්සාරයි
සඤ්ඤාවෙහිනොඇලෙමි
සංඛාර නිස්සාරයි
සංඛාරයෙහි නොඇලෙමි
විඤ්ඤාණ නිස්සාරයි
විඤ්ඤාණයෙහි නොඇලෙමි

විඤ්ඤාණ නිස්සාරයි
විඤ්ඤාණයෙහි නොඇලෙමි
සංඛාර නිස්සාරයි
සංඛාරයෙහි නොඇලෙමි
සඤ්ඤා නිස්සාරයි
සඤ්ඤාවෙහි නොඇලෙමි
වේදනා නිස්සාරයි
වේදනාවෙහි නොඇලෙමි
රූප නිස්සාරයි
රූපයෙහි නොඇලෙමි

රූප නිස්සාරයි
රූපයෙන් මිදෙමි
වේදනා නිස්සාරයි
වේදනාවෙන් මිදෙමි
සඤ්ඤා නිස්සාරයි
සඤ්ඤාවෙන් මිදෙමි
සංඛාර නිස්සාරයි
සංඛාරයෙන් මිදෙමි
විඤ්ඤාණ නිස්සාරයි
විඤ්ඤාණයෙන් මිදෙමි

විඤ්ඤාණ නිස්සාරයි විඤ්ඤාණයෙන් මිදෙමි
සංඛාර නිස්සාරයි සංඛාරයෙන් මිදෙමි
සඤ්ඤා නිස්සාරයි සඤ්ඤාවෙන් මිදෙමි
වේදනා නිස්සාරයි වේදනාවෙන් මිදෙමි
රූප නිස්සාරයි රූපයෙන් මිදෙමි

### 2013.04.14 දින සිංහල අලුත් අවුරුද්ද දවසෙ “නව වසරට මගෙන්” යනුවෙන් අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේට නැඟුනු කමටහන් කවියක්...

| | |
|---|---|
| මා සිත කුරිරු | නැත |
| තරහ සිත් කිසි මට | නැත |
| සසර හැටි මෙය | වෙත |
| නැවත ඇසුරට හිතක් මට | නැත |

### විශේෂ පැහැදිලි කිරීමයි :

සප්ත සූර්ය ආලෝකයෙන්... ආදී වශයෙන් පසුගිය කලාපයෙන් ඉදිරිපත් කළ කමටහන ගැන කෙරෙන කෙටි දැනුවත් කිරීමක් තමයි මේ. මේ කමටහන බලවත් කමටහනක් නිසා වඩනකොට සාමාන්‍ය අයට දරාගන්න බැරිවෙන්න පුළුවන්. විස බන්ධන ආදිය කැපුනත්, සමහරවිට ගිනි ගන්න මට්ටමට ඇඟ රත් වෙන්න පුළුවන්. ඒ නිසා තේරුම් බේරුම් අරගෙන වඩන්න ඕන කර්මස්ථානයක්. විශේෂයෙන් රාග, ද්වේශ, මෝහවලින් පිරිච්ච ගිහි ගෙවල්වල, ප්‍රශ්න කරදර තියෙන ස්ථානවල වැඩීමෙන් ඒ ප්‍රශ්න කරදර ඇවිස්සෙන්න පුළුවන්. ඒ නිසා තමන්ට ගැලපෙනව නම් විතරක්, එක පාරටම සෑහෙන වෙලාවක් එක දිගටම වඩන්නෙත් නැතිව ක්‍රමානුකූලව වඩන්න ඕන. මේ කියන ඇවිස්සෙන ස්වභාවය නිසාම මේ කර්මස්ථානය වැඩීමෙන් පසුව ආර්ය මෛත්‍රී කර්මස්ථානයකුත් වඩන්න පුළුවන් නම් වඩා හොඳයි.

ඒ වගේම විශේෂයෙන් කාන්තා පක්ෂයේ උදවිය මේ කමටහන වඩනකොට සමහරවිට ශරීරය රත්වෙන, පිච්චෙන ස්වභාවයක්, දරාගන්න බැරි මට්ටමක් එන්න පුළුවන් නිසා “සප්ත සූර්ය” කියන කොටස වෙනුවට සෞම්‍ය වෙන්න “චන්ද්‍රාලෝකයෙන්” කියන කොටස යොදාගෙන වැඩිය යුතු බවටත් අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ උපදෙස් දීල තියෙනවා.

ඒ ඒ කර්මස්ථානවල ස්වභාවය අනුව, ඒ ඒ පුද්ගලයන්ගේ ස්වභාවය අනුව, සමහර කර්මස්ථාන පෝය දවසෙ සිල් සමාදන් වෙලා පූජනීය ස්ථානවලදි විතරක් වඩන්නත්, සමහර කර්මස්ථාන පැවිදි උතුමන්ටත්, සමහර ඒවා අනාගාමී උතුමන්ටත්, සමහර ඒවා අරිහත් මාර්ගස්ථ උතුමන්ටත්, සමහර කර්මස්ථාන ගිහි පින්වතුන්ටත් වශයෙන් විශේෂයෙන් දක්වපු අවස්ථාත් තියෙනවා. එහෙම විශේෂයෙන් සඳහන් නොකරපු, ඕනම කෙනෙකුට ගැටළුවක් නැතිව වඩන්න පුළුවන්, නිවන් දකින්න තියෙන පොදු කර්මස්ථානත් තියෙනවා. ඒ අනුව තමන්ට සුදුසු නම්, දරා ගන්න පුළුවන් නම් ඒ කර්මස්ථාන තෝරා බේරාගෙන වඩන්න පින්වතුන් දැනුවත් වෙන්න ඕන.

   

# සමාධිමය අත් බෙහෙත්...

වහරක අභයරතනාලංකාර මහ තෙරුන් වහන්සේ විසින් ගිලාන ප්‍රත්‍ය කටයුත්තක් වශයෙන් සළකා ලෝක සත්ත්වයා කෙරෙහි දයානුකම්පාවෙන් මතු කරන ලද තවත් ප්‍රත්‍යක්ෂ වටිනා සමාධිමය අත් බෙහෙත් කිහිපයක් පින්වත් ඔබගේ ප්‍රයෝජනය පිණිස මෙවරත් සටහන් කරනවා. මේ හැම අමු ද්‍රව්‍යයක්ම සඳහන් කරල තියෙන්නෙ යම් කිසි අනුපාතයකින් නිසා, ඒ අනුපාතයම එන විදිහට අමුද්‍රව්‍ය ප්‍රමාණයන් අවශ්‍ය පරිදි අඩු වැඩි කරල ගන්න පුළුවන්. ඒ වගේම මීට පෙරත් සඳහන් කළා වගේ මේ සියලු බේත් ඒ ඒ පුද්ගලයින්ගේ කර්ම ශක්තීන්ට යටත්ව ප්‍රත්‍ය වෙන බවත් සළකන්න.

## උගුර, කට, බඩ, හම වේළෙන ආබාධ සුව වීම සඳහා

වියළි එළකටරොඩු මල්, වියළි නිල් මානෙල් මල්, වියළි පෙති පුවක් ග්‍රෑම් 200 බැගින්, සහිඳ ලුණු ග්‍රෑම් 50 යි. (වියළි පෙති පුවක් බෙහෙත් බඩු වෙළඳසැල්වලින් මිලදී ගන්න පුළුවන්. එහෙම නැත්නම් මෝරපු හෝ ළපටි පුවක් නැතිව ඒ අතරමැදි අවස්ථාවෙ තියෙන පුවක් මද අරගෙන පෙති ගහල අව්වේ හොඳින් වේළගන්න.)

මේවා සියල්ල දිය තිප්පිලි ඉස්මෙන් අඹරගෙන කෝපි ගෙඩි පමණට ගුලි කරගෙන වේළල තියාගෙන උදේ, රාත්‍රී ආහාරයට පසු ගුලි 1 බැගින් මාස 1 1/2 ක් ගන්න.

## තැලීම්, පිපිරීම් සුව වීම් සඳහා

කුඹුරු ඇට මද වේළල සියුම්ව කුඩු කරගෙන, වතුර නොදා දෙහි ඇඹුලෙන් අනාගෙන ශරීරයේ අස්ථි තැලුන, පිපිරුන තැන්වල ආලේප කරන්න. පැය 12 ක් තියල උණු වතුරින් පිහදාන්න. දින 15 ක් කරන්න. ඒ කාලය තුල ඇල් වතුර නෑම හෝ බීමට ගැනීම සුදුසු නෑ. උණු වතුර නිවාගෙන පානය කරන්න. නෑමට අවශ්‍ය නම් උණු වතුර නිවාගෙන දවල් 12 ට පෙර නාන්න. මේ බේත පාවිච්චියෙන් උකුල් ඇට, උරපතු ඇට, ඉල ඇට, හිස් කබල... ආදී තැන්වල තැලීම්, පිපිරීම් සුව වෙනවා. (කුඹුරු ඇට මද කුඩු කරගත්තම අවුරුද්දක් කල් තියාගන්න පුළුවන්.)

## අජීර්ණ සමනයට

පොල් කුඩු පුච්චා ගත් අළු ග්‍රෑම් 50යි, වේළිච්ච නෙල්ලි ගෙඩි පිටින් කුඩු කරගෙන කිලෝ 1 යි, හීන් උඳුපියලි කිලෝ 2 ක ඉස්ම (කිලෝ 1 කට වතුර මිලිලීටර් 400 ක් පමණ දාන්න)

මේ සියල්ලම අඹරගෙන කෝපි ගෙඩි පමණට ගුලි කරගෙන වේළල තියාගෙන රාත්‍රී ආහාරයට පසු ගුලි 1 බැගින් මාසයක් ගන්න. කල් ගිය අජීර්ණ, පපුවේ සෙම් ආබාධ, ගුල්ම වාත (පණු අමාරු, පාණ්ඩුව...), හතිය, මහන්සිය දුරු වෙනවා. ආහාර හොඳින් දිරවනවා.

## ඉන්ද්‍රිය දුර්වලතාවයන් සඳහා

තැඹිලි කහකඩ කිලෝ 5 යි, අමු නුග පොතු කිලෝ 7 1/2 ක් කොටා මිරිකගත් ඉස්ම (වතුර බෝතල් දෙකයි තුන් කාලක් පමණ දමන්න), පිරිසිදු එළගි තෙල් බෝතල් 5 යි, අමු මී මල් කිලෝ 5 ක් හෝ රසකිඳ පිටි කිලෝ 5 ක්.

මේ සියල්ලම එකට අඹරගෙන කෝපි ගෙඩි පමණට ගුලි කරල වේළල තියාගෙන උදේ, දවල්, රාත්‍රී ආහාරයට පෙර ගුලි 1 බැගින් මාස 3 ක් ගන්න. මේ මගින් ඉන්ද්‍රිය දුර්වලතාවයන් දුරු වෙනවා. ශරීරයේ අප්‍රාණික ගතිය, ඇඟ වෙව්ලීම දුරු වෙනවා. ඇස් පෙනීම, කන් ඇසීම වර්ධනය වෙනවා.

සටහන
**නිතිඥ චන්දන සිරිවර්ධන**




හෙළ බස නොදත් පිංවතුන් සඳහා වෙන්කළ අතිරේක පිටු 4 කි.

# Deeds & results (karma & vipäka)

**07** *OUR JOURNEY IN SANSÃRA...*

Throughout this series we have been examining the doctrine of deeds and results in detail. A brief review of the key points is as follows.

We started off with a study of the classification of deeds & results; primarily threefold, the most commonly practiced wholesome deeds (පුණ්‍යාභිසංඛාර) and unwholesome deeds (අපුණ්‍යාභිසංඛාර) and those deeds which are performed by those who cultivate jhänas (deep meditative states of mental absorptions) pertaining to the formless brahma realm of existence (අරූපාවචර බ්‍රහ්ම ලෝක).

For as long as a sentient being's consciousness is based in the intrinsic condition of ignorance (අවිද්‍යාව), all deeds based in attachment (තණ්හාව) are conducive to rebirth in one of the 31 realms of existence. Wholesome and unwholesome deeds are so called because of their intended effect on either oneself, others or both as well as the potential consequences of the deed. Wholesome deeds accrue merit (පිං) and unwholesome deeds, demerit (පව්), which have the potential to bring forth results (විපාක) in the form of rebirth in the blissful or woeful plane respectively, as well as comfort or discomfort in the course of one's lifetime.

In the subsequent articles of the series we looked at each of the ten wholesome deeds and unwholesome deeds detailing them beyond the conventional, superficial meanings where appropriate. The Budhdha proactively advocated performing wholesome deeds on numerous occasions promoting their benefits in the present and after-life as well as their conduciveness to Nibbäna. This was followed by individual descriptions of the unwholesome deeds performed primarily by the mind and speech. In this article we will continue the discussion of the unwholesome deeds by looking at the first two unmeritorious deeds performed primarily by the body. We have dedicated an entire article to these two as unfortunately the frequency with which they are committed is on the rise in today's world and therefore we feel our readers deserve a thorough understanding to abstain from them as much as possible.

**Killing (pänäthipäthä)**

Taking the life of another being including humans and non-humans by whichever means is a sin. Given the opportunity, the deliberate action of killing another being born as human or animal is something we can physically witness as this requires bodily action. Life is invariably the most valuable possession to all worldly sentient beings. Therefore, they will generally protect life at all costs and when life is threatened, if possible, the natural reaction is to retaliate with either fight or flight.

As there is a physical action involved in committing the act of killing rendering a visible impact on the victim, there is normally a perceivable visible or audible impact on an observer. As we ourselves are protective of our own lives and have generally experienced physical pain of some sort, thankfully, most humans are naturally able to empathise with beings who experience death or suffering similar to death. However, this feeling of compassion does not always serve as a deterrent to this sin; when people are suitably motivated, taking the life of another requires little premeditation.

Intentional killing of any life form is a sin. For a deed-course (we have discussed "deed-courses" in previous articles) to be completed, the following factors must be present or fulfilled. Presence of a live being, knowledge that the being is alive, intention to kill, scheme to kill, death of the being as a result of executing the scheme. Depending on the virtuous quality of the being whose life is taken and the intensity of the volitional thoughts involved in committing the deed, the potential karmic energy is determined. Generally the average man or woman commits the sin of killing many hundreds if not thousands of times throughout their lifetime. This is because until one begins to understand that intentional killing of any kind is wrong and has consequences, one usually does not think twice before swatting flies, mosquitoes, cockroaches and other insects as well as small animals such as frogs or reptiles which threaten one's feeling of safety at home or other environment. Demerit is accrued each time.

Referring back to the example discussed in the previous article as put forward by one of our readers in relation to insects being killed or hurt when sweeping the Bodhi precinct, we explained that it would be unwise to be put off of performing a hugely meritorious deed for fear of harming insects. This is because tiny insects are lowly life forms with little to no virtue ingrained

